දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය

# බුද්ධ ධර්මය හා පාලි භාෂා පරිචය

ප්‍රකාශනය

බෞද්ධ කටයුතු දෙපාර්තමේන්තුව

2011

| | | |
|---|---|---|
| පළමු වන මුද්‍රණය | - | 1991 |
| දෙ වන මුද්‍රණය | - | 1999 |
| තෙ වන මුද්‍රණය | - | 2000 |
| සිව් වන මුද්‍රණය | - | 2001 |
| පස් වන මුද්‍රණය | - | 2002 |
| සය වන මුද්‍රණය | - | 2003 |
| සත් වන මුද්‍රණය | - | 2004 |
| අට වන මුද්‍රණය | - | 2005 |
| නව වන මුද්‍රණය | - | 2006 |
| දස වන මුද්‍රණය | - | 2007 |
| එකොළොස් වන මුද්‍රණය | - | 2009 |
| දොළොස් වන මුද්‍රණය | - | 2009 |
| දහතුන් වන මුද්‍රණය | - | 2010 |



සැපු පිටපත් කිරීම සහ මුද්‍රණය:
රජයේ මුද්‍රණ නීතිගත සංස්ථාව
පානළුව, පාදුක්ක.

උපදේශක සංස්කාරක

**මහෝපාධ්‍යාය පූජ්‍ය පණ්ඩිත ආචාර්ය පරවාහැර**
**පඤ්ඤානන්ද නායක ස්වාමීන්වහන්සේ**
බස්නාහිර පළාතේ ප්‍රධාන සංඝනායක සහ
රුහුණු සරසවිය කුලපති

ලේඛක

**පූජ්‍ය ආචාර්ය යටගම ධම්මපාල නායක ස්වාමීන්වහන්සේ**
(පණ්ඩිත, එම්.ඒ., පී.එච්.ඩී.)
පේරාදෙණිය විශ්වවිද්‍යාලයේ ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය සහ
බලගල්ල සරස්වතී පිරිවෙනේ පරිවේණාධිපති

# පටුන

## I කොටස



## II කොටස

## III කොටස



---

# I වන කොටස

# 1 වන පරිච්ඡේදය

## පටිච්ච සමුප්පාදය

බුද්ධ ධර්මයේ මූලික ඉගැන්වීම් අතර පටිච්ච සමුප්පාද ධර්මයට ප්‍රධාන තැනක් හිමි වෙයි. බෞද්ධ සාහිත්‍යාගත සිද්ධීන් කීපයකින්ම ඒ බව සනාථ කළ හැකිය. බුදුරජාණන් වහන්සේ ක්ලේශ ප්‍රහාණයෙන් සම්මා සම්බුද්ධ බවට පැමිණ බෝරුක් මුල සතියක් වැඩ සිඳ සත්වැනි දින රෑ තුන්යමට පටිච්ච සමුප්පාදය අනුලෝම පටිලෝම වශයෙන් මෙනෙහි කළ සේක. අගසවු සැරියුත් මුගලන් දෙනම අස්සජි රහතන් වහන්සේගෙන් ප්‍රථමයෙන්ම ඇසූ ධර්මය පටිච්ච සමුප්පාදය හෙවත් හේතුඵල සිද්ධාන්තය මුල් කොට ගත්තකි. මේ අවස්ථා දෙකම මහාවග්ගපාලි විනය ග්‍රන්ථයෙහි දී හමු වේ. සත්ත්වයා සසර සැරි සරන්නේ මේ ධර්ම කොට්ඨාශය නොදනීමෙන් අවුලෙන් අවුලට වැටීම නිසා බව දීඝනිකායේ මහානිදාන සූත්‍රයේ ප්‍රකාශ වේ.

පටිච්චසමුප්පාද යන පදයෙහි අර්ථය නම් යම්කිසි ධර්මයක් නිසා තවත් ධර්මයක් ඇති වීමයි. විශ්වයත්, එහි විද්‍යමාන සියලු දේත් ඇති වන්නේ යම් කිසිවක් නිසාය ; යමක් ඇසුරු කොටගෙනය ; යමක් හේතු කොට ගෙනය. සමකාලීන ආගමික සිද්ධාන්තයන්හි සත්ත්වයාගේ හා ලෝකයේ ඇතිවීම පිළිබඳව විවිධ මිථ්‍යා මත පැවතිණ. ඒවා අතර මහා බ්‍රහ්මයා හෝ වෙනත් ඊශ්වරයෙකු විසින් මවනු ලැබූ බව (ඉස්සරනිම්මාණහේතු) ප්‍රධාන අදහසකි. මේ අනුව සත්ත්වයාගේ උපත හා මරණයත්, දුක සැප ආදියත්, ඉර හඳ අව්ව වැස්ස ආදී වශයෙන් බාහිර ලෝකයෙහි පැනෙන ස්වාභාවික වස්තූන්ගේ ක්‍රියාකාරිත්වයත් සිදු වන්නේ දිව්‍ය බ්‍රහ්ම ආදී යම්කිසි ඊශ්වර යෙකුගේ මැවීමක් නිසා බව අදහස් කරන ලදී.

නිර්මාණ වාදය නොපිළිගත් ඇතැමෙක් පෙර ආත්ම භාවයන්හි දී කරන ලද කුශලා'කුශල කර්මයන් හේතු කොට ගෙන ම සත්ත්වයාගේ උපත, මරණය, දුක සැප විඳීම ආදිය සිදු වන බව (පුබ්බේකතහේතු) කීහ. මේ අතර තවෙකෙක් සත්ත්වයා උපදින්නේ හෝ මැරෙන්නේ කිසිදු හේතුවක් නිසා නොව අහම්බෙන්ය (අධිච්ච සමුප්පන්න) යි ප්‍රකාශ කළහ. එයම විකාශනය කෙරෙමින් නියති වාදයක් දරූ අය නියමිත කාලයක් තුළ උපත හා මරණය සිදු වෙමින්, දුක සැප ඇති වෙමින් ගොස් සසර ගමන කෙළවර වන (නියති සංගති භාව හේතු) බව ඉගැන්වූහ. වඩාත් ගැඹුරින් ලෝකය හා සත්ත්වයා පිළිබඳව සිතූ උපනිෂද් චින්තකයෝ වෙනස් නොවන ආත්ම සංකල්පයක් වෙත නැඹුරු වෙමින් ශාශ්වත වාදයකට බැස ගත්හ. එහි විරුද්ධ පැත්ත දෙස බැලූ තවත් කෙනෙක් මරණින් මතු නැවත උපතක් නැත, මෙලොවක් – පරලොවක් නැත, යනුවෙන් උච්ඡේද වාදයක් ඉදිරිපත් කළහ.

බුදුරජාණන් වහන්සේ එදා ලොව පැවති මේ සියලු ඉගැන්වීම් පිළිබඳව අවබෝධයක් ලබා ගෙන ඒ කිසිවක් සත්‍යය නොවන බව පෙන්වා දුන් සේක. සියලු ඉගැන්වීම්වල ඇති අන්තගාමී ලක්ෂණ පැහැදිලි කොට පටිච්චසමුප්පාදය හෙවත් හේතු-ඵල ධර්මතාව ලොව සඳහටම පවත්නා සත්‍යය බව දේශනා කළහ. මෙහිදී සියලු දෙයකම ඇති පටිච්ච සමුපන්න බව පොදු සූත්‍ර ශෛලියකින් හෙවත් කෙටි ක්‍රමයකින් හඳුන්වා දීම නිදාන සංයුක්තයේ අනුගමනය කරන ලද ක්‍රමය වේ.

''අස්මිං සති ඉදං හෝති'' මෙය ඇති කල්හි මෙය ඇති වේ.

''ඉමස්ස උප්පාද ඉදං උප්පජ්ජති'' මෙය ඉපදීමෙන් මෙය උපදී. හුදු තනි දෙයක (ධර්මයක) පැවැත්මක් බුදුදහම නො පිළිගනී. කවර ආකාරයකින් හෝ එකිනෙකට සම්බන්ධ වූ ධර්ම දෙකක්, සාපේක්ෂක වූ දේවල් දෙකක් හෝ අවස්ථා දෙකක් ''මේ'' යන සර්වනාම පදයෙන් දක්ක හැකිය. විද්‍යාමාන දෙයක යථා ස්වභාවය එයින් නිරූපනය කෙරෙන අතර එහි නැති බව (නිරෝධය) ද ඒ ආකාරයෙන් ම දක්වා තිබේ.

''ඉමස්මිං අසති ඉදං න හොති'' මෙය නැති විට මෙය නොමැත.

''ඉමස්ස නිරෝධා ඉදං නිරුජ්ඣති'' මෙය නැවැත්මෙන් මෙය නවතී. සත්ත්ව පුද්ගල ද්‍රව්‍ය ප්‍රඥප්තිවලින් වියුක්ත වූ විවරණ ශෛලියකින් පටිච්චසමුප්පාදය අවබෝධ කර ගැනීම සාමාන්‍ය පුද්ගලයාට පහසු නොවේ. ද්‍රව්‍යයක් හා සංයුක්ත කොට ගෙන හේතුඵල සිද්ධාන්තය විමසා බලන කල්හි

''බීජය ඇති කල්හි පැලය ඇති වේ.''

''බීජය නැති නම් පැලයක් ඇති නොවේ.''

යනුවෙන් සරල නිදසුනක් මගින් තේරුම් ගැනීම වඩා පහසුය.

බුද්ධ ධර්මය විවිධ උපමා රූපක යොදා ගනිමින් උත්සාහ දරන්නේ දුක පිළිබඳව යථාවබෝධයක් ඇති කිරීම සඳහාය. මෙය සමාජගත දුකය, චිත්තසන්තානගත දුකයයි අවස්ථා දෙකකින් පැහැදිලි කළ හැකිය. සමාජ ගත දුක ඇති වන්නේ බාහිර හේතු ප්‍රත්‍ය සමවායයෙනි. චක්කවත්තිසීහනාද සූත්‍රයේ දී සක්විතිවත් හෙවත් රාජ ධර්ම නොපුරන, දිළින්දට නිසි පරිදි ධනය ලබා ගැනීමට මාර්ග සකස් නොකරන, පාලකයන් නිසා සමාජය තුළ අසහනය ඇති වන ආකාරය පෙන්වා දී ඇත. තෘෂ්ණාව මුල් කොට ගත් වේදනාව හා සමඟ වෙනත් හේතු රාශියක සමවායයෙන් කලි – කලහ, විග්‍රහ, විවාද ආදී අනේක අකුශල ධර්ම මිනිස් සමාජය තුළ හට ගන්නා හැටි මහා නිදාන සූත්‍රය විවරණය කරයි.

බුදු දහමෙහි ප්‍රධාන අධ්‍යාශය මනුෂ්‍ය චිත්ත සන්තානයෙහි දුක ඇති වීම හා එය නැවැත්වීම විග්‍රහ කොට දැක්වීමයි. අනුලෝම පටිලෝම වශයෙන් එය විශ්ලේෂණය කිරීමේදී අවිද්‍යාවෙන් ආරම්භ වන සමස්ත දුක්ඛ සමූහයාගේ සම්භවය හා නිරෝධය එයට අන්තර්ගත කොට දැක්වේ. එකී හේතු - ප්‍රත්‍ය ධර්ම මාලාවෙහි ප්‍රධාන අංග දෙළසකි: **අවිජ්ජා, සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ඵස්ස, වේදනා, තණ්හා, උපාදාන, භව, ජාති, ජරා-මරණ** යනුවෙනි. මිනිසා ජරා-මරණයන්ට ගොදුරු වන්නේ කුමක් හෙයින් ද? යන ප්‍රශ්නය බෝසත්තුමාට ඇති වූයේ සිදුහත් කුමාර අවධියේ සතර පෙරනිමිති දැකීමෙනි. දම්වැලක පුරුක් මෙන් දිගින් දිගට සම්බන්ධ කෙරෙන හේතු ඵල මාලාවක ඇත කෙළවරේ අවිද්‍යාව හෙවත් නොදැනීම දක්නට ඇත. මෙහි සඳහන් අංග දෙළසෙහි අවිද්‍යාව මුලට දැක්වූවද එය ම මූල කාරණය වශයෙන් නො ගැනේ. හේතු මාලාව චක්‍රයක් මෙන් ගමන් කරන හෙයිනි. අවබෝධයේ පහසුව තකා අවිද්‍යාවෙන් ආරම්භ ව ජරා මරණයන්ගෙන් අවසන් වන ආකාරයෙන් දක්වා තිබේ.

පටිච්ච සමුප්පාද ක්‍රමය අවබෝධ කර ගැනීමෙන් බුදු දහමේ ප්‍රධාන පරමාර්ථය වන දුක පිළිබඳ යථාවබෝධය ලබා ගත හැකිය. සංසාරික ගමන නැවැත්වීම හෙවත් පුනර්භවය නැති කිරීම බෞද්ධ පරමාර්ථයයි. මිනිසා සසර සැරිසරන්නේ හෙවත් පුනර්භවයක් ලබන්නේ කවර හේතුවක් නිසා ද? යන පැණයට පිළිතුර මේ අංග දෙළසකින් යුත් ප්‍රතීත්‍ය සමුප්පන්න ධර්ම විග්‍රහය තුළින් සාක්ෂාත් කර ගත හැකිය. අවිද්‍යාව හෙවත් නොදැනීම එක් හේතුවකි. (අවිද්‍යාව සඳහාද තවත් හේතු තිබේ.) නොදැනීම නිසා කුසලා කුසල කර්ම රැස් කරයි. එනම් අවිද්‍යාව නිසා **සංස්කාර** හට ගැනීමයි. **විඥානය** මවු කුසට බැස ගන්නේත් සංස්කාරයන් නිසාය. විඥානය නිසා **නාමරූප** පහළ වේ. නාමරූපයන් හේතු කොට ගෙන චක්ඛු, සෝත, ඝාණ, ජිව්හා, කාය, මන යන **ආයතන** සය හට ගනී. **ස්පර්ශය** ඇති වන්නේ එකී ආයතන මගිනි. ස්පර්ශය නිසා **වේදනාව** ඇති වේ. **තණ්හාව** හට ගන්නේ වේදනාව මුල් කොට ගෙනය. ඒ තණ්හාව නිසා කාමාදී අරමුණු හාත්පසින් අල්වා ගනු ලැබේ. **උපාදාන** යනුවෙන් හැඳින්වෙන්නේ ඒ අල්වා ගැනීමයි. **භවය** ඇති වන්නේ එයිනි. භවය නිසා **ජාති** (හටගැනීම) ද ජාතිය නිසා **ජරාමරණ** ආදිය ද හට ගනී. මේ සමස්ත දුක්ඛ සමූහයාගේ සම්භවයයි.

මේ ආකාරයෙන් දෙළොස් වැදෑරුම් අංග රෝදයක අර හෙවත් ගරාදි මෙන් එකක් අනෙකට සම්බන්ධව පැවැත්ම සංසාරය හෙවත් භවය නමින් හැඳින් වේ. පටිච්ච සමුප්පන්න ධර්මයන් යථා ස්වරූපයෙන් දැන හඳුනා අවබෝධ කර ගැනීම භව චක්‍රයේ සිඳ දැමීම සඳහා හේතු වේ. තණ්හාව සංසාර චක්‍රයේ ප්‍රධාන අංගයක් හෙයින් එය යථා ස්වභාවයෙන් අවබෝධ කර ගැනීම චක්‍රය සිඳ දැමීමකි. තෘෂ්ණාව ගෙවල් සාදන වඩුවෙකු නම් ඔහු සෑදූ ගෙයි සිටම එයට ගත් උපකරණ සියල්ල දැන, දැක විනාශ

කිරීමෙන් නැවත ගෙයක් ගොඩ නැඟීම නොකළ හැකි සේ නාමරූප ධර්මයන් ඇසුරු කොට ගෙනම තෘෂ්ණාව සිඳ දැමීම තණ්හක්ඛය හෙවත් නිවන් දැකීම ලෙසින් දක්විය හැකිය. තෘෂ්ණාව නමැති අරය හෙවත් ගරාදිය විනාශ කළ බව දැක ඒ අනුසාරයෙන් සෙසු අංගයන්ගේ සිඳීයාමත් සසර ගමන නැවතීමක් නුවණැසින් දැකීම පටිච්ච සමුප්පාදය පටිලෝම වශයෙන් මෙනෙහි කිරීම යනුවෙන් හඳුන්වා දිය හැකිය.

## 2. පරිච්ඡේදය

## චතුරාර්ය සත්‍යය

ලෝකය දුකින් පිරී ඇත. සැපය වශයෙන් තාවකාලිකව ලබන තෘප්තියේ අවසානය දීර්ඝකාලීන දුකකි. දුක්ඛ සංකල්පය වනාහී ලෝකයේ පරම සත්‍යය වේ. එය වටා ගොඩ නැඟුණු ප්‍රධාන අංශ 4 ක් චතුස් සත්‍යය වශයෙන් නම් කර ඇත. පාරමාර්ථික වශයෙන් එහි නිරවද්‍යතාව අරමුණු කොට ගෙන ආර්‍ය යන උප පදයකින් යුක්තව චතුරාර්ය සත්‍යය යන නාමය සෑදී තිබේ. බෝධි මූලයේදී නිරවශේෂව අවබෝධ කොට ගත් සත්‍යය පිළිබඳ ධර්මය ප්‍රථම කොට හමු වනුයේ බරණැස ඉසිපතනයේ දී පස්වග මහණුන්ට දේශනා කරන ලද ධම්මචක්කප්පවත්තන සූත්‍රයෙනි.

ආර්‍ය සත්‍යය ප්‍රභේද වශයෙන් කොටස් 4 කට බෙද විග්‍රහ කරනුයේ මෙසේ ය :-

(1) දුක (දුක්ඛ)

(2) දුක හට ගැනීම (දුක්ඛ සමුදය)

(3) දුක නැති කිරීම (දුක්ඛ නිරොධ)

(4) දුක නැති කරන මග (දුක්ඛ නිරෝධ ගාමිනී පටිපදා)

යනුවෙනි.

## (1.) පළමුවැනි ආර්‍ය්‍ය සත්‍යය - දුක

කායික හෝ මානසික වූ අයහපත් වේදනාව දුක යනුවෙන් හැඳින්වේ. අතෘප්තිකර ස්වභාවය, අසහනකාරී බව ආදිය ද එයින් නිරූපණය වේ. මෙහි විරුද්ධාර්ථවත් පදය සැපය යි. තෘප්තිය, සහනය ආදී අර්ථයන් ද එයින් අදහස් කෙරේ. මිනිසා සාමාන්‍ය ජීවිතයේ දී සැපයක් ලබයි. ගිහි සුඛය - පබ්බජිත සුඛය, කාම සුඛය - නෙක්ඛම්මසුඛය, කායික සුඛය - මානසික සුඛය ආදී වශයෙන් ප්‍රභේදවත්ව දක්නට ලැබෙන්නේ ඒවාය. එහෙත් ඒ සියල්ලක් තාවකාලිකය. ඉතා සුළු මොහොතක දී ඉන් ලැබෙන සැපය ඇතැම් විට පෙර පැවති පමණටත් වඩා දරුණු දුකකට පරිවර්තනය විය හැකිය. කුවාලයක් සෑදී ඇති පුද්ගලයා එය කැසීමෙන් මොහොතකට වේදනාව අමතක කර සුවයක් ලබයි. එහෙත් සුළු වේලාවකින් ඒ කැසීම නිසා වණයෙන් ලේ වැගිරෙන්නට වෙයි. එවිට මුලින් පැවති පමණටත් වඩා දුක් වේදනා ඇති වෙයි. අප ලබන සුවය ද එබඳුය. ලෞකික ජීවිතයේ දී කාමයන් නිසා ලබන සුවය තාවකාලික අල්පාශ්වාද සහිත බව දක්වීම සඳහා මස් ලේ නැති ඇට කැබැල්ලකට, සිහිනයකට හෝ පිරුළට ගත් ඇඳුමකට උපමා කොට ඇත. බුදු දහම ජීවිතයේ යථාර්ථය අවබෝධ කර ගැනීමේ අවශ්‍යතාව අවධාරණය කරනුයේ එමගින් කාමාදී තණ්හාවන් නිසා ලැබෙනුයේ තාවකාලික සුවයක් පමණක් බව දැන ඒවා බැහැර කිරීම සනාතනික සුවය වන හෙයිනි.

ජාතිය දුකකි, ජරාව දුකකි, ව්‍යාධිය දුකකි, මරණය දුකකි, අප්‍රියයන් හා එක්වන්නට වීම දුකකි, ප්‍රියයන්ගෙන් වෙන් වීම දුකකි, සිතූ පැතූ දේ නොලැබීම දුකකි, මොහොතකදී අමතකව ගියත්, මේ සියල්ල සමාජයේ සැම කෙනෙකුන් විසින්ම මුහුණ දිය යුතු සැම මොහොතක දී දැන හඳුනා ගන්නා දුකය. එහෙයින් ඒවා සාමාන්‍ය දුක (දුක්ඛ) නමින් හඳුන්වා දිය හැකිය.

පුද්ගලයා හා සම්බන්ධ ආධ්‍යාත්මික වූ ද, බාහිර වූ ද සියල්ලක් මොහොතින් මොහොත පවත්නා තත්ත්වයෙන් වෙනස් වී යයි. ළමා විය, ගැටවර විය, හෝ තරුණ විය ආදිය අප කොතෙක් උත්සාහ කළ ද ඒකාකාරීව නොපවතී. කෙමෙන් කෙමෙන් දිරීමේ ස්වභාවයට යයි. නිරෝගී පුද්ගලයා මොහොතක දී ලෙඩෙක් වෙයි. ඊළඟ මොහොතේ දී මරණයට ද පත්වී සිටිනු දක්නට ලැබේ. බාහිර ආධ්‍යාත්මික සියල්ලක් මේ අයුරින් වෙනස් වෙයි. මේවා දුකට දෙම්නසට හැඬීම් - වැළපීම්වලට කරුණුය. එහෙයින් එසේ වෙනස් වීම මුල්කොටගෙන ඇති වන දුක විපරිනාම දුක යනුවෙන් හැඳින්වේ

බුද්ධිමත් යෝගාවචරයා ලෞකික පරිසරය දෙස බලන්නේ සාමාන්‍ය මිනිසා බලන අයුරින් නොවේ. නාම - ගොත්‍ර ආදියෙන් හෝ සත්ත්ව - පුද්ගල වශයෙන් හෝ නොවේ. ඒ සියල්ලටම පොදු වූ කායික මානසික ශක්තීන්හි එකතුවක් ලෙසිනි. සාමාන්‍ය මිනිසා විසින් දැඩිව අල්වා ගනු ලබන

මමය, මාශේශ්‍ය යි ග්‍රහණය කෙරෙන එකී සියලු ශක්තීන් රූප වේදනා සඤ්ඤා සංඛාර විඤ්ඤාණ යන ස්කන්ධ නාමයෙන් බලන්නාටද ඒවා උපාදන වශයෙන් හාත්පසින් අල්වා ගැනීමෙන් ඇති වන්නේ දුක් වේදනාවකි. එය සංඛාර දුක්ඛ නමින් හැඳින් වේ.

ගැඹුරින් සලකා බලතහොත් ලෝකය යනු බඹයක් පමණ දිගු පුළුලින් යුත් මේ සිරුරයි. රූපාදී පඤ්චස්කන්ධයයි, හෙවත් නාමරූප දෙකයි. පුද්ගලයා අවිද්‍යාන්ධකාරයේ ගැලී සිටීම නිසා මායා ස්වරූපී ලෝකය දෙස බලනුයේ සර්ව ශුභවාදී ආකල්පයකිනි. එයින් නො නැවතී සර්ව ප්‍රකාර යෙන් ශුභ වූ ලෝකය දෙස අශුභවාදී ආකල්පයකින් බලන්නේ යයි ඇතැමෙක් බුදු සමය විචාරයට ද භාජනය කරති. එහෙත් සත්‍යය එය නොවේ. තාවකාලික – ක්ෂණික සුවයක් මෙන්ම සනාතනික ලෝකෝත්තර සුවයක් පිළිබඳව ද බුදු සමය කරුණු පැහැදිලි කර දෙයි. විද්‍යමාන ස්වරූපය අනුව කිසිදු තෘප්තියක් හෝ සහනයක් නියම අයුරින් ලබා ගත නොහැකි හෙයින් තාවකාලික සුවය දුකක් ම බව බුද්ධිමත් පුද්ගලයා අවබෝධ කොට ගනී. මෙසේ අවබෝධ කර ගැනීම ලෝකෝත්තර සුවයට මාර්ගය වන හෙයින් ප්‍රථම ආර්‍ය සත්‍යය යන නාමයෙන් හැඳින්වේ.

## (2.) දෙවැනි ආර්‍ය සත්‍යය - දුක හට ගැනීම

දුකක් ඇති බව සත්‍ය වශයෙන් වටහා ගන්නා තැනැත්තා එකී දුක හට ගැනීම පිළිබඳව ද සොයා බලයි. දුක රෝගයකට උපමා කළ හැකි නම් දක්ෂ, පළපුරුදු වෛද්‍ය වරයා ප්‍රථමයෙන් රෝග ලක්ෂණ ආශ්‍රය කොට ගෙන එම රෝගයේ හේතුව සොයා බලයි. වාත, පිත්ත, සෙම්හ, උතුපරිණාම, කම්ම විපාක ආදී වශයෙන් ගැනෙන කවර හේතු විශේෂයක් ද යි අවබෝධ කොට ගෙන ඒ අනුව පිළියම් කරයි. එමෙන්ම දුකට හේතුව සොයා බලන මහා කාරුණික බුදුරජාණන් වහන්සේ ප්‍රධාන වශයෙන් දක්නේ තෘෂ්ණාවයි. නැවත නැවත ඉපදීමට හේතු වන, සතුට ඇලීම ඇති කරන, ඒ ඒ ආත්මභාවයන්හි ඇලී ගැලී සිටීමට සලසන, එම තෘෂ්ණාව දුක හට ගැනීමේ හේතුව ලෙස බුදුරජාණන් වහන්සේ විසින් පෙන්වා දී ඇත. එය ත්‍රිවිධය :

(1) පස්කම් සැප පිළිබඳ තෘෂ්ණාව (කාම තණ්හා)
(2) නැවත නැවතඉපදීම පිළිබඳ තෘෂ්ණාව (භව තණ්හා)
(3) නැවත නො ඉපදීම පිළිබඳ තෘෂ්ණාව (විභව තණ්හා)

යනුවෙනි. බුදු දහමෙහි කිසිවක් එකම හේතුවකින් හට ගන්නා බව නො දක්වේ. එසේම කිසිවක් මූල හේතුව ලෙස ද නො සැලකේ. තණ්හාව වනාහි වේදනාව නිසා ඇති වන්නකි. ඒ තණ්හා වේදනා දෙකෙහි ම හේතුව නොදැනීමයි. අවිද්‍යාවයි. ඒ අනුව තෘෂ්ණාව දුක ඇති වීම සඳහා ආසන්න වශයෙන් ක්‍රියා කරන බලවත් හේතුවක් ලෙස ගැනීම වඩාත් යෝග්‍ය වේ.

ලෝභය, රාගය, ප්‍රේමය, ආශාව ආදි විවිධ නාමයන්ගෙන් විවිධ සන්දර්භයන්හිදී දක්වෙනුයේ තණ්හාවය. තමා අයත් නොවන යම් කිසිවක් තමන් සතු කර ගැනීමේ කැමැත්ත මෙයින් අදහස් කෙරේ. සත්ත්වයා කරන සියලු දෙය සැප අරමුණු කරගෙන පවතී. හේ සැපයට කැමතිය. දුක පිළිකුල් කරයි. දුක් දෙමනස් වේදනාවන්ගෙන් පෙළෙන විට සුවයක් සොම්නසක් ලබනු රිසි වෙයි. රූප, සද්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධම්ම යන ආරම්මණයන් නිසා සැප වේදනාවක් ඇති වන විට පෘථග්ජනයා ඒ අරමුණු වූ වස්තූන් තමා සතු කර ගැනීමට සිතයි. රූපය නිදසුන් වශයෙන් ගතහොත් පුරුෂයාට ස්ත්‍රීරූපය තරම් ලෝභනීය, රජනීය, ප්‍රේමනීය අන් කිසිවක් නැත. ස්ත්‍රියට පුරුෂ රූපය ද එබඳුය. ශබ්ද, ගන්ධ, රස ආදිය ද ඒ ආකාරයෙන් හඳුනා ගත යුතුය. මෙවන් රූපාදිය අරමුණු කොට ජනිත වන කැමැත්ත **කාම තණ්හා** නමි. දෘෂ්ටිවාද, මත වාද, විශ්වාස ආදිය පසුබිම් කොට ගෙන ඇති වන්නා වූ තණ්හාව **භව තණ්හා විභව තණ්හා** යන කොටස් දෙකට ම ඇතුළත් කළ හැකි වේ.

'ලෝකය දුක මත පිහිටියේ ය' යන්න වෙනත් අයුරකින් කිවහොත්, ලොව පිහිටා ඇත්තේ තෘෂ්ණාව මතය. ආත්මාර්ථකාමීත්වය, මමත්වය, අස්මිමානය යනාදී නම්වලින් කෙරෙනුයේ ද තෘෂ්ණාවෙහි ම විවිධ අංශයන් හඳුන්වා දීමකි. මිනිසා අකුසලයට මෙන්ම කුසලයට ද නැඹුරු වන්නේ තෘෂ්ණාව නිසාය. ඒ අනුව දුකෙහි හෙවත් සංසාරික ජීවිතයෙහි හේතුව තෘෂ්ණාව බව වටහා ගැනීම දුෂ්කර නොවේ.

## (3.) තුන්වැනි ආර්ය සත්‍යය : දුක නැති කිරීම

හේතුවක් නිසා ඇති වන්නක් වේනොත් එය එකී හේතුව නැති කිරීමෙන් පසු නැති වී යා යුතුය. දුක, තෘෂ්ණාව හේතු කොට ගෙන ඇති වූවක් නම් තෘෂ්ණාව නැති කිරීමෙන් පසු දුක ද නැති විය යුතුය. "හේතුං පටිච්ච සම්භූතං – හේතු භංගා නිරුජ්ඣති" යනුවෙන් සේලා භික්ෂුණියට වදාළේ එම ධර්මයයි. දුක ඇති කරන තෘෂ්ණාව බිඳකුදු ඉතිරි නොකොට මුලිනුපුටා දැමීම, නැති කිරීම, ඉවත් කිරීම, එයින් මිදීම, එහි නොබැඳීම දුක්ඛ නිරෝධ යයි. මෙහිදී බාහිර ලෝකය පිළිබඳ සියලු ආශා අපේක්ෂා ඉවත්ව යයි. තමා පිළිබඳ මිථ්‍යාදෘෂ්ටිය (ආත්ම දෘෂ්ටි) නිරවශේෂයෙන් බැහැර කෙරේ. මිදීම – විමුක්තිය පිළිබඳ පූර්ණ අවබෝධයක් ද ඇති වේ. බුදු සමයෙහි පරම නිෂ්ඨාව මේ දුක්ඛ නිරෝධයයි.

## (4.) සිවුවැනි ආර්ය සත්‍යය : දුක නැති කිරීමේ මඟ

දුක නැති කිරීම බුදු දහමෙහි ඉගැන්වෙන පරම සුඛය හෙවත් නිර්වාණය වශයෙන් සැලකෙන කල්හි ඒ සඳහා අනුගමනය කළ යුතු ක්‍රියා මාර්ගයක් – ප්‍රතිපදාවක් තිබිය යුත්තේ ය. එය මධ්‍යම ප්‍රතිපදාව නමින් හැඳින්වේ. මධ්‍යම නම් වනුයේ නොයායුතු අන්ත දෙකක් ද ඇති හෙයිනි. ඉන්



2. ර.මු.නී.ස. 100233

පළමුවැනි අන්තය ලෙසින් දක්වෙන්නේ කම් සැපතෙහි ඇලී ගැලී සිටීම හෙවත් කාමසුඛල්ලිකානුයෝගයයි. එය ඉතා පහත්, ග්‍රාම්‍ය ලක්ෂණ වලින් යුතු, පුහුදුන් අයට ම සීමා වූ, අනාර්ය වූ, අනර්ථය ලබා කරන්නා වූ ස්වභාවයෙන් යුක්තය. දෙවැන්න එබඳුම වූ ප්‍රතිඵල ලබා කර දෙන්නා වූ, ශරීරයට කටුක දුක් දීම හෙවත් අත්තකිලමථානුයෝගයයි. මේ අන්ත දෙකින් ඉවත් වූ මැදි මග නුවණැස ලබා දෙන්නකි. කෙලෙස් දහය සංසිඳුවන්නකි. විශිෂ්ට ඥානය පිණිස, පූර්ණ අවබෝධය පිණිස, නිවන් පිණිස හේතු වන්නකි.

ඒ මාර්ගය අංග අටකින් යුතුව මෙසේ දක්වේ :

(1) සම්මා දිට්ඨි (යහපත් දැකීම)

(2) සම්මා සංකප්ප (යහපත් කල්පනාව)

(3) සම්මා වාචා (යහපත් වචනය)

(4) සම්මා කම්මන්ත (යහපත් කටයුතු)

(5) සම්මා ආජීව (යහපත් දිව පැවැත්ම)

(6) සම්මා වායාම (යහපත් උත්සාහය)

(7) සම්මා සති (යහපත් සිහිය)

(8) සම්මා සමාධි (යහපත් සිත එකඟ කිරීම) යනුවෙනි.

මේ අංග අට සම්මා යන උප පදයකින් වෙසෙසා දක්වෙනුයේ බුදු දහමෙහි එන කුසල් මග අනුගමනයෙන් ම ඉදිරියට යායුතු හෙයිනි. බාහිර ශාසනයන් ගෙන් වෙන් කොට දක්වීම එහි අරමුණ වේ. ආර්ය අෂ්ටාංගික මාර්ගය නමින් හැඳින්වෙන මේ ප්‍රතිපදාව බුදුරජාණන් වහන්සේ විසින් ප්‍රථමයෙන් දේශනා කරන ලද්දේ කොණ්ඩඤ්ඤ භික්ෂුව ඇතුළු පස් නමටය. ආර්ය ධර්ම මාර්ගය වෙතට ඔවුන් නමා ගත හැකි වූයේ එතෙක් ඔවුන්ගේ මනස තුළ ක්‍රියාත්මක වූ වැරදි විශ්වාස හා දෘෂ්ටීන් ඉවත් කිරීමෙන් පසුවය. මිථ්‍යාදිට්ඨියෙන් වෙන් වීම හෙවත් සම්මාදිට්ඨිය පළමු පියවර වශයෙන් අත්‍යවශ්‍ය බව එයින් අවධාරණය කෙරේ. යහපත් දැකීමෙන් තොරව අඳුරේ යාම විමුක්ති මාර්ගයේ ගමන් කිරීම නොවන හෙයිනි.

බෞද්ධ විමුක්ති මාර්ගය සීල සමාධි පඤ්ඤා යනුවෙන් පියවර තුනකින් ඇතැම් තැනෙක දක්වේ. වෙනත් තැනෙක්හි දී සද්ධා විරිය සති සමාධි පඤ්ඤා යයි පඤ්චවිධය. ඉහත සඳහන් සම්මාදිට්ඨි ආදී අංග සම්මාඤාණ සම්මාවිමුක්ති යන අංග දෙකක් හා එක්කොට දශවිධව දක්වීමක් ද වේ. ශ්‍රාවකයාගේ චරිත අධිමුක්තින් අනුව මාර්ග අංගයන්හි අඩුවැඩිකම් හා වෙනස්කම් ඇති වීම ස්වාභාවිකය. එවන් විශේෂතාවලින් තොරව සාමාන්‍ය පෘථග්ජන සමාජය පිළිබඳව සලකා බැලීමේ දී ප්‍රථමයෙන් ශීලය මගින් කායික වාචසික සමාචාරයන් සකස් කර ගතයුතුය. පුද්ගලයා බාහිර

ලෝකය කෙරෙහි දක්වන ප්‍රතිචාරයන් ක්‍රමවත් භාවයට පත් කිරීම ඉන් අපේක්ෂිතය. දෙවැනිව මානසික සංවරය ඇති කර ගත යුත්තේය. ඉරියව් පැවැත්වීම හා ආශ්වාස ප්‍රශ්වාස ආදි කොට ඇති සියලු ක්‍රියාවලිය මනා සිහියකින් යුක්තව සකස්කොට ගෙන චිත්තෙකාග්‍රතාව තුළින් ධ්‍යාන සමාපත්ති ප්‍රතිලාභය එම පියවරෙහි අනුසස් වශයෙන් දක්විය හැකිය. අවසාන පියවර ප්‍රඥාවයි. මෙහි දී සත්ත්ව පුද්ගල ප්‍රඥප්තීන්ගෙන් තොරවූ, ව්‍යවහාරික ලෝකය ඉක්මවා පවත්නා දැනීම හෙවත් සර්ව ධර්මයන්ගේ යථා ස්වභාවය ත්‍රිලක්ෂණාවබෝධය මගින් ලබා ගැනීම මේ පියවරට අයත්ය. ඉන් ඉදිරියට තමන්ට තැබිය යුතු පියවරක්, හැසිරිය යුතු බ්‍රහ්මචර්ය වාසයක් හෝ නැසිය යුතු ක්ලේශ ධර්මයක් නැති බව නැවත නැවතත් සිහිපත් කරන පුද්ගලයා නැවත කිසිවිටෙක ආපසු සසරට නො පිවිසෙන නිර්වාණ ප්‍රාප්ත ආයර්‍යයන් වහන්සේ ලෙස හැඳින්වේ.

## 3. පරිච්ඡේදය

# ත්‍රි ලක්ෂණය

සත්ත්වයා හා ලෝකය පිළිබඳව අන්තර්ලීනව විද්‍යමාන යථා ස්වභාවය අවබෝධ කර ගැනීම බෞද්ධ පරමාදර්ශී ජීවිතයේ අග්‍රඵලය වෙයි. මිනිසා රාග දෝස මෝහයන්ගෙන් වෙළී සිටින තාක් කල් කිසිවක නිරවද්‍ය ස්වභාවය අවබෝධ කොට ගත නො හැකිය. නිල්වන් උපැස් යුවලක් පැලඳ සිටින්නා ලොව සියල්ල දක්නේ නිල්වන්වය. ඇස හා රූපය නිසා චක්ඛු විඤ්ඤාණය ඇති වේ. ඒවා එකිනෙක සම්බන්ධ වීම නිසා ස්පර්ශයත් එමගින් සුඛ දුක්ඛ හෝ උපෙක්ඛා සහගත වින්දනයත් ජනිත වේ. පුද්ගලයා ඉන්ද්‍රිය ගෝචර අරමුණු පිළිබඳ සාවද්‍ය වූ සංකල්පයන් ඇති කර ගන්නේ මේ වින්දනය නිසාය. ඇසට හමුවන, කණට ඇසෙන, නාසයට, දිවට හෝ ශරීරයට දැනෙන, සිතට අරමුණු වන සියල්ලක් නිත්‍ය ස්ථිර, සුභ, සුඛ ලෙසින් වරදවා ග්‍රහණය කරන්නේ ඒ හේතුවෙනි බෞද්ධ ධර්ම මාර්ගයේ ඉදිරියට ගමන් කිරීමේදී එකී ග්‍රහණයන්ගෙන් මිදිය යුතුය. ඒ අනුව

(i) නිත්‍ය, ස්ථිර, ශාස්වත කිසිවක් ලොව නැති බවත්,

(ii) එම අනිත්‍යතාව හෝ වෙනස්වීම, එවැන්නක් අපේක්ෂා නොකරන්නාගේ දුකට හේතු වන බවත්,

(iii) ඒ අනිත්‍යය දුක යන දෙක ඇති තැන තමාය, තමාගේය (අත්ත, අත්තනීය) කියා කිවහැකි කිසිවක් නොමැති බවත්,

යන ලක්ෂණ ත්‍රය නිර්වාණගාමී මාර්ගයේදී විශේෂයෙන් අවබෝධ කටයුතුය.

## (1.) අනිත්‍යය :

බුදුදහම අනුව විශ්වය හා විශ්වය තුළ ඇති සියල්ල දෙව නිර්මාණයන් හෝ එසේ නැතහොත් අහම්බෙන් හටගත් දේ හෝ නොවේ. හේතු සම්භාරයක ප්‍රතිඵල යෝය. හේතුව ස්ථිර නම්, නියත නම් එහි මුහුකුරා යාමක් හෝ විපරිනාමයක් සිදුවිය නො හැකිය. එසේම අස්ථිර නම්, තාවකාලික වූවක් නම් එහි ප්‍රතිඵලය ස්ථිර හෝ සදකාලික විය නොහැකිය. මේ මූලධර්මයන් ධර්මානුකූලව වටහා ගැනීම ත්‍රිලක්ෂණ අවබෝධයේ මූල් පියවර වශයෙන් ගැනේ.

සියලු ධර්මයන් සංඛත, අසංඛත යනුවෙන් කොටස් දෙකකට බෙදේ. නිවණ අසංඛතය, හේතුප්‍රත්‍ය සමවායයෙන් නිපන් ධර්මයක් නොවන හෙයිනි. සෙසු සවිඥානක අවිඥානක සියල්ල සංඛතය, හේතුප්‍රත්‍ය ධර්මයන්ගේ එක්වීම නිසා හට ගෙන ඇති හෙයිනි. යම්කිසි හේතුවක් නිසා හටගත් යම් ධර්මයක් වේ නම් හේතුව නැති වී ගිය කෙණෙහි එහි ඵලය ද නැති වී යයි. එකී අනිත්‍යතායෙන් යුක්ත වූ සියලු සංඛත (සංස්කාර) ධර්මයෝ රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ යනුවෙන් කොටස් (ඛන්ධ) පසකට අයත්ය. නුවණින් සලකා බැලීමේ දී මේ පසට අයත් නොවන කිසිවක් මේ විශ්වය තුළ නොමැති බවත්, ඒවායේ එකම ලක්ෂණය ඇති වී නැතිව යාම (උප්පාද – වය ධම්මිනො) බවත් දක්ක හැකිය.

ඇස අනිත්‍යය. මොහොතින් මොහොත වෙනස් වනසුලුය. රූපය අනිත්‍යය, ඒ ද මොහොතක් පාසා වෙනස් වෙයි. මේ දෙකෙහි එකතුව නිසා පහළ වන චක්ඛු විඤ්ඤාණය ද අනිත්‍යය. අනිත්‍ය වූ විපරිනාම ස්වභාවයෙන් යුත් දෙයකින් හටගන්නා දෙයක් කෙසේ නම් නිත්‍ය සනාතනික වූවක් විය හැකිද ? යන්න ශාස්වත වාදයේ හිස් බව දක්වමින් අනිත්‍යතාව ස්ඵුට කිරීම සඳහා බුදුදහම ඉදිරිපත් කෙරෙන තර්කයයි. සමකාලීන ආගමික මතාන්තර ඇසුරෙන් විඥානයේ අවිනශ්වර බව පිළිබඳ මිසදිටු අදහසක් ඇතිකරගත් සාති නම් භික්ෂුවකට බුදුරජාණන් වහන්සේ තදින් දෝෂාරෝපණය කළහ. දූන–උගත්කම් නැති පුහුදුන් මිනිසෙකුට නම් සතර මහාභූතයන්ගෙන් සෑදී ඇති කය දෙස බලා සුළු කලකට හෝ එය ස්ථිරව පවත්නේ යයි කීමට ඉඩ ඇත. එය රැයක් දවාලක් දිනක් දෙකක් හෝ ජීවිත කාලයක් පවත්නා බව දක්නට ඇති හෙයිනි. එහෙත් විඥානය අසුරුසණක් ගසන කාලයකටත් අඩු මොහොතකදී ඇති ව නැති වී යයි. එහෙයින් සාතිගේ දෘෂ්ටිය හිස් ප්‍රලාප යක් ය යනුවෙන් බුදුන් වහන්සේ භික්ෂූන්ට පැහැදිලි කර දුන්සේක. මේ

ආකාරයෙන් අනිත්‍යතා සිද්ධාන්තය විවිධ උපමා රූපක උපයෝගී කොට ගෙන විග්‍රහ කර දක්වීමට උත්සාහ දරා ඇත්තේ එය ශාසන බ්‍රහ්මචර්යාව පිළිබඳ අදහස් ගොඩනැගීමෙහිලා ප්‍රධාන ස්ථානයක් ගන්නා හෙයිනි.

## (2.) දුක්ඛය

ජාති, ජරා, ව්‍යාධි, මරණ, ප්‍රියයන්ගෙන් වෙන්වීම, අප්‍රියයන් හා එක්වීම, පැතූ දේ නො ලැබීම යනාදි වශයෙන් පුද්ගලයාගේ අසහනය, අතෘප්තිකර ස්වභාවය සඳහා හේතු වන දේ දුක්ඛසත්‍යය තුළ ගැබ් වී ඇත. මෙය සියලු සංස්කාර ධර්මයන්ගේ ම ස්වභාවයයි. යමක් අනිත්‍ය ලක්ෂණයෙන් යුක්ත නම් එහි දුක්ඛය ද ඇත. (යදනිච්චං තං දුක්ඛං) ප්‍රායෝගික ජීවිතයේදී සියලු සතුන් මෙන්ම මිනිසා ද සැප සොයා යයි. දුක පිළිකුල් කරයි. අවබෝධයෙන් තොරව තාවකාලික සුවය සොයා යන්නා නැවත නැවතත් දුකෙහි ම නිමග්න වෙයි. කවර හෝ නාම ගෝත්‍රාදියක් ආරෝපණය කර ගැනීමෙන් විවිධව විචිත්‍රව හඳුනා ගන්නා සියලු රූප වේදනා සඤ්ඤා සංඛාර විඤ්ඤාණ යන මේවා දැඩිව අල්වා ගැනීම හා මමත්වයෙන් සැලකීම දුක පිණිස, අසහනය හෝ අතෘප්ති ය පිණිස හේතු වන බව යථාර්ථ භෞමික ලක්ෂණත්‍රයයේ දෙවැන්න වන දුක්ඛසත්‍යයෙන් පැහැදිලි කර දෙයි.

## (3.) අනාත්මය :

'අත්ත' (ආත්ම) යන පදයෙහි නිර්වචනය 'තමා' යන්නයි. එහි විරුද්ධාර්ථය හෙවත් 'තමා යයි ප්‍රකාශ කළ හැකි දෙයක් නැති බව' අනත්ත (අනාත්ම) යන්නෙන් ප්‍රකාශ කෙරේ. බොහෝ ආගම් විශ්වයේ නිර්මාතෘවර යෙකු ගැන සඳහන් කරයි. බ්‍රහ්ම, ඊශ්වර, ප්‍රජාපති, දෙවියන් වහන්සේ ආදී නම්වලින් හැඳින්වෙන නිර්මාතෘවරයා විසින් ලෝකය හා සත්ත්වයා මවන බව ඒ ඒ ආගම්වල ඉගැන්වීමයි. බාහිර කය හා අධ්‍යාත්මික ආත්මය වශයෙන් හඳුන්වනු ලබන දෙය වෙන් වශයෙන් ගෙන මරණින් පසු කය විනාශ වී ආත්මය ශේෂ වන අතර භවගාමී ආත්මය කෙළවර පරමාත්මන් ස්වභාවයට පත් වන බව ඇතැමෙක් පෙන්වා දෙති. ශරීරය විනාශ වී යද්දී ශේෂ වන එකම දෙය ආත්මය වශයෙන් එකී ආගම් හා දර්ශනයන්හි සඳහන් කෙරේ.

බුදුදහම එබඳු නිත්‍ය, ධ්‍රැව, අවිනශ්වර කිසිවක් පිළිනොගනී. සමස්ත ආගම් ඉතිහාසය තුළම මේ ලක්ෂණය අවබෝධ කර ගෙන දහම් දෙසූ එකම ශාස්තෘවරයා ගෞතම බුදුරජාණන් වහන්සේය. බෞද්ධ විවරණයෙහි දී සියලු සවිඤ්ඤාණක අවිඤ්ඤාණක දෙයක් ම ඇති ව නැති වන මූලික ලක්ෂණයෙන් යුක්ත බව හඳුන්වා දී ඇති අතර, එය ම දුකට හේතුවක් බවත් දුක ඇති වන්නේ 'තමා අයත් නොවන්නක් (අනාත්ම) තමා අයත්ය' යන වැරදි හැඟීම (ආත්ම දෘෂ්ටිය) නිසා බවත් පැහැදිලි කර දෙයි.

ජාතිස්මරණඥානය ලබා ගත් තැනැත්තා තම පෙර ආත්මභාවය සිහිපත් කරයි. ලෞකික ධ්‍යාන ලබා ගත්තහුට ද ආත්මභාව ගණනාවක් සිහිපත් කිරීමේ හැකියාව ලැබේ. ඒ අනුව ශරීරය විනාශ වී ගියත් තමාගේ යම්කිසි කොටසක් අලුත් කයක් හා එක්ව නො නැසී ගමන් කරන බව සිතන්නට ඉඩක් ලැබේ. එම කොටය ආත්මය, ජීවය, විඥානය, ආදී විවිධ නම්වලින් හඳුන්වා දී ඇත. බුද්ධ කාලයෙහි සාති නම් භික්ෂුව එකම විඥානය සැසිත් කයට යමින් සංස්කරණය කරන බවට දෘෂ්ටියක් ඇති කරගෙන සිටියේ ඒ සමකාලීන ඉගැන්වීම් දැඩිව ගැනීමෙනි. නුවණැති ආර්‍ය ශ්‍රාවකයා සිතෙහි මෙන්ම කයෙහි ද ඇතිව නැතිවන ස්වභාවය තුළින් මම ය, මාගේ ය, මා හා සම්බන්ධය යි ගත හැකි කිසිවක් පඤ්චස්කන්ධයෙහි හෝ ඉන් පිටත නොමැති බව හඳුනා ගන්නා අයුරු බුද්ධ ධර්මයෙහි පෙන්වා දී ඇත.

බුදුන් වහන්සේ හා භික්ෂූන් අතර සිත්ගන්නා සුලු සංවාදයක් අලගද්දූපම සූත්‍රයෙහි දක්නට ඇත. ''මහණෙනි, දෙව්රම් වෙහෙර අවටින් මහාජනයා තණකොළ, අතුරිකිලි, දර ආදිය කඩාගෙන හෝ ඒවාට ගිනි තබා හෝ යනු දකින විට මේ මිනිසුන් අප අත - පය ආදිය කඩා දමා හෝ අපට ගිනි තබා හෝ යන්නාහු යයි ඔබ සිතන්නාහුද ?''

''නැත ස්වාමීනි''

''ඒ ඇයි ?''

''ඒ තණ දර අතුරිකිලි ආදිය අප නො වේ. අප හා කායික මානසික සම්බන්ධතාවක් ද එහි නැත. ඒ නිසාය.''

''එසේ නම් මහණෙනි, ඔබ අයත් නො වන රූප, වේදනා ආදී ස්කන්ධ පඤ්චකය ද එබඳු ය. ඇතිවී නැතිව යන කල්හි මමත්වයෙන් ගත හැකි කිසිවක් එහි නොමැත.''

පරම සුවය සඳහා ''මම වෙමි'' යන අස්මිමානය දුරු කළ යුතුය. එනම් සත්ත්ව, පුද්ගල, ආත්ම, ජීව ආදී සංකල්පයන් හඳුනා ගෙන ඒවා හුදු වචන මාත්‍රයන් පමණක් විනා ග්‍රහණය කළ යුතු කිසිවක් ඒවායෙහි විද්‍යමාන නොවන බව අවබෝධ කටයුතුය. ව්‍යවහාරික ලෝකයේ පවත්නා ආත්ම සංකල්පය පරමාර්ථික වශයෙන් නොමැති බව හෙවත් අනාත්ම ලක්ෂණ ප්‍රතිවේධය බෞද්ධ ප්‍රතිපදාවේ ශ්‍රේෂ්ඨතම පියවර වේ.

## 4. පරිච්ඡේදය

# කර්මය හා පුනර්භවය

ව්‍යවහාරික සමාජයේ කර්මය නමින් අදහස් කෙරෙනුයේ පුද්ගලයා විසින් කරනු ලබන දෙයයි. බෞද්ධ සාහිත්‍යයේ ද ඒ අදහස තහවුරු කෙරෙන තැන් සුත්ත නිපාතයේ වාසෙට්ඨ සූත්‍ර ආදියෙහි දී දක්නට ඇත. ජාති ප්‍රශ්නය පිළිබඳව සාකච්ඡා කෙරෙන තැන්වලදී පුද්ගලයා විසින් කරනු ලබන කාර්යයන්ට (කර්මයන්ට) අනුරූපව නම් ගොත් භාවිත කෙරෙන ආකාරය එයට නිදසුන් කොට දක්වයි. කස්සක සිප්පික, වාණිජ, ආදී නම්වල මෙන්ම බ්‍රාහ්මණ, වසල ආදියෙහි ද ප්‍රභවය ඒ ඒ පුද්ගලයාගේ උත්පත්තිය හෝ වර්ණය අනුව නොව ඔහු කරන කියන දේ අනුව බව එයින් පෙන්වා දී ඇත. මනුෂ්‍යයාගේ චිත්ත සන්තානය ඇසුරු කොට ගෙන පවත්නා කර්මය හඳුන්වාදීම වෙනත් අංශයෙකි. බුදු සමයෙහි දර්ශනික පක්ෂයට නැඹුරු වූ එකී කර්ම සංකල්පය වඩාත් ගැඹුරු දහමක් නිරූපනය කරනුයේ ඒ අනුවය.

බුදුදහම 'කර්මය' යනුවෙන් සඳහන් කරන්නේ චේතනා චෛතසිකයයි. කායික, වාචසික හා මානසික සියලු කාර්යයන්හිදී චේතනාව මුල්වූ පමණට ඒවා වගකීම් සහිත කාර්යයන් බවට පත් වේ. නැතහොත් ඒවා ප්‍රතිඵල රහිත හිස් කාර්යයෝය. ''චේතනා' හං භික්ඛවේ කම්මං වදාමි, චේතයිත්වා කම්මං කරෝති කායේන වාචාය මනසා'' යනු ඒ අදහස ගෙන දෙන දේශනා පාලි පාඨයයි. චේතනාව ක්‍රියාත්මක වීමේදී හොඳ – නරක වශයෙන් හෝ කුසල – අකුසල වශයෙන් හෝ යන දෙපැත්තෙන් එක් පැත්තකට අයත් විය හැකිය. යම්කිසිවක් කිරීමට හෝ කීමට හෝ සිතීමට මුල්වන සිතිවිල්ල තමාගේ යහපත පිණිස හේතු වෙයි නම්, එසේම අනුන්ගේ යහපත පිණිසත් හේතු වේ නම් එය හොඳ ක්‍රියාවකි. කුසල කර්මයකි. එයට පටහැනි වනුයේ නරක ක්‍රියාවයි හෙවත් අකුසල කර්මයයි. පුද්ගලයා හා සමාජය කේන්ද්‍ර කොට ගෙන හොඳ – නරක තීරණය කර ගනු ලැබේ.

දෛනික ජීවිතයේදී අසඥ්චේතනිකව සිදුවන කායික වාචසික හා මානසික ක්‍රියා අපමණය. වගකීම පිළිබඳව සඳහන් කිරීමේ දී එබඳු ක්‍රියා කුශලා, කුශල දෙකින් එකකට හෝ අයත් නො කිරීම කර්මය චේතනා සහිත බව අවධාරණය කිරීමේ ප්‍රධාන අරමුණ වේ. තෙල් මල් පහන් රැගෙන විහාරයට යන සැදැහැවතාගේ පයට පෑගී මිය යන සතුන්ගේ ප්‍රමාණය ඇතැම් විට ඉතා විශාල විය හැකිය. එහෙත් ඒ පුද්ගලයාගේ අධ්‍යාශය සතුන් විනාශ කිරීම නොවේ. කුසල කර්මයක් සඳහා යාමකි. එහෙයින් එතැන දී අකුශල කර්මයක් සිදු විය හැකි නොවේ. වෛද්‍යවරයා සැත්කමක් කරද්දී රෝගියා මිය යයි. සැත්කම කරන ලද්දේ රෝගියා මරා දැමීමේ අදහසින් නම් එහිදී ප්‍රාණඝාත අකුශලය සිදු විය හැකිය. එහෙත්

රෝගියා ජීවත් කරවීමේ අභිප්‍රාය මුල් වී නම් එතැන අකුශලයකට ඉඩක් නැත. ජෛන ආදී වෙනත් සමයාන්තරයන්ට වඩා බුදු සමයයෙහි දී මනසට ප්‍රධාන ස්ථානයක් හිමි කරදී චේතනා චෛතසිකය අවධාරණය කෙරෙනුයේ මේ පසුතලය යටතේය.

සචේතනිකව කයින්, වචනයෙන් හා මනසින් කෙරෙන දේ කායකම්ම, වචීකම්ම, මනෝකම්ම යන නම්වලින් හැඳින් වේ. චේතනාව කය වචනය සිත යන දොරටු තුනෙන් නික්ම කෙරෙන අකුසල් දසයක් බුදු දහමෙහි දක්වේ. සතුන් මැරීම, සොරකම් කිරීම, වැරදි මඟින් කම්සැප විඳීම යන තුන අකුසල කායකම්ම නම්. බොරු කීම, කේලාම් කීම, රළු වචන කීම හා හිස් වචන කීම අකුසල වචීකම්මයෝ වෙති. අකුශල මනෝකම්ම නම් දැඩි ලෝභය, ව්‍යාපාදය හා මිසදිටු බව යන තුනයි. මේ ත්‍රිවිධ අකුසල්වලින් වැලකීම හා ඉන් ඉවත්ව ක්‍රියා කිරීම කුසල කම්ම ලෙස ගැනේ. අකුසල චේතනාවකින් ඒ මොහොතෙහි දූෂ්‍යවන හෝ කුසල චේතනාවකින් පිරිසිදු වන සිත තවත් සිත් පරම්පරාවකට මුල් වීම ස්වාභාවිකය. පුද්ගලයෙකු කෝප වූ කල්හි ඔහුගේ මුහුණේ දරුණු ස්වභාවය කොපමණ වේලාවක් පවතිදැයි අපට සාමාන්‍යයෙන් දැක ගත හැකිය. ඇසිපිය හෙළන මොහොතක දි දහස් ගණනක් සිත් ඇති වී නැති ව යාම බෞද්ධ මනෝවිද්‍යාත්මක සිද්ධාන්තයකි. එක් සිතක් නැතිව යනුයේ ඊළඟ සිතට පසුබිම සකස් කර දීමෙනි. ඒ අනුසාරයෙන් ඉහත කී පුද්ගලයාගේ මනසෙහි දෝස සහගත සිත් සුළු කාලයක් තුළ දී ඇතැම් විට කෝටි ගණනක් ඇතිව නැතිවී ගොස් තිබෙන බව පහසුවෙන් වටහා ගත හැකිය.

ද්වේශය හෙවත් පටිඝය ද සෙසු කුසල් හෝ අකුසල් සිත් මෙන් පුද්ගල මනසින් ඉවත්ව යනුයේ එය ක්‍රියාත්මක වූ ප්‍රමාණය අනුව එහි උණුසුම යටි සිතෙහි තැන්පත් කරමිනි. අවශ්‍ය ප්‍රත්‍යයන් ලැබුණු මොහොතක දී එය නැවත ප්‍රකටව පෙනේ. නින්දේ දී හෝ ප්‍රකෘති සිහියෙන් තොර වූ විටෙක දී හෝ යටිසිතේ තැන්පත් වූ සිතිවිලි පිබිදි එන්නේ ද ඒ ආකාරයෙනි. ඇති වෙමින්, පවතිමින්, නැසෙමින් (උප්පාද, ඨිති, භංග) නැවත ද ඇති වන සිතත් සමඟ කර්මමය චේතනා මෙසේ ප්‍රවාහයක් සේ ගමන් කරයි. අවිද්‍යාව නිසා කුශලා' කුශල සංස්කාරයන් එක්රැස් කර ගනු ලබන අතර එය විඤ්ඤාණයේ පහළ වීමට හේතුව වෙයි. විඤ්ඤාණය සමඟ කර්මය ශක්තිය ද එසේම ප්‍රවාහී ස්වරූපයෙන් ගමන් කරයි. පුද්ගලයා සමඟ කර්ම ශක්තිය ද සෙවනැල්ලක් මෙන් ගමන් කරන බව බුදු සමය සඳහන් කරනුයේ එහෙයිනි.

බීජයට අනුරූපව අස්වැන්න ලැබීමේ සිද්ධාන්තය ඇසුරින් කර්මය (හේතුව) ට අනුව විපාක (ඵලය) ලැබෙන ආකාරය භාරතීය ආගම් හා දර්ශන විසින් පිළිගෙන ඇත. විපාකය කුසල් අකුසල් යන දෙකින් එකකි. කර්ම විපාකය පුද්ගලයා කෙරෙහි බලපැවැත්වීම ඇතැම්විට ඒ හේතුවට සම්බන්ධ වූ ආත්මභාවය තුළදී ම, එකී පඤ්ච ස්කන්ධය පවතිද්දී ම (දිට්ඨයේ

වා ධම්මෙ) සිදු විය හැකිය ; එසේ නැතහොත් ඊට ආසන්න වූ ම ආත්ම භාවයේ දී (උපපජ්ජෙ වා) විය හැකිය ; එසේත් නැති නම් සංසාරික ජීවිතයේ කවර හෝ අවස්ථාවකදී (අපරේ වා පරියායේ) එකී කුශලා'කුශල කර්ම විපාකයට මුහුණ දීමට සිදුවනු ඇත. සියලු කෙලෙසුන් නැසූ බුදු පසේබුදු මහරහත් උතුමන්ට පවා කෙලෙසුන් පසුබිම් කොට ගෙන උපන් රූපා දී පඤ්ච ස්කන්ධයන් පවත්නා තාක් කල් කර්මයේ සුබ හෝ දුක්ඛ දායක විපාකයෙන් මිදීමක් නොමැති බව විවිධ කථාවස්තු මාර්ගයෙන් බෞද්ධ සාහිත්‍යයේ විවරණය කොට තිබේ. අනුපාදිශේෂ නිර්වාණය ලබන තෙක් කර්ම ශක්තියේ ක්‍රියාත්මක වීම නො නවතින බව එයින් ස්ඵුට කෙරේ.

චුති ප්‍රතිසන්ධි දෙකෙහි දි මෙන්ම ජීවිතයේ අනෙකුත් අවස්ථාවන්හි දී ද කර්මය පුද්ගලයා කෙරෙහි බලපාන ආකාරයේ සීමාවක් දැක්විය නොහැකියි. එහෙත් පඤ්ච නියාමධර්ම අතුරෙන් උතු, බීජ, ධම්ම හා චිත්ත යන නියාම ධර්ම අනුව සිදුවන සිද්ධීන් කර්ම නියාමය වශයෙන් ගැනීම ධර්ම විරෝධී වෙයි. නිදසුන් මගින් මෙය පැහැදිලි කර ගත යුතුය. ස්වභාව ධර්මය නිසා පුද්ගලයාට විවිධ ව්‍යසනයන්ට මුහුණ දීමට සිදු විය හැකිය. එනම් : අව්, වැසි, සුලං ආදිය ඒ ඒ සෘතුවට අනුව වායු පීඩනයන්ට අනුරූපව පුද්ගලයා කෙරෙහි බලපායි. ග්‍රීෂ්ම කාලයට ජලය හිඟ වෙයි. තද සුළඟින් දුර්වල ගසක් ඉදිරී වැටෙයි. සිටුවන ලද බීජයක් පුස්සක් වූ හෙයින් දළු ලියලීමක් සිදු විය නොහැකියි. මේවා අනුව සියල්ල පූර්ව කර්මයෙන් සිදුවේය (සබ්බං පුබ්බෙකත හේතු) යන්න මිථ්‍යා ඉගැන්වීමක් බව පිළිගත යුතුය. එහෙත් කර්ම ශක්තිය පුද්ගලයා කෙරෙහි බලපාන ප්‍රමාණය බුදු ඇසකින් විනා පොදු ඇසකින් දැකිය නොහැකි හෙයින් ''කර්ම විෂය අචින්ත්‍ය'' ලෙස බුදු දහමෙහි දක්වා ඇත.

''කර්ම රැස්කිරීම නිසා එහි විපාක ඇති වේ. විපාක කර්මය නිසා භව ගනී. පුනර්භවය ඇති වන්නේ එයිනි. ලෝකය පවත්නේ මේ ආකාර යෙනි.'' මනුෂ්‍යයෙකුගේ පහළවීම සඳහා කරුණු තුනක් සම්පූර්ණ වියයුතු බව බුද්ධ ධර්මයේ සඳහන් වෙයි. එනම් : මවගේ සෘතුවීම සිදුවිය යුතුය, මවුපියන්ගේ සහවාසය සිදුවිය යුතුය. කර්මශක්තිය සහිත විඤ්ඤාණය ලහා වී තිබිය යුතුය. මවු කුස කලල රූපයක් ඇතිවීම සඳහා අවශ්‍ය ද්‍රව්‍යමය සාධක මව්පිය දෙදෙනාගෙන් ලැබිය යුතුය. එහෙත් විඤ්ඤාණයක් මව්කුසට බැස නො ගත්තේ නම් එකී සාධනයන් විනාශ වී යයි. සත්ත්ව ජීවිතයක පේශි අවස්ථාව ඇති වී වැඩීම සඳහා මේ කරුණු සම්පූර්ණ විය යුතුය. ගන්ධබ්බ නාමයෙන් හැඳින්වෙන කර්මවේගය සහිත විඤ්ඤාණ සන්තතිය ඉහත ආත්ම භාවයේදී රැස් කරගන්නා ලද කුශලා'කුශලා කර්ම යන්ගේ විපාක වශයෙන් ලැබෙන්නකි. මරණාසන්න අවස්ථාවේ දී රූපස්කන්ධය හැරපියා යන චිත්ත චෛතසික බලවේගය කර්ම ශක්තිය

අනුව යෝග්‍ය වූ අභිනව මව් කුසයක් ග්‍රහණය (උපාදානය) කෙරෙයි. තණ්හාව නිසා ඇතිවන මේ ග්‍රහණය හෙවත් අල්වා ගැනීම හේතු කොටගෙන භවය ඇතිවේ. එනම් කුශලා'කුශල ශක්තිය නම් වූ කර්ම භවය හා හට ගැනීම, වැඩීම ආදී වූ උත්පත්තිභවය නමින් හැඳින්වෙන සංස්කාරයන්ගේ පහල වීමයි.

පුනර්භවය අවබෝධ කර ගැනීමෙහිලා සිත ඇතිවීම පිළිබඳ බෞද්ධ විවරණය මහෝපකාරී වේ. සත්ත්ව පුද්ගල නමින් ගැනෙන්නේ චිත්ත-චෛතසික හා රූප කලාප පරම්පරාවකි, හෙවත් නාමරූප සන්තතියකි. මේවා එකක් අනෙක ඇසුරු කොට ගෙන පවත්නා සාපේක්ෂ ධර්ම වන අතර, එකකින් තොරව අනෙකෙහි පැවැත්මක් දක්විය නො හැකිය. සිත පිළිබඳව සලකා බැලීමේදී එය මොහොතින් මොහොත වෙනස් වෙමින් ගලා යන ආකාරය හා එක් එක් අවස්ථාවන් ද පිළිබඳ අවබෝධයක් ලබා ගැනීම අවශ්‍යය. එක් සිතක් ඉපදීම, පැවැත්ම හා බිඳීම යන අවස්ථා තුනකින් යුක්තය. බිඳී යන්නේ තවත් සිතක උපත හා සම්බන්ධ වීමෙනි. එහෙයින් ඉකුත්ව ගිය සිත හා දැන් පවත්නා සිත අතර හිස් බවක් හෝ සම්පූර්ණ වෙනසක් හෝ නැත. චිත්ත පරම්පරාව, සන්තතිය ආදී නම් යෙදෙන්නේ ඒ නිසාය. රූපය ද එබඳුය. සිත පමණ වේගයකින් රූපය ගමන් නො කරන අතර එහි පැවැත්ම (ආයුෂය) චිත්තක්ෂණ 17 ක කාලය වශයෙන් අභිධර්මයේ දැක්වෙයි. එයින් පසුව වෙනත් රූපයකට ඉඩ සලසා බිඳී යයි. සාමාන්‍ය ඇසකට ගෝචර නො වූවද ප්‍රතිසන්ධියේ සිට චුතිය දක්වාත් නාම රූප ධර්මයන්ගේ පැවැත්ම මේ අයුරින් සිදු වේ.

චුතිය යනුවෙන් අදහස් කෙරෙනුයේ සිතිවිලි (චෛතසික) හා සමඟ එක් වූ සිත එතෙක් ඇසුරු කොට ගත් රූප කලාපයෙන් ඉවත්වීමයි. ඒ මොහොතේ ම සිත (විඥානය) වෙනත් රූප සන්තතියකට සම්බන්ධවීම පටිසන්ධි නාමයෙන් හැඳින්වේ. රූපධර්ම බිඳී යද්දී එයට ජීවය ලබා දුන් නාම ධර්මයන් වෙනත් රූපයන් කරා සංක්‍රමණය වන ආකාරය මෙයින් දැක්වේ. නාමරූපයන්ගේ ක්ෂණභංගුරතාවත්, සන්තති ස්වරූපයක් පූර්ණ වශයෙන් අවබෝධ වනුයේ ප්‍රතීත්‍ය සමුප්පාදය ප්‍රත්‍යක්ෂ කර ගත් රහතන් වහන්සේට පමණකි. ව්‍යවහාරික ලෝකය තුළ සත්ත්වයාගේ සංසාරික ජීවිතය පැහැදිලි කරමින් මරණය හා නැවත ඉපදීම අතර සම්බන්ධය කෙබඳුදැයි යන ප්‍රශ්නයට ''එසේ උපදින්නේ මෙලොව සිටි අය නොවේ, වෙනත් කෙනෙක් ද නොවේ.'' (න ච සො න ච අඤ්ඤෝ) යන්න නාගසේන හිමියන් ඉදිරිපත් කරන පිළිතුරයි.

කර්මය හා පුනර්භවය යථාර්ථ වශයෙන් විවරණය කිරීම සඳහා බුද්ධ ධර්මයෙහි උපයෝගී කොට ගෙන ඇත්තේ ප්‍රතීත්‍ය සමුප්පාද න්‍යායයයි. කර්ම රැස් කරන්නේ අවිද්‍යාව හෙවත් නොදැනීම නිසාය. අවිජ්ජා, සංඛාර, තණ්හා, උපාදාන, භව යන මේ සියල්ලක් හේතු කොට ගෙන විඤ්ඤාණ, නාමරූප ආදී ඵලයන් ජනිත කෙරේ. මෙසේ කවර ආකාරයකින් හෝ

හේතු-ඵල වශයෙන් දුක් ඇති කරවමින් සත්ත්වයාගේ සසර ගමන සිදු වේ. අවිජ්ජා, තණ්හා ආදිය පසුබිම් කොට ගත් චෛතසිකයන් සිතක නැවත ඇති නොවෙන සේ මුලිනුපුටා දැමිය හැකි වූ විටෙක නැවත භවයක් ලබා ගැනීමේ අවශ්‍යතාවක් නැත. (න හි ජාතු ගබ්භසෙය්‍යං පුනරේති) පුනර්භවය ඇති කරන සාධකයන් යථාභූත - ඤාණදස්සනයෙන් හඳුනා ගත් කල්හි ඊළඟ භවයක් පිළිබඳ අපේක්ෂා රහිතව, උපාදානයෙන් තොරව සිතෙහි නිරෝධය ඇතිවෙයි. පුනර්භවය රහිත ව නාමරූප ධර්මයන්ගේ **එම නැවැත්ම නිවී ගිය පහන් දැල්ලක් මෙන් අනිර්වචනීය ස්වභාවයට පත් වෙයි.**

## 5. පරිච්ඡේදය

# නිර්වාණය

**නිවණ (නිබ්බාණ - නිර්වාණ)** යන පදයෙන් නිවීම, නැවැත්ම, නො පැවැත්ම ආදී අර්ථ කීපයක් ම අදහස් කෙරේ. ''පහනෙහි නිවීම'' ඉන්ද්‍රිය ගෝචර සාධකයකි. ආර්ය සත්‍යය විෂයෙහි දී මෙය ''නිරෝධ සත්‍යය'' නමින් දක්වේ. එනම් දුකෙහි නැවැත්මයි. නිවණ හැඳින්වීම සඳහා පාලි සාහිත්‍යයෙහි යෙදී ඇති විශේෂණ පදමාලාව දීර්ඝය. ඒ හැම පදයකම පාහේ දක්නට ලැබෙන පොදු ලක්ෂණයක් නම් 'සංසාරික ස්වභාවය නිරූපනය කෙරෙන පදයක විරුද්ධාර්ථවත් පදයක්' බවට පත්ව තිබීමයි; සසර දුක නම් නිවණ පරමසුවයයි; සසර සංඛත නම් නිවණ අසංඛතයි; සසර බන්ධන යක් නම් නිවණ එහි විමුක්තියයි ; සසර මහබ්භය මහෝඝයක් වන අතර නිවණ ඛේම වූ දීපයකි. මෙසේ සසරෙහි දක්නට ලැබෙන යම්බඳු අතෘප්ති කර, අප්‍රිය, අසහනකාරී ස්වභාවයක් වේ නම් එහි කෙළවර නිවණ වශයෙන් හඳුන්වා දී ඇත. සංයුක්ත නිකායේ අසංඛත සංයුක්තයේ එන නිර්වාණවාචී සියලු පද සියුම්ව පිරික්සා බැලීමේදී නිෂේධාර්ථ සූචක අව්‍ය පදයක් සහිතව හෝ රහිතව, සංසාරික ලක්ෂණවාචී නාමයක් හා සාපේක්ෂක ව ඒවා යෙදී ඇති ආකාරය දක්ක හැකිය.

නිවණ යනු ''මරණයෙන් සත්ත්වයාගේ අවසානය සිදු වේ. ඉන් ඔබබෙහි නැවත ඉපදීමක් නැත'' යනුවෙන් පැවසෙන උච්ඡේදවාදී සංකල්පයක් නොවේ. එසේම භාවාත්මක වූ අවිනශ්වර පදර්ථයක හෝ යම්කිසි ශක්තියක විද්‍යමාන බවක් නිරූපනය කිරීමකුදු නොවේ. ඒ දෙපැත්තම අන්තයෝය. එකී නාස්තික හා ආස්තික දෘෂ්ටිගතයන් වෙත නැඹුරු නොවී මධ්‍යම මාර්ගයකින් ලබන අවබෝධය බෞද්ධ නිර්වාණයයි.

නිවීම පිළිබඳව ලොකෝත්තර වශයෙන් මෙන්ම ලෞකික වශයෙන් ද සඳහන් කෙරෙන තැන් බෞද්ධ සාහිත්‍යයෙහි විද්‍යමාන වේ. කිසාගෝතමීය සිදුහත් කුමරුන් දෙස බලා එම හැඬරුව අනුව ඔහුගේ මවත් පියාත් බිරියත් නිවුණු (නිබ්බුත) අය විය යුතු යයි ප්‍රකාශ කළාය. ශෝකයෙන් හඬමින් වැලපෙමින් සිටින අයෙක් බුද්ධිමතෙකුගේ අනුශාසනයක් අසා මෙනෙහි කිරීමෙන් තමා සිහිල්වූ බව (සීතිභූත) නිවුණු බව (නිබ්බුත) ඒ මොහොතෙහි ප්‍රකාශ කරයි. ලෞකික වශයෙන් නාම කායයෙහි තාවකාලික වශයෙන් ඇති වන සැනසිලි සහගත බව මෙයින් නිරූපනය කෙරේ. බෞද්ධ නිර්වාණය වනාහි ලෝකෝත්තර වශයෙන් ලබන අවබෝධය මුල් කොට ගත් නිවීමයි. නිතර බෞද්ධයා විසින් හදුරනු ලබන රතන සූත්‍රයෙන් ඉතා සරල නිදසුනක් උපුටාගත හැකිය. නුවණැත්තා පියවරින් පියවර මග-ඵල ලබමින් නිවණ කරා ලභා වන ආකාරය සංඝ රත්නය ආදර්ශ කොට ගෙන එහි විවරණය කෙරේ.

සෝතාපත්ති ඵලය නිවණෙහි පළමු පියවරයි. එහි දී යෝගාවචරයා ''මමය මාගේය'' යි දැඩිව ගන්නා සක්කායදිට්ඨිය ද, සසර හා නිවණ පිළිබඳ සැක ඇතිවීම නම් විචිකිච්ඡාව ද, මිථ්‍යා ශීල හා ව්‍රත මගින් නිවණ අවබෝධ කළ හැකිය යන සීලබ්බතපරාමාසය ද යන බැමි (සංයෝජන) තුන සිඳී යයි. කාමරාග හා ව්‍යාපාද යන බැමි දෙක සකදාගාමී මගින් තුනී වන අතර අනාගාමී වීමෙන් ඒවා ප්‍රහීණ වේ. ඕරම්භාගිය සංයෝජන නමින් දක්වෙන ඒ බැඳීම් පස සිඳ දමන ලද තැනැත්තා සම්බෝධිය ආසන්නයෙහිම සිටින්නෙකි. උද්ධම්භාගිය සංයෝජන නම් වූ රූපරාග, අරූපරාග, මාන, උද්ධච්ච, අවිජ්ජා යන බැමි සිඳ දැමීමෙන් හෙතෙම සියලු ආශ්‍රව ධර්මයන් ක්ෂය කරන ලද්දෙකු බවට පත් වේ. ඒ සමගම තමන් පෙර විසූ ආත්මභාවයන් පිළිබඳ දැනීම ද, දිවැස් ලැබීම ද, තමන් විසින් සියලු කෙලෙස් නැති කරන ලද බව දන්නා ආසවක්ඛයකර ඥාණය ද යන ත්‍රිවිද්‍යාව පහළ විය යුතු වේ. එවන් තැනැත්තා නිවණ ප්‍රත්‍යක්ෂ කර ගත් රහතන් වහන්සේ නමින් හැඳින් වේ.

නිවණ යනු දහම් ඇසයි, විද්‍යාවයි, ප්‍රඥවයි, ආලෝකයයි, සත්ත්වයා, හා ලෝකය පිළිබඳ යථාභූත ඤාණදස්සනයයි. කුසල් හෝ අකුසල්වලට එහි ඉඩක් නැත. ඒවා සත්ත්වයා සසරට ඇද ගෙන යන උපකරණ හෙයිනි. නිවණ අවබෝධ කළ පුද්ගලයා කුසල් නොකරයි; අකුසල් ගැන කිව

යුත්තක් ම නැත. එහෙත් අතීත කුශලා'කුශල කර්මයන්හි විපාක වලදයි. සීවලී මහ රහතන් වහන්සේගේ හා මුගලන් රහතන් වහන්සේගේ චරිත කථා එයට නිදසුන් වශයෙන් සිහිපත් කළ හැකිය. ව්‍යවහාරික ලෝකයේ දී රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ යන ස්කන්ධ පය එක්වීම පුද්ගලයා නමින් හැඳින්වෙන අතර නිවණ අවබෝධ කර ගනුයේ ඒ පුද්ගලයාය. බුද්ධ, පච්චේකබුද්ධ, අරහන්ත යන නම්වලින් හැඳින්වෙනුයේ පූර්ණ වශයෙන් නිවණට පත් පුද්ගලයෝයි. නිවණ අවබෝධ කර ගැනීම ස්කන්ධ පඤ්චකය ඇති කල්හි ම, ජීවත්ව සිටියදීම සිදුවන්නක් බව එයින් පැහැදිලි වේ. නිර්වාණවබෝධයත්, කලුරිය කිරීමත් යන අවස්ථා දෙක වෙන් වශයෙන් දැක්වීමට අවශ්‍ය වීම නියා පරිනිර්වාණය කොටස් දෙකකින් හඳුන්වා දෙනු ලැබේ. එයින් ජීවත්ව සිටියදී හෙවත් පඤ්ච ස්කන්ධයන් නිරුපද්‍රැත ව පවතිද්දී ක්ලේශ ප්‍රහාණය සිදුවන අවස්ථාව සොපාදිසේස පරිනිර්වාණය යයි හැඳින් වේ. ස්කන්ධයන් නැවත ඇති නොවන අයුරින් විනාශ වීම හෙවත් කලුරිය කිරීම නිරුපාදිසේස (අනුපාදිසේස) පරිනිබ්බාණ නම්. මෙ වනාහි කාලීන වශයෙන් පහළ වන්නා වූ ගැටළු විසඳා ගැනීම සඳහා අවස්ථානුකූලව යොදා ගෙන ඇති විවරණයක් බව සඳහන් කළ හැකිය.

## 6. පරිච්ඡේදය

## සමථ - විපස්සනා භාවනා

මිනිස් සිත මොහොතක් පාසා ලෝභ, ද්වේෂ, මෝහ යන කෙලෙස් වලින් කිළිටි බවට පත් වෙයි. නුවණ ඇති පුද්ගලයා කල්‍යාණමිත්‍ර ආශ්‍රය ද ලබා ගෙන ප්‍රථමයෙන් ස්වකීය බාහිර ජීවන රටාව පිරිසිදු කර ගැන්මට උත්සාහ ගනී. කය හා වචනය සංවර කර ගැනීමෙන්, හික්මවා ගැනීමෙන්, බාහිර සමාජයෙන් පැමිණෙන දුක් ගැහැට ඉවත් කර ගනී. ආශ්‍රිත සමාජය තුළ ප්‍රියජනක බවට පත් වෙයි. හෙතෙම තවදුරටත් ඉදිරියට ද පියවරක් තබා සිත හික්මවා ගැනීමට ද ක්‍රියා කරයි. සිතට නැග එන රාගාදී අකුසල සිතුවිලි මැඩ පවත්වා කුසල සිතුවිලි වැඩීමේ එම ක්‍රියා මාර්ගය භාවනා නමින් හැඳින් වේ.

ශීල සංවරය හුදු තාවකාලික හික්මීමකි. එයින් ලැබෙන පරිචය සිත එක් අරමුණක තබා ගැනීමේ ක්‍රියා මාර්ගය සඳහා මහෝපකාරී වෙයි. සිත වනාහි දියෙන් ගොඩ ගත් මසෙකු සේ නිතර සැලෙන්නෙකි. එක් අරමුණක

නො නැවතී විසිර පවතින්නකි. බුද්ධිසම්පන්න පුද්ගලයා ජීවිතයේ වටපිටාව හා අත්දැකීම් මාර්ගයෙන් සිය සිත දෙස හැරී බැලීමට උත්සුක වෙයි. එමගින් සිත එක් අරමුණකට නංවා ගැනීමෙන් කුසල් සිත්හි රඳවා තැබීම සමාධි නාමයෙන් ගැනේ. එය ශීල සංවරය තුළින් පිහිටුවන මූලික පදනම මත ම රැඳ වියයුතු හෙයින් "කුසල් සිත්හි ඒකාග්‍රතාව සමාධිය" යි කියනු ලැබේ.

බාහිර හා අධ්‍යාත්මික ලෝකය අරමුණු කොට ගෙන සිත දෙස බැලීම නම් වන මෙ භාවනාව සමථ-විපස්සනා යනුවෙන් දෙවැදෑරුම් කොට හැඳින් වේ. විමුක්තිගාමී මාර්ගයෙහි දෙවැනි පියවර වන සමාධිය සමථ මාර්ගයෙන් ලබා ගන්නා අතර බෞද්ධ භාවනා ක්‍රමයෙන් ම සාක්ෂාත් කටයුතු වූ ප්‍රඥාවබෝධය විපස්සනා මගින් ලබා ගත යුත්තේ වෙයි.

## (1.) සමථ භාවනා :

පුද්ගලයාගේ සිත නිරන්තරයෙන් කාමච්ඡන්ද ආදී නීවරණ ධර්මයන්ගෙන් ආවරණය වී තිබේ. එම ආවරණයේ ශක්තිය යටපත් කර දමා, සංසිඳුවාලීම සමථ නමින් හැඳින් වේ. ඒ සඳහා සිත අරමුණින් බැහැර විය නොදී එක්තැන් කොට ගෙන නැවත නැවත වැඩීම සමථ භාවනා නම්. සමාධි භාවනා, චිත්ත භාවනා යන නම් වලින් හැඳින්වෙනුයේ ද මෙයයි. ආර්‍ය්‍ය අෂ්ටාංගික මාර්ගයෙහි සති හා සමාධි යන අංග දෙක සමථ භාවනාව සඳහා උපයෝගී වෙයි.

චිත්ත චෛතසික ධර්මයන් විවිධ වූ රූප ශබ්ද ආදී අරමුණු කරා පැතිර විසිරී යනු නොදී තමන් තෝරා ගත් එකම අරමුණෙක රඳවා පිහිටුවා තැබීම මානසික ශාන්තිය සඳහා අත්‍යවශ්‍යය. ශීල සංවරයෙන් තොරව මෙය කළ නොහැක්කකි. එහෙයින් භාවනාභිලාෂී පුද්ගලයා විසින් ප්‍රථමයෙන් සීල සංවරය ඇති කර ගත යුතුය. කල්‍යාණ මිත්‍රයෙකු වෙත එළඹ ඔහු විසින් නිර්දේශ කරනු ලබන කර්මස්ථානයක් අනුව සිත වැඩීමට උත්සුක විය යුතුය. කර්මස්ථාන යනුවෙන් අදහස් කෙරෙන්නේ සිත එකඟ කර ගැනීම සඳහා උපයෝගී කර ගන්නා අරමුණයි. ආනාපාන සතිය කර්මස්ථානයක් (කමටහන්) වන්නේ ආශ්වාස - ප්‍රශ්වාස දෙක සිත එකඟ කිරීම සඳහා යෝග්‍ය අරමුණක් කරගන්නා හෙයිනි.

සෑම තැනක්ම භාවනාවට සුදුසු නොවේ. නානා පලිබෝධයන්ගෙන් තොර යෝග්‍ය පරිසරයක් තෝරා ගැනීම කර්මස්ථානාචාර්යවරයාගේ උපදෙස් අනුව කළයුත්තකි. යෝගාවචරයා රාග, දෝෂ, මෝහ, සද්ධා, බුද්ධි, විතක්ක යන චරිතයන්ගෙන් කවරක් බහුල කොට ඇත්තේදැයි විමසා එයට ගැලපෙන කමටහන් හා පරිසරයක් හඳුන්වා දී භාවනා කිරීමට අවශ්‍ය උපදෙස් ලබාදීම කල්‍යාණ මිත්‍රයාගේ යුතුකම වන්නේය.

සමථ භාවනා සඳහා අරමුණු වශයෙන් කර්මස්ථාන 40 ක් බෞද්ධ සම්ප්‍රදය තුළ දක්නට ලැබේ එනම් :

දස කසිණ
දස අසුභ
දස අනුස්සති
චතු බ්‍රහ්ම විහාර
චතු ආරුප්ප
ආහාරයෙහි පටික්කූලසඤ්ඤාව
චතුධාතු වවත්ථාන යනුවෙනි.

භාවනාවේ සාර්ථකත්වය රඳා පවතිනුයේ මේවා අතුරෙන් අනුරූප වූ කමටහනක් තෝරා ගැනීම මතය. සම්බෝධි ඥානය සඳහා අනේක දුෂ්කර ව්‍රත සමාදානයෙන් නිරර්ථක වෙහෙසක් ලද සිද්ධාර්ථ ගෞතමයන් වහන්සේ අවසන්හි දී තමන් කුඩා කල පුරුදු කළ, වප්මඟුල් දිනකදී ද ක්‍රියාත්මක කළ ආනාපානසතිය මුල්තැනට ගත්හ. චුල්ලපන්ථක ආදි ශ්‍රාවකයන් සඳහා කමටහන් දී ඇති ආකාරය ද මෙහිදී සිහිපත් කළ හැකි ය.

## සමථ භාවනාවෙහි ප්‍රතිඵල :

රාගාදි කෙලෙස්වලින් හරිත පුද්ගලයාට මානසික සැනසුමක් කිසිවිටෙක නැත. කිසිවකිනුදු සැතීමක් නොලැබේ. ඊට හේතුව කාමච්ඡන්ද දී නීවරණ ධර්මයන්ගෙන් සිතීමේ ශක්තිය ආවරණය වී ඇති හෙයිනි. එම ධර්මයන් ගෙන් මිදෙන ප්‍රමාණයට සැනසුම හා සහනය ලබාගත හැකි වෙයි. ලෞකික ජීවිතය තුළදී ලදහැකි කාම රූප අරූප භූමිවලට අයත් ධ්‍යාන සමාපත්ති ආදිය ද, ඉද්ධිවිධාදී පඤ්චවිධ අභිඥාවෝ ද සමථභාවනා මාර්ගයෙන් ලද හැකි උසස් ප්‍රතිඵලයෝය. ප්‍රාග් බෞද්ධ යුගයේ දී පවා සමථය පිළිබඳව අවබෝධය ලබා විශිෂ්ට ශක්තීන් ලබාගත් ඍෂිවරු භාරතයේ වූහ. අසිත දේවල, ආලාරකාලාම, උද්දකරාමපුත්ත ආදී ඍෂිවරයන් කෙලෙස් සමථය කොට පඤ්චඅභිඥා හා ධ්‍යාන සමාපත්ති ලබා වාසය කළ අයුරු බෞද්ධ සාහිත්‍යයේ ප්‍රකට කරුණකි. බුද්ධිසම්පන්න පෘථග්ජනයන් ලෙස හැඳින්-වෙන ඔවුහු ධ්‍යාන සමාපත්ති ප්‍රතිලාභය පරමසුවය ලෙස සලකා එයින් සැනසුනහ. අභිඥා නම් :

(1) ඍද්ධිප්‍රාතිහාර්ය දක්වීමේ හැකියාව
(2) දිව්‍යමය කණ් ඇති බව
(3) අනුන්ගේ සිත් දැන ගැනීමේ හැකියාව
(4) පෙර ආත්මභාවයන් දැකීමේ හැකියාව
(5) දිවැස් ඇති බව

යන පසයි. ප්‍රථම, ද්විතීය, තෘතීය හා චතුර්ථ වශයෙන් ධ්‍යාන සතරකි. ආකාසානඤ්චායතන, විඤ්ඤාණඤ්චායතන, ආකිඤ්චඤ්ඤායතන, නේව-සඤ්ඤානාසඤ්ඤායතන යන අරූපාවචර සමාපත්ති සතරද එයට එක්කොට

අෂ්ට සමාපත්ති නම් කොට ඇත. මේවා ඇසුරෙන් ලෞකික වශයෙන්, චිත්තේකග්ගතාව මුල් කරගෙන, ලද හැකි උසස් ම ලෞකික සුවය ලබා කර ගත හැකිය.

## (2.) විපස්සනා භාවනා :

බෞද්ධ ආර්ය මාර්ගයේ උසස්තම පියවර වන ප්‍රඥව සාක්ෂාත් කර ගැනීම සඳහා බාහිර හා අධ්‍යාත්මික ලෝකය දෙස යථාර්ථවත්ව බැලිය යුතුය. එය කළ කැක්කේ අනිත්‍යය, දුක්ඛය, අනාත්මය යන ත්‍රිවිධ ලක්ෂණයන් හඳුනා ගැනීමෙනි. සිත එකඟ කිරීමකින් තොරව එය ක්‍රියාත්මක කළ හැකි නොවේ. යෝගාවචරයෙකු වීම සඳහා අවශ්‍ය මූලික අංගයන් සම්පූර්ණ කොට කය, වචනය හා සිත යන තිදෙර සංවර කර ගෙන අනතුරුව යෝනිසෝමනසිකාරයෙන් යුතුව අනිත්‍යාදී ලක්ෂණයන් දෙස බැලීම විපස්සනා නම්.

## විදර්ශනා මාර්ග

යෝගාවචරයා විදර්ශනාව වැඩීම සඳහා ලෝක ස්වභාවය පිළිබඳ ප්‍රමාණවත් අවබෝධයක් ලබා තිබිය යුතුය. ඊශ්වර නිර්මාණ වාදය, අහේතු අප්පච්චය වාදය ආදි කොට ඇති මිථ්‍යා දෘෂ්ටි වලින් වැසී සිටින්නාට යථාවබෝධය සුකර නොවේ. සම්මාදිට්ඨි, සම්මා සංකප්ප යන දෙක මාර්ග අංගයන්හි මුලින්ම සඳහන් වන්නේ මෙලොව පරලොව විශ්වාස කිරීම, හේතුඵල ධර්මය (පටිච්චසමුප්පාදය) අවබෝධ කිරීම සඳහා උත්සුක වීම යන මූලික අංගයන්හි අවශ්‍යතාව සලකාය.

පුද්ගලයා ඉන්ද්‍රියයන් මගින් ඒ ඒ අරමුණු පිළිබඳ දැනීමක් ලබන අතර සුඛ දුක්ඛ ආදී යම්කිසි ආකාරයක වින්දනයක් ද ලබයි. අරමුණ හඳුනා ගැනීමෙන් පසු හෙතෙම සිතින් එහි ස්වභාවය පිළිබඳ තර්ක කරයි. අරමුණ සුඛ වේදනා ගෙන දෙන්නක් නම් එය තමා අයත් කර ගැනීමටත්, දුක්ඛ වේදනා සහගත නම් එය ඉවත් කරලීමටත් සිතයි. ප්‍රපඤ්ච නාමයෙන් හැඳින්වෙන මේ සිතිවිලි පෘථග්ජන පුද්ගලයා තුළ මොහොතක් පාසා පහළවීම ස්වභාවිකය. කාමාවචර ලෝකයෙහි පවත්නා මේ පොදු ලක්ෂණය දෙස විදර්ශනානුයෝගී පුද්ගලයා බලන්නේ සාමාන්‍ය මනුෂ්‍යයෙකු බලන ආකාරයෙන් නොවේ. ඔහු රූපයක් දකින විට, ශබ්දයක් අසන විට, ගඳ සුවඳ, රස හෝ පහසක් දැනෙන විට එය ග්‍රහණය කිරීමට හෝ බැහැර කිරීමට වඩා එහි ආශ්වාදය, ආදීනවය හා ඉන් ඉවත්වීමෙන් (නිස්සරණ) ලැබෙන අනුසස් ගැන ද සිතයි.

ඉන්ද්‍රියගෝචර වන අරමුණු ඉතා සියුම් ලෙස විශ්ලේෂණය කර බැලීම විදර්ශනා භාවනානුයෝගී පුද්ගලයාගේ ස්වභාවයයි. නිදසුනක් ලෙස ඉතා අගනා දකුම්කලු රියක් නිරීක්ෂණය කරන ආකාරය දක්විය හැකිය. රියෙහි රෝදයක් පමණක් ගෙන 'මේ රිය' යයි නොකියයි. හිඳ ගන්නා ආසනය ද රිය නොවේ. ක්‍රියාත්මක කෙරෙන එන්ජින් යන්ත්‍රය ද රිය නොවේ. ඒවා වට කර ඇති කුඩුව හෝ එහි වර්ණය හෝ රිය වශයෙන් නො ගැනේ. එහෙත් ඒ සියල්ල එක් වූ විට හඳුනා ගැනීම සඳහා පාපැදිය, යතුරුපැදිය, කාරය, බසය, ලොරිය ආදී නමක් තබා ගෙන ඇත. රුපියල් දහස් ගණනක්, ලක්ෂ ගණනක් දී රථයක් හිමිකර ගන්නා නමුදු එය මොහොතින් මොහොත කැඩී බිඳී යන සැටිත්, හදිසි අනතුරක දී නිමේෂයකින් සුණු විසුණු වන සැටිත් දක්නට ලැබේ. මේ අයුරින් සියලු සංස්කාර ධර්මයන්ගේ පොදු ලක්ෂණයක් අවබෝධ කර ගැනීම විපස්සනා භාවනාවෙන් කෙරෙන කාර්‍ය්‍යය වේ. නිත්‍ය නොවන සියල්ල වෙනස් වී යන විට ඇති වන්නේ දුකකි. අතෘප්තිකර ස්වභාවයකි. ඒ නිසා අනිත්‍ය හා දුක්ඛ ලක්ෂණ වලින් යුතු රූපා දී ස්කන්ධ පඤ්චකය එක් කොට ගෙන 'ඒ මම වෙමි' යි කියා හෝ ''එය මගේය'' කියා හෝ අයිති කර ගැනීමට කිසිවක් නොමැති බව (අනාත්මය) අවබෝධ කර ගැනීම විදර්ශනාව මගින් කළ යුත්තකි. ත්‍රිලක්ෂණාවබෝධය ලබා ගත් පුද්ගලයා එතැනින් නොනැවති පුබ්බෙනිවාසානුස්සති, දිබ්බචක්ඛු, ආසවක්ඛය යන ඤාණයන් සඳහා උත්සුක වෙයි. එම ධර්මයන් ආසේවනය, භාවනය හා බහුලීකරණය මගින් පරම නිර්වාණ වන විමුක්ති සුඛය ප්‍රත්‍යක්ෂ කර ගනී.



3. ර.මු.නී.ස. 100233

# අභිධර්මයේ මූලික ඉගැන්වීම

## හැඳින්වීම

බුද්ධවචනය, අධ්‍යයනය කිරීමේ පහසුව තකා ඒ ඒ යුගවල දී විවිධාකාර යෙන් වර්ගකර ඇත. ඒ වර්ග කිරීම් අතුරෙන් විනය පිටකය, සූත්‍ර පිටකය, අභිධර්ම පිටකය යනුවෙන් ත්‍රිවිධව බෙද හැදෑරීම දීර්ඝ කාලයක පටන් පවතින සරල ක්‍රමය වේ. විනය පිටකය වනාහි භික්ෂු - භික්ෂුණී දෙපිරිසෙහි කායික වාචසික සංවරය සඳහා ප්‍රඥප්ත ශික්ෂාපද හා වත් පිළිවෙත් බහුල වශයෙන් අන්තර්ගත කොටසය. තථාගතභාෂිත, ශ්‍රාවකභාෂිත හා වෙනත් ආකාරයේ සියලු ඉගැන්වීම් ලෝක ව්‍යවහාරයට අනුව අවබෝධ කර ගැනීමට පහසුවන පරිද්දෙන් සංග්‍රහ කරන ලදුව නිකාය ග්‍රන්ථ නාමයෙන් හඳුන්වනු ලබන්නේ සූත්‍ර පිටකයයි. තථාගත දේශනයන්හි හරය මාතිකා වශයෙන් ගෙන ඒවා ඉතා ගැඹුරෙන් හා සියුම් ලෙසින් විග්‍රහ කොට දක්වෙනුයේ අභිධර්මපිටකයෙහිය. මනෝගෝචර ධර්ම සත්ත්ව, පුද්ගල ප්‍රඥප්තිවලින් තොරව, දේශක - ශ්‍රාවක විශේෂතා බැහැරකොට, සංශ්ලේෂණ, විශ්ලේෂණ මාර්ගයන්ගෙන් පැහැදිලි කරදීම අභිධර්මයෙහි විශේෂ ලක්ෂණයයි.

## පරමාර්ථ ධර්ම සතර

අභිධර්මයෙහි අන්තර්ගත ධර්ම කොටස් මූලපාඨයන් හා අට්ඨකථා, ඇසුරෙන් සංග්‍රහ කොට ඉදිරිපත් කරන අනුරුද්ධ ආචාර්යපාදයන් වහන්සේ එකී ධර්මයන් කොට්ඨාශ සතරකට බෙද දක්වති. එනම් : චිත්ත, චෛතසික, රූප, නිබ්බාණ යනුවෙනි. ඒවා 'සතර පරමාර්ථ ධර්ම' නාමයෙන් ද හඳුන්වා දෙනු ලැබේ. අර්ථකථනයේදී ටීකා ආචාර්යවරු පරමාර්ථ ශබ්දය උතුම් වූ, විපරීත නොවූ අර්ථය යනුවෙන් ද, උසස් ඥනයට ගෝචර වන අර්ථය යනුවෙන් ද විග්‍රහ කෙරෙති. දේශ, කාල, පුද්ගල ආදී වශයෙන් වෙනත් ස්වභාවයකට පත් නොවන යථාර්ථය, සත්‍ය ස්වභාවය නිරූපනය කිරීම සඳහා පරමත්ථ ශබ්දය යොදු ගෙන ඇති බව එයින් පෙනේ.

වෙනත් ආකාරයකින් පිරික්සා බලන කල්හි අත්ථ යනු යම්කිසිවක් පිළිබඳව ඇස්, කන්, නාසා දී ඉඳුරන් මගින් සිතට දැනෙන හෝ වැටහෙන අදහසය. එය අංශ, කොටස්, භාග ආදී වශයෙන් බෙද ගෙන ගොස් මූල ඒකකය දක්වා මෙනෙහි කිරීමෙන් අවසානයේදී ලබාගත හැකි අදහස - අර්ථය පරම අර්ථයයි. පසිඳුරන් මගින් දැනීම ලබා ඒ අනුව කෙරෙන ව්‍යවහාරය වනාහි තාවකාලික වූවකි. යථාර්ථය, සත්‍යය ආදී කිසිදු නමකින් එය වෙසෙසා දැක්විය නො හැකිය. හුදෙක් ව්‍යවහාර පහසුව තකා තබා ගනු ලබන නම් ගම් ඇසුරු කර ගත් සම්මුති මාත්‍රයක් පමණි එහි ඇත්තේ. නිදසුනක් වශයෙන් වී ඇටයක් හඳුනා ගන්නා ආකාරයෙහි විවිධත්වය සලකා බැලිය හැකිය. වී ඇටයේ පොත්ත ඉවත් කර ගත් විට එය දහවියා නම්.

ඇතුළත කොටස හාල්ය. එයම තම්බා ගත් කල බත්හුලකි. කුඩු කර ගත් විට පිටිය. මෙසේ දක්නට ලැබෙන නම් යම්කිසි ද්‍රව්‍යයක එක් එක් අවස්ථා වක් හඳුනා ගැනීම සඳහා තබන ලද සම්මුති පමණක් බව පැහැදිලි වෙයි. මොහොතින් මොහොත විපරීත ස්වභාවයට පත්වීම ද එහිදීම දක්නට ලැබේ. එකී ධර්මයන්ගේ මූලික අවස්ථාව හෙවත් හුදු ශක්ති ස්වභාවය පරමාර්ථ නමින් හැඳින් වේ. රූප ධර්මයන්ටත් වඩා සියුම් වූ ශක්ති විශේෂ වන චිත්ත චෛතසික ධර්ම පිළිබඳව ද මේ ආකාරයෙන් දතයුත්තේය.

චිත්ත, චෛතසික, රූප යන ධර්මයන්හි හට ගැනීම සිදු වනුයේ ඒවා ඇතිවීමට හේතුවන ධර්මයන්ගේ ඒකරාශී වීම නිසාය. සංඛත නමින් හැඳින්වෙන්නේ ඒ අර්ථයෙනි. ඉපදීම හා විනාශ වීම ස්වභාව කොට ඇති හෙයින් සංඛත සියල්ල අනිත්‍යය. එහෙත් නිවණ හේතු – ප්‍රත්‍ය මගින් හේතු ධර්මයන්ගේ ඒකරාශිවීම නිසා ඇති වූවක් නො වේ. ප්‍රත්‍යක්ෂකර ගත යුත්තකි. එය අසංඛතය. චිත්ත, චෛතසික හා රූප ලෞකික ඥානයට අරමුණු වන අතර නිවණ අරමුණු වනුයේ ලෝකෝත්තර ඥානයටය.

## 1. පරිච්ඡේදය

## චිත්ත (සිත)

සිත යනු දැනීම ඇති කරන ශක්තියයි. ඉන්ද්‍රිය හා ආරම්මණයන්ගේ ගැටීම – හැපීම නිසා දැනීම ඇති වේ. ඇස ඉන්ද්‍රියයකි, රූපය අරමුණකි. ඒ දෙක එකට ගැටීම හෙවත් ස්පර්ශය නිසා සිතක් ඇති වේ. එනම් රූපය පිළිබඳ දැනීමක් පහළ වේ. එය චක්ඛු විඤ්ඤාණ නමින් ව්‍යවහාර කෙරේ. අරමුණක් දැනීම එය හඳුනා ගැනීම නො වේ. හඳුනා ගැනීම වනාහි දැනීමට අනතුරුව පහළ වන වෙනත් සිතකි. සෝත විඤ්ඤාණය, ඝාණ විඤ්ඤාණය ආදියෙහි පහළ වීම ද මේ ආකාරයෙන් අවබෝධ කර ගත යුතුය. අරමුණක් ඉන්ද්‍රිය ගෝචර වන සෑම අවස්ථාවකම සිතක් පහළ වේ. තද නින්දේ සිටින විට පවා සිත යම්කිසි අරමුණක් භජනය කරයි. සිහින දකිනුයේ ඒ අරමුණු නිසාය. අරමුණක් රහිතව හෝ ඉන්ද්‍රියය අරමුණ කරා මෙහෙය වීමකින් තොරව හෝ සිතක් ඇතිවිය නො හැකි බව මෙහිදී විශේෂයෙන් සඳහන් කළ යුතුය.

'අරමුණු දැනගැනීමේ ශක්තිය' යනුවෙන් හැඳින්වීමේදී සිත යනු ඒකකයකි. එහෙත් එහි ඇතිවීම (උප්පාද) හා නැතිවීම (වය) යනුවෙන් ද්විවිධව හෝ උප්පාද, ඨිති, භංග යනුවෙන් ත්‍රිවිධව මහා කාලය අනුව නැවත වර්ග කිරීමක් ඇත. ඒවා එකිනෙකක් චිත්තක්ෂණ යනුවෙන් දැක්වේ. එනම් එක් සිතක

ආයුෂ කාලයයි. ක්ෂණයක් පාසා ඇතිව නැතිවන සිත් කුසල, අකුසල ආදි ගුණවාචක ශක්තීන් ද ඇසුරු කොට ගෙන කොටස්වලට බෙද විවිධ නම් යොද හැඳින්වීම අභිධර්මයේ විශේෂ ලක්ෂණයයි.

## සිතෙහි ප්‍රභේද

සිත කොටස් වශයෙන් හැදෑරීමෙහි දී භූමි වශයෙන් චතුර්විධ ව දැක්වීම සරල හා පැහැදිලි ක්‍රමයකි. කාමාවචර, රූපාවචර, අරූපාවචර, ලෝකෝත්තර යනු ඒ සතරය. ලෞකික හෝ ලෝකය ඉක්මවා සිටි සිත් ලෙසින් සඳහන් කිරීමේ දී ලෝකය වශයෙන් ගැනෙනුයේ බඹයක් පමණ වූ මේ සිරුරය. මිනිසා තුළම විවිධ අවස්ථා හා අරමුණු අනුව පහළ වන මේ සිත් බෙද දැක්වීමේ දී සියල්ල එක් සිය විසි එකක් (121) වේ.

| | |
|---|---|
| කාමාවචර | 54 |
| රූපාවචර සිත් | 15 |
| අරූපාවචර සිත් | 12 |
| ලෝකෝත්තර සිත් | 40 |
| | 121 |

මේ සෑම සිතක් ම කර්ම, විපාක, ක්‍රියා යන සිත් වර්ග තුනෙන් එකකට අයත් වේ.

කර්ම සිත් නම් අලෝභ, අදෝස, අමෝහ යන සිතිවිලි මුල් වූ යහපත් ගණයෙහි ලා සැලකෙන ක්‍රියාවක් හෝ ලෝභ දෝස මෝහ යනුවෙන් අයහපත් සිතිවිලි මුල් වූ ක්‍රියාවක් හෝ කරනු ලබන කල්හි ඇති වන සිතයි. ක්‍රියාව යහපත් වන අවස්ථාව සලකා කුසල සිත නමින් ද, අයහපත් වන අවස්ථාව සලකා අකුසල සිත නමින් ද ව්‍යවහාර කෙරේ. හේතු සිත යන වෙනත් නාමයකින් හැඳින්වෙනුයේ ද කර්ම සිත මය.

ඇතැම් සිතක් අදළ වූ කර්මයක (හේතුවක) ප්‍රතිඵලය වේ. එවිට ඒ විපාක සිත නමි. ප්‍රතිසන්ධිය ලබන අවස්ථාවේ දී පහළ වනුයේ විපාක සිතකි.

පුහුදුන් මිනිසා තුළ පහළ වන කර්ම සිත හේතුව වශයෙන් සිට එයින් ඵල උපදවයි. සුදුසු අවස්ථාවේ දී විපාකයක් ගෙන දේ. එහෙත් එකී සිත රහතන් වහන්සේ තුළ ජනනය වීමේදී ඵල රහිතය. ක්‍රියා මාත්‍රයක් පමණි. එහෙයින් ම එම සිත ක්‍රියා සිත නමින් හැඳින්වේ.

## (I.) කාමාවචර සිත්

එකම සිත ඒ ඒ අවස්ථා අනුව වර්ග කෙරෙනුයේ එකිනෙකට ඇති විශේෂ ලක්ෂණ සලකා ගෙනය. කාමාවචර නමින් කාමලෝකයන්හි උත්පත්තිය ලැබීමට හේතුවන්නාවූද, අපාය, මිනිස්ලොව හා දෙව්ලෝ යන එකී කාම භූමීන්හි බහුල වශයෙන් ක්‍රියාත්මක වන්නාවූ ද සිත් පණස් සතරකට බෙද දක්වේ. එනම් :

| | | |
|---|---|---|
| (අ) | අකුසල සිත් | 12 |
| (ආ) | අහේතුක සිත් | 18 |
| (ඇ) | සෝභන සිත් | 24 |
| | | 54 |

## (අ) අකුසල සිත්

ලෝභ, දෝස, මෝහ යනු අකුසල මූලයෝය. ඒ මූලයන් අතුරෙන් ලෝභය මුල්කොට උපදින අකුසල සිත් අටකි. එනම්,

1. සෝමනස්ස සහගත දිට්ඨිගත සම්පයුත්ත අසංඛාරික සිත
2. සෝමනස්ස සහගත දිට්ඨිගත සම්පයුත්ත සසංඛාරික සිත
3. සෝමනස්ස සහගත දිට්ඨිගත විප්පයුත්ත අසංඛාරික සිත
4. සෝමනස්ස සහගත දිට්ඨිගත විප්පයුත්ත සසංඛාරික සිත
5. උපෙක්ඛා සහගත දිට්ඨිගත සම්පයුත්ත අසංඛාරික සිත
6. උපෙක්ඛා සහගත දිට්ඨිගත සම්පයුත්ත සසංඛාරික සිත
7. උපෙක්ඛා සහගත දිට්ඨිගත විප්පයුත්ත අංසඛාරික සිත
8. උපෙක්ඛා සහගත දිට්ඨිගත විප්පයුත්ත සසංඛාරික සිත

ඉහත සඳහන් වූ පරිදි ලෝභය මුල් කොට ඇති වන සිත්වල ප්‍රධාන ලක්ෂණ දෙකක් ඇත. එනම් සෝමනස්ස හා උපෙක්ඛා සහගත බවයි. අරමුණ කෙරෙහි ඇලෙමින් මිහිරි ආශ්වාදයක් විඳීමේ ස්වභාවය සෝමනස්ස නම්. එබඳු වින්දනයක් හෝ එහි විරුද්ධ ලක්ෂණය වන දෝමනස්ස හෝ ඇති නොවී පවත්නා මැදහත් සිත උපේක්ඛා නම්. ලෝභමූලික සියලු සිත් දිට්ඨිගත සම්පයුත්ත හෝ විප්පයුත්ත වේ. දිට්ඨි නම් 'පව් නැත, පින් නැත, මෙලොවක් පරලොවක් නැත. කර්මයක් විපාකයක් නැත': යනාදී වශයෙන් ඇති වන වැරදි දැකීමයි. එයින් යුක්තවීම හෝ වෙන්වීම දිට්ඨිගත සම්පයුත්ත – විප්පයුත්ත යන පදවලින් දක්වේ. බාහිර පුද්ගලයෙකුගේ හෝ බලවේගයක මෙහෙයවීමක් නැතිව ඇතිවන්නේ අසංඛාරික සිතය. එබඳු මෙහෙයවීමක් නිසා හෝ උත්සාහවත් කරවීමක් නිසා ඇතිවනුයේ සසංඛාරික සිතයි.

සොරකම, කාමයෙහි වදරවා හැසිරීම, බොරු කීම, කේළාම් කීම, හිස් වචන කීම, දැඩි ලෝභය, මිසදිටුබව යන අකුසල් කෙරෙනුයේ ලෝභ මූලික සිත් නිසාය. සමාජය ගැන හෝ සමාජ චාරිත්‍ර - වාරිත්‍ර ගැන හෝ තැකීමක් නොකොට, තමන් ගැන පමණක් සිතා ආත්මාර්ථකාමීව කෙරෙන අකුසල් මේ ගණයෙහි ලා සැලකේ.

ද්වේෂය මුල් කොට පහළ වන දෝසමූලික සිත් දෙකකි.

1. දෝමනස්ස සහගත පටිඝසම්පයුත්ත අසංඛාරික සිත.

2. දෝමනස්ස සහගත පටිඝසම්පයුත්ත සසංඛාරික සිත.

දෙම්නස, අමනාපය හෝ තරහගතිය යන ලක්ෂණවලින් යුක්තව අරමුණ හා ගැටීම මේ දෝෂමූලික සිත්වල විශේෂ ලක්ෂණයයි. පටිඝ යනු විරුද්ධව හැපීම හෝ ගැටීමයි.

මෝහය මුල් කොට පහළවන මෝහමූලික සිත් දෙකකි.

1. උපෙක්ඛා සහගත විචිකිච්ඡා සම්පයුත්ත සිත.

2. උපෙක්ඛා සහගත උද්ධච්ච සම්පයුත්ත සිත.

මෝහමූලික සිත්වල විශේෂයෙන් දක්නට ඇති ලක්ෂණ දෙකක් නම් විචිකිච්ඡාවෙන් යුක්තවීම හා උද්ධච්චයෙන් යුක්තවීමයි. විචිකිච්ඡා නම් සැකයයි ; තෙරුවන්, පව්-පින් ආදිය පිළිබඳව සැකසහිත බව එයින් අදහස් කෙරේ. උද්ධච්ච නම් කලබල ගතිය හෙවත් නොසන්සුන් බවයි. ලෝක ධර්මයන්ගේ යථා ස්වභාවය අවබෝධ කර ගැනීමේ ශක්තියක් මේ මෝහ මූලික සිත්වලට නැත. එහෙයින් ලෝභමූලික හෝ දෝසමූලික සිත්වලින් කෙරෙන පමණ බැරෑරුම් අකුසල කර්ම මේ සිත්වලින් සිදු නොවේ. දුර්වල සිත් වශයෙන් ගැනෙන හෙයිනි.

## (ආ) අහේතුක සිත් :

අලෝභ, අදෝස, අමෝහ, ලෝභ, දෝස, මෝහ යනුවෙන් දැක්වෙන කුසලා'කුසල මූලයක් අභිධර්මයේ දී හැඳින්වෙනුයේ හේතු යන නමිනි. හේතු ධර්ම මුල් කොට ගෙන පහල වන සිත් සහේතුක නම් වන අතර ඒවායින් තොරව ඇති වන සිත් අහේතුක නම් වේ. අටළොස් වැදෑරුම් වන අහේතුක සිත් මාලාව අකුසල විපාක සිත් සතකින් ද, කුසල විපාක සිත් අටකින් ද, ක්‍රියා සිත් තුනකින්ද යුක්ත වේ.

**අකුසල විපාක සිත් :**

1. උපේක්ඛා සහගත චක්ඛු විඤ්ඤාණය.
2. උපේක්ඛා සහගත සෝත විඤ්ඤාණය.
3. උපේක්ඛා සහගත ඝාණ විඤ්ඤාණය.
4. උපේක්ඛා සහගත ජිව්හා විඤ්ඤාණය.
5. දුක්ඛ සහගත කාය විඤ්ඤාණය.
6. උපෙක්ඛා සහගත සම්පටිච්ඡනය.
7. උපෙක්ඛා සහගත සන්තීරණය.

සිත් හටගන්නා තැන් හා ඒවා යේ ක්‍රියාව අනුව ඉහත සඳහන් වර්ගකිරීම සිදුකොට ඇත. විපාක යනු යම්කිසිවක ඵලයයි. අකුසල් නිසා හෝ කුසල් නිසා හෝ අනාගත කාලය හා සම්බන්ධව ඇතිවන සිත් විපාකසිත් නමින් දක්වේ. අභිධර්මයේ දී ඇස, කන, නාසය, දිව, ශරීරය හා හදය යන සය සිත් හටගන්නා ස්ථානයෝ වෙති. ඇස ඇසුරු කොට ගෙන ඇති වන දැනීම චක්ඛුවිඤ්ඤාණ නම්. සෝත, ඝාණ ආදිය හා සම්බන්ධ විඤ්ඤාණයන් ද ඒ ආකාරයෙන් හඳුනා ගත යුතුය. ඉන්ද්‍රිය පස ඇසුරෙන් හටගන්නා විඤ්ඤාණ පසින් ලබාගන්නා අරමුණු පිළිගැනීම කෙරෙන සිත සම්පටිච්ඡන නම්. එකී අරමුණු විමසා තීරණය කරන සිත සන්තීරණ නම්. කාය-විඤ්ඤාණය දුක්ඛ සහගතය. ඉතිරි සිත් සයම සුඛ දුක්ඛ දෙකින් තොර වන හෙයින් උපෙක්ඛා සහගත වේ.

**කුසල විපාක සිත්**

1. උපෙක්ඛා සහගත චක්ඛු විඤ්ඤාණය.
2. උපෙක්ඛා සහගත සෝත විඤ්ඤාණය.
3. උපෙක්ඛා සහගත ඝාණ විඤ්ඤාණය.
4. උපෙක්ඛා සහගත ජිව්හා විඤ්ඤාණය.
5. සුඛ සහගත කාය විඤ්ඤාණය.
6. උපෙක්ඛා සහගත සම්පටිච්ඡනය.
7. සෝමනස්ස සහගත සන්තීරණය.
8. උපෙක්ඛා සහගත සන්තීරණය.

අකුසල විපාක සිත් ලේඛනයට වඩා කුසල විපාක සිත් ලේඛනය වෙනස් වන්නේ අවස්ථා දෙකකදී බව පෙනේ. කාය විඤ්ඤාණය කුසලයේ විපාකයක් හෙයින් එය සුඛසහගතය. අරමුණ අනුව සන්තීරණය දෙකකට බෙදු දක්වා ඇත. ඉන් සෝමනස්ස සන්තීරණය ඇති වනුයේ ඉතා යහපත් අරමුණක් ඇතිවිටය. එහි මධ්‍යම අවස්ථාවේදී පෙර සඳහන් කළ අකුසල අවස්ථාවේදී මෙන්ම උපේක්ෂා සහගත සන්තිරණ සිතක් පහළ වේ.

**ක්‍රියා සිත් :**

1. උපෙක්ඛා සහගත පඤ්චද්වාරාවජ්ජන සිත
2. උපෙක්ඛා සහගත මනෝද්වාරාවජ්ජන සිත
3. සොමනස්ස සහගත හසිතුප්පාද සිත.

**පඤ්ච ද්වාරයන් ආවර්ජනය කිරීම** යනු ඇය, කන, නාසය, දිව, ශරීරය යන දෙරටු පසෙහි ගැටෙන අරමුණු කරා සිත මෙහෙයවීමයි. මනෝද්වාරයෙන් ගන්නා අරමුණු මෙනෙහි **කිරීම මනෝද්වාරාවජ්ජන** නම් වේ. බුදුන් වහන්සේ, රහතන් වහන්සේ බඳු වූ නික්ලේශී උත්තමයන් මඳ සිනාවක් පහළ කරන අවස්ථා බෞද්ධ සාහිත්‍යයෙහි වාර්තා වී ඇත. එවන් අවස්ථා වලදී උන්වහන්සේලාට ඇති වන සිත අභිධර්මයෙහිදී දක්වෙනුයේ **හසිතුප්පාද** නමිනි. හඬ නො නඟා දන්තාග්‍රය පමණක් පෙනෙන සේ සිනාසීම හසිත නම් වේ. මෙහි සඳහන් සිත් තුනම කර්මයක් හෝ විපාකයක් පසුබිම් කොට නොගත් හුදු ක්‍රියා මාත්‍රයක් පමණක් වන හෙයින් **ක්‍රියාසිත්** වශයෙන් හැඳින්වේ.

## (ඇ) සෝභන සිත්

කාමාවචර භූමියෙහි දී පහළවන කුසල, විපාක හා ක්‍රියා වශයෙන් වෙන් කොට දක්විය හැකි සිත් **කාමාවචර සෝභන** නමින් හැඳින් වේ. එක් කොටසක සිත් අට බැගින් **කුසල් සිත්, සහේතුක විපාකසිත් හා සහේතුක ක්‍රියා සිත්** වශයෙන් එකබඳු නාම මාලාවකින් එම සිත් වෙන් කොට දක්වේ.

**කාමාවචර කුසල් සිත්**

1. සෝමනස්ස සහගත ඤාණසම්පයුත්ත අසංඛාරික සිත.
2. සෝමනස්ස සහගත ඤාණසම්පයුත්ත සසංඛාරික සිත.
3. සෝමනස්ස සහගත ඤාණවිප්පයුත්ත අංසඛාරික සිත.
4. සෝමනස්ස සහගත ඤාණවිප්පයුත්ත සසංඛාරික සිත.
5. උපේක්ඛා සහගත ඤාණසම්පයුත්ත අසංඛාරික සිත.
6. උපේක්ඛා සහගත ඤාණසම්පයුත්ත සසංඛාරික සිත.
7. උපේක්ඛා සහගත ඤාණවිප්පයුත්ත අසංඛාරික සිත.
8. උපේක්ඛා සහගත ඤාණවිප්පයුත්ත සසංඛාරික සිත.

මේ කුසලචිත්ත නාම ලේඛනය අනුව ඉහත දි සඳහන් කරන ලද අකුසල සිත් මෙන් මේවාද එක් සිතකට වඩා අනෙක් සිත වෙනස් වන්නේ ඉතා සුළු වශයෙන් බව දැකිය හැකිය. දනාදී දශ පුණ්‍ය ක්‍රියා කිරීමෙහිදී ඇති වන සිතිවිලි (චේතනා) ක්‍රියාත්මක වන්නේ මේ කුසල්සිත් සමගය. **යම්කිසි**

සත් ක්‍රියාවක් කිරීමෙහිදී සියලු අංගයන්ගෙන් සම්පූර්ණව සෝමනස්සය ඇති වේ. එසේ නොවූ විට ඇති වන සිත උපේක්ඛා සහගතය. කම්පල අදහා, සොයා බැලීමෙන් යුක්තව පිනක් කරන විට එය ඤාණසම්පයුත්ත වේ. නුවණින් කල්පනාකර නොබැලීමෙන් කරන කල්හි ඤාණවිප්පයුත්ත වේ. අන් අයෙකුගේ හෝ බලවේගයක මෙහෙයවීමෙන් තොර බව හා එවන් මෙහෙයවීමකින් යුක්තවීම සහිත අවස්ථා අකුසලයෙහි දී මෙන් තේරුම් ගත හැකිය.

ශිෂ්ට සම්පන්න පුද්ගලයා තුල දෛනික ජීවිතයේ දී බහුල වශයෙන් පහළ වන මේ සිත් හඳුන්වා දෙනු ලබන්නේ මහා කුසල්සිත් නමිනි. වේදනා, ඤාණ, සංඛාර යන ත්‍රිභේදය අනුව සෝභන සිත් එකබඳුව වර්ග කෙරෙන ආකාරය මෙසේ හඳුනා ගැනීම පහසුය.

## සහේතුක කාමාවචර විපාක සිත් හා ක්‍රියා සිත්

ඉහත සඳහන් පරිදි කුසල් සිත් ලෙසින් ම විපාක හා ක්‍රියා සිත් හඳුන්වා දෙනු ලැබේ.

කුසල විපාක සිත් සහේතුක හා අහේතුක වශයෙන් ද්විවිධය. අහේතුක කුසල විපාක සිත් මුලදී දක්වන ලදි. අහේතුක සිත්වලට වඩා සහේතුක සිත බලවත්ය. මරණින් මතු අභිනව භවයේ ලබන සිත් පරම්පරාව ඒ අනුව වර්ග කෙරේ.

ක්‍රියා සිත් පහළ වනුයේ රහතන් වහන්සේලාටය. පින් යයි සම්මත ක්‍රියා දෛනික ජීවිතය තුළ දී රහතුන් අතින් ද සිදුවේ. දන සිල ආදිය මෙන්ම වත්පිළිවෙත් ආදිය ද එයට ඇතුලත්ය. එහෙත් එකී කර්මයන්හි විපාකයක් ලැබීම සඳහා මතු භවයක් නොලැබෙන හෙයින් එහි ඇත්තේ ක්‍රියා මාත්‍රයක් පමණි.

## (II.) රූපාවචර සිත්

කාමයන් කෙරෙහි කලකිරුණු පුද්ගලයා පඤ්ච නීවරණ ධර්මයන්ගෙන් ඈත්ව කසිණාදියක් අරමුණු කොට ගෙන භාවනා කරයි. එමගින් ධ්‍යාන ලබා ගැනීමේ දී පහළ වන සිත් රූපාවචර සිත් නමින් හැඳින්වේ. ඒවා ඇතැම් විට ධ්‍යාන සිත් නමින් ද හැඳින්වෙන අතර කාමාවචර සිත්වලට වඩා සියලු ලක්ෂණයන්ගෙන් උසස් ද, බලවත් ද වේ. කුසල, විපාක හා ක්‍රියා වශයෙන් රූපාවචර සිත් ත්‍රිවිධය. විතක්ක, විචාර, පීති, සුඛ, උපෙක්ඛා යන ධ්‍යානාංග නම් ලද චෛතසිකයන් පස පසුබිම් කොට ගෙන රූපාවචර සිත් පහළ වේ.

## කුසල සිත්

1. විතක්ක විචාර පීති සුඛ ඒකග්ගතා සහිත පඨමජ්ඣාන සිත
2. විචාර පීති සුඛ ඒකග්ගතා සහිත දුතියජ්ඣාන සිත.
3. පීති සුඛ ඒකග්ගතා සහිත තතියජ්ඣාන සිත
4. සුඛ ඒකග්ගතා සහිත චතුත්ථජ්ඣාන සිත.
5. උපෙක්ඛා ඒකග්ගතා සහිත පඤ්චමජ්ඣාන සිත.

ඒකග්ගතා යනු එකම අරමුණක සිත බොහෝ වේලාවක් පවත්වා ගැනීමේ ශක්තියයි. එය ධ්‍යාන සිත් පසට ම පොදු ලක්ෂණයයි. ධ්‍යානාංග වශයෙන් හැඳින්වෙන කරුණු පසෙහි පළමුවැන්නා විතක්කයයි අරමුණ කරා සිත නැංවීමයි. පසුබසින්නට ඉඩ නොදී නැවත නැවත හෝ සිත අරමුණ කරා නංවා ගැනීමෙන් පසුව ඒ අරමුණ අනුව කල්පනා කිරීම හෙවත් සිත අරමුණ තුළ හැසිරවීම විචාර නම්. දෙවැනි ධ්‍යාන අවස්ථාවේ දී ප්‍රථම අ ගය වූ විතක්කය අනවශ්‍ය හෙයින් එය සඳහන් නො කෙරේ. අරමුණ තුළම ක්‍රියාත්මක වන සිත දැන් බාහිර අරමුණුවලින් ඉවත් ව ඇත. එකල්හි ඇති වන සතුට පීති නම්. චිත්ත විවේකයෙන් (බාහිර අරමුණුවලින් සිත වෙන්වීමෙන්) හටගත් සතුට නිසා ඇති වන ඒකග්‍රතාව මුල් කොට ලැබෙන කායික සැපය සුඛ නම්. මානසික හා කායික සුවයන්ගෙන් ද ඉවත් ව ලබන චිත්තෙකාග්‍රතාව උපෙක්ඛා ඒකග්ගතා නාම වේ. කාමච්ඡන්ද, ව්‍යාපාද, ථිනමිද්ධ, උද්ධච්ච - කුක්කුච්ච, විචිකිච්ඡා යන නීවරණ ධර්ම පසින් මිදුණු සිත සමථ භාවනා මගින් එකඟ කර ගැනීමේ අනුපූර්ව අවස්ථා පසකි පඨම දුතිය ආදී ඣාන සිත් වශයෙන් හෙවත් රූපාවචර කුසල සිත් නමින් දක්වෙනුයේ.

## රූපාවචර විපාක හා ක්‍රියා සිත්

රූපාවචර විපාක හා ක්‍රියා සිත් ඉහත සඳහන් කුසල සිත්වල ප්‍රභේද හා සමානය. විපාක ලැබෙනුයේ චුති සිතක් සමඟ ය. එහෙයින් රූප ධ්‍යාන ලද පුද්ගලයා ධ්‍යානයෙන් නො පිරිහී කළුරිය කළ හොත් බඹලොව උපදී. බුදු සසුනෙන් බැහැර ධ්‍යානලාභී පුද්ගලයෝ ද එම විපාකය ලැබීමට සුදුසු අය වෙති. බුදු සසුනෙහි අනාගාමී ඵලය තෙක් මග - ඵල ලද අය ඒවාට අනුරූපව විපාක ලබති.

ක්‍රියා සිත් ලැබෙනුයේ කෙලෙසුන් නැසූ අයට පමණි. එහි විපාක දීමේ ශක්තියක් නැත. එහෙයින් ක්‍රියාමාත්‍රයක් පමණක් ම වේ. කර්ම සිත් ඇසිල්ලක් පාසා කර්ම උපදවයි. එය කාමාවචර, රූපාවචර, අරූපාවචර කවර සිතක් තුළත් ඇත. විඤ්ඤාණය පහළ කරන්නේ ඒ සිත් විසිනි. පටිච්ච සමුප්පාදය අනුව විඤ්ඤාණයට අනතුරුව නාමරූප, සළායතන, ඵස්ස, වේදනා, තණ්හා, උපාදාන, භව, ජාති යන මේවා පිළිවෙලින් ඇති වේ. කර්ම සිත් නිසා ඇති වූ මේ නාමරූප ආදිය කර්ම ඉපදීමේ ශක්තිය නැති

කළ විගස නැති වී යා යුතුය. කර්ම රැස් කරන්නේ තණ්හාව හා අවිද්‍යාව නිසා ය. තණ්හා නැති තැන කර්ම රැස් කිරීමක් ද නැත. එබඳු අවස්ථාවට පත් පුද්ගලයන්ට ඒ ඒ අවස්ථාවේදී පහළ වන සිත් කිරිය (ක්‍රියා) සිත් නමින් හඳුන්වන්නේ එහෙයිනි.

## (III.) අරූපාවචර සිත්

රූපාවචර පඤ්චම ධ්‍යාන වඩන යෝගාවචර තෙමේ රූපයන්ගෙන් සිත ඉවත් කොට ගෙන අරූපාවචර සිත් කෙරෙහි නැඹුරු වෙයි. අරූපාවචර සිත් සතරකි. පෙර මෙන් කුසල, විපාක, ක්‍රියා භේදයෙන් දොළසකි.

1. ආකා සානඤ්චායතන සිත
2. විඤ්ඤාණඤ්චායතන සිත
3. ආකිඤ්චඤ්ඤායතන සිත
4. නෙවසඤ්ඤා නාසඤ්ඤායතන සිත.

මෙසේ ප්‍රභේදගත වනුයේ අරමුණ අනුවය. පඤ්චම ධ්‍යාන වැඩූ පුද්ගලයා රූපකායය කෙරෙහි කලකිරී අරූපී ආත්මභාවයක් අපේක්ෂා කරයි. කසිණ මාර්ගයෙන් සිත වඩමින් කසිණයෙන් උපුටා ගන්නා ආකාසය ගැන මෙනෙහි කරයි. ආකාසය වනාහී ඇති දෙයක් නො වේ. කල්පිතයකි. එහි මුලක් නැත, අගක් නැත, ඒ අනන්ත ආකාසය අරමුණු කොට ධ්‍යාන වැඩීම මෙහි ප්‍රථම අවස්ථාවයි. එතැනින් දෙවැනි අවස්ථාවට පිවිසේ. අවකාශය අත්හැර සිත පමණක් ගෙන එම සිතෙහි (විඤ්ඤාණයෙහි) අනන්ත ස්වභාවය අරමුණු කොට භාවනා කිරීමේදී විඤ්ඤාණඤ්චායතන සිත පහළ වේ. ආකිඤ්චඤ්ඤායතන සිත කෙරෙහි එතැන් සිට නැඹුරු වෙයි. ප්‍රථම අරූප ධ්‍යානයේ 'ගතයුතු කිසිවක් නැත' (නත්ථි කිත්චි) යන අදහසින් අකිඤ්චන නම් වේ. ඒ අකිඤ්චන ස්වභාවය අරමුණු වශයෙන් ගෙන භාවනා කිරීමේදී පහළ වන සිත ආකිඤ්චඤ්ඤායතන නම් වෙයි. සිවුවැනි පියවරෙහි දී යෝගාවචර තෙමේ ආකිඤ්චඤ්ඤායතන සිත අරමුණු කොට ගෙන 'මෙය ශාන්තය, ප්‍රණීතය' යනුවෙන් භාවනා කරයි. එහි දී ඉතා සියුම් වූ සිතක් පහළ වේ. එය සංඥවක් ඇත්තේ ද නැත්තේදැයි පැහැදිලිව දත නොහැකි තරම් අතිසුඛුම භාවයෙන් යුක්ත හෙයින් නේවසඤ්ඤා නාසඤ්ඤායතන නමින් හැඳින්වේ.

## අරූපාවචර විපාක හා ක්‍රියා සිත්

රූපාවචර භූමියෙහි දී මෙන්ම අරූපාවචර භූමියෙහි ඇති වන විපාක හා ක්‍රියා සිත් මෙහි ඉහත දක්වූ කුසල සිත් පිළිබඳ විස්තර අනුසාරයෙන් හඳුනා ගත යුතුය. විපාක සිත කුසලයෙන් අනතුරුව ඇති වන්නකි. එය රූප යෙන් තොර විය යුතුය. සිත මිස කය නැති සතර බඹලෝ මේ අරූපාවචර

විපාක සිත පහළ වන තැන්ය. ක්‍රියා සිත පහළ වනුයේ රහතන් වහන්සේටය. රූපාරූප ධ්‍යාන සියල්ලට සමවැදිය හැකි රහතන් වහන්සේ අවසානයේදී නිරෝධ සමාපත්තියට ද සමවදිති. විපාක දීමේ ශක්තියක්, පුනර්භවයක් නැති හෙයින් මේ අවස්ථාවල දී පහළවන සිත් ක්‍රියා සිත් නම් වේ.

## (IV.). ලෝකුත්තර සිත්

රූප අරූප වශයෙන් ඇති ධ්‍යාන ලෞකිකය. ඒවායින් නැවතත් සසරට ඇද දැමීම හෙවත් පුනර්භවය සිදු කෙරේ. බුදු දහම අනුව සසර ගමන නවතා පුනර්භවයේ අවසානය සිදු කිරීම හෙවත් නිර්වාණාවබෝධය සඳහා දරන උත්සාහයේ සාර්ථකත්වය අනුපූර්ව අවස්ථා අටකින් පෙන්වා දී ඇත. එහි දී ඇති වන සිත් ලෝකුත්තර සිත් නමින් හැඳින් වේ. මග්ග හා ඵල සිත් වශයෙන් ද්විවිධ වූ ඒ සිත් කොටස් සතරකි.

1. සොතාපත්ති (මග්ග, ඵල)
2. සකදගාමී (මග්ග, ඵල)
3. අනාගාමී (මග්ග, ඵල)
4. අරහත්ත (මග්ග, ඵල)

ලෞකික සිත්වලදී විපාක සිත් නමින් සඳහන් වූ සිත් මෙහි දී ඵල සිත් නමින් දැක්වේ. සෝතාපත්ති ආදී වූ එක් අවස්ථාවකදී මාර්ග සිත එක්වරක් පමණක් ඇති වේ. අනතුරුව පහළ වන සිත් ඵල සිත්ය. තිලකුණු අරමුණු කොට ගෙන සිත වඩන යෝගාවචර තැනැත්තාට ධර්මාවබෝධය වීමේ දී ප්‍රථම යෙන් ඇති වන සිත සෝතාපත්තිමග්ග සිතය. එය එක් වරක් පමණක් ඇතිවී බිඳී ගිය කෙණෙහි ඊළඟට ඇති වනුයේ සෝතාපත්ති ඵල සිතය. එම ඵල සිත්වල සීමාවක් නො දැක්වේ. ඊට වඩා උසස් වූ සකදගාමී මග්ග සිත පහළ වනතුරුම හටගන්නේ සෝවාන් ඵල සිතමය. ථෙරවාදය අනුව කිසිවිටෙක මේ සිතෙහි පිරිහීමක් ඇති නො වේ. සකදගාමී ආදී අනෙකුත් සිත් පිළිබඳව ද එසේ ම දත යුත්තේය.

**සෝතාපත්ති සිත :** සෝත යනු දිය පහරකි. නිවන් නමැති මහසයුරට නැඹුරුව ගමන් කරන දිය පහරක් සෙයින් එයට බැස ගැනීමේ (සෝත+ ආපත්ති) අර්ථයෙන් එහි මුල්ම සිත සෝතාපත්ති මග්ග සිත නම්. ඒ මගට බැස ගැනීමේදී බැහැර කෙරෙන කෙලෙස් මල කීපයක් වේ. සත්ත්වයා සසර බැඳ තබන කෙලෙස් බැමි (සංයෝජන) කොටස් දහයකට බෙද දැක්වේ. නිවන් මගෙහි පියවරින් පියවර ඒ බැමි සිඳ දැමිය යුතුය. දස සංයෝජන නමින් දැක්වෙන එකී බැමි අතර සක්කායදිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බතපරාමාස යනුවෙන් දැක්වෙන මූලික අකුසල ධර්ම තුන සෝතාපත්ති මග්ග සිත පහළවීමත් සමඟ ප්‍රහීණ වේ. නිවන් අවබෝධයේ මුල් පියවර එයයි.

**සක්කායදිට්ඨි** නම් 'විනාශ නොවන (සත්) භවගාමී ආත්මයක් ඇත' යන මිසදිටුවයි. **විචිකිච්ඡා** යනු බුද්ධ, ධම්ම, සංඝ, සික්ඛා ආදී කරුණු අටක් පිළිබඳ සැකයයි. **සීලබ්බත පරාමාස** නම් සසරින් මිදීම සඳහා හරිදක්මකින් තොරව ඒ ඒ සිල් හා ව්‍රත අනුගමනය කිරීමෙන් ඇති කර ගන්නා චංචල ගතියයි. සෝවාන් ඵලයට පත් සිත මේවායින් මිදී ඇත.

**සකදාගාමී සිත :** මාර්ග චිත්තය එක්වරක් පමණක් ඇති වී ඊළඟ මොහොතේ ඵල සිත ඇති වීම **සෝතාපත්ති** සිතෙහි මෙන් මෙහිදී ද දත යුතුය. නිවන් අරමුණු කොට පහළ වන මේ සකදාගාමී මාර්ග හා ඵල සිත්වලදී **කාමරාග, ව්‍යාපාද** යන සංයෝජනයන්ගේ බලය අඩක් සිඳී යයි. **කාමරාග** නම් පස්කම්සැප පිළිබඳ ආශාවයි. **ව්‍යාපාද** නම් කෝපය හෙවත් නොඉවසන සුලු ගතියයි. එකී බන්ධන අඩකින් දුර්වල වූ විට එහි ඵලය වශයෙන් එක්වරක් පමණක් නැවත මිනිස් ලොව ඉපිද පිරිනිවීම සිදු වේ.

**අනාගාමී සිත :** සකදාගාමී ඵල චිත්තය ඇති වීමත් සමඟ දුර්වල වන කාමරාග, ව්‍යාපාද දෙක අනාගාමී මාර්ග සිත පහළ වීමේදී ප්‍රහීණ වෙයි. මේ වන විට ඕරම්භාගිය නම් ලත් බලවත් බැඳීම් පසක් සමූල වශයෙන් ප්‍රහීණ කොට, උද්ධම්භාගිය නම් වූ **රූපරාග, අරූපරාග, මාන, උද්ධච්ච, අවිජ්ජා** යන පසෙහි ශක්තිය දුර්වල කොට ඇත. ඒ පුද්ගලයාගේ නැවත සසරට, පැමිණීමක්, මවුකුස පිළිසිඳ ගැනීමක් නැති හෙයින් එහිදී ඇති වන සිත් අනාගාමී සිත් නම්

**අර්හත් සිත :** අර්හත් මාර්ග හා ඵල සිත සියලු සංයෝජනයන්ගෙන් තොරය. උද්ධම්භාගිය සංයෝජනයන්හි ඉතිරිව පැවති ශක්තිය ද ප්‍රහීණ ව ඇත. එහි **රූපරාග** නම් රූපාවචර ධ්‍යාන සුවය විඳිමින් සිටීමටත්, බඹ තලයන්හි ඉපදීමටත් ඇති ආශාවයි. **අරූපරාග** නම් ආකාසානඤ්චායතන ආදී සමවත් මගින් ලබන සුවය පිළිබඳ ඇල්මයි. **මානය** නම් තමන් හා අනුන් තුලනය කිරීමයි. මෙහිදී ''මම වෙමි'' යනුවෙන් ශාස්වත දෘෂ්ටිය මුල් කරගත් **අස්මි මානය** වෙසෙයින් දක්වේ. සිතෙහි ඉනා සන්සුන් ගතිය හෙවත් ඇවිස්සුණු බව **උද්ධච්ච** නම්. සත්‍යය නො දැනීම අවිද්‍යාවයි. අනුක්‍රමයෙන් එක් එක් බැඳීම් පිළිබඳව අවබෝධයක් ලබා ගන්නහුට සත්ත්වයා හා ලෝකය පිළිබඳ පරම සත්‍යාවබෝධය සඳහා දැඩි වෙහෙසක් දැරීමට අවශ්‍ය නොවේ. අවිද්‍යා ප්‍රහාණයෙන් සියලු බැඳීම් සිඳ දමා නිවන් අවබෝධය සිදුකර ගත හැකිය.

## 2. පරිච්ඡේදය

# චෛතසික ධර්ම

අභිධර්මයේ පරමාර්ථ ධර්ම සතරින් දෙවැන්න චෛතසික නම්. ආභිධර්මිකයන් විසින් එය හඳුන්වා දී ඇත්තේ සිත හා සමඟ ඇති සම්බන්ධතා මුල් කොට ගෙනය. ඒ අනුව චෛතසිකයෝ ප්‍රධාන ලක්ෂණ සතරකින් යුක්ත වෙති : සිත හා එකට ඉපදීම (ඒකුප්පාද), එක්වම නැතිවී යාම (ඒක නිරෝධ), එකම අරමුණක එල්බ සිටීම (ඒකාලම්බන), එකම වස්තුවක් ඇසුරු කොට පැවැත්ම (ඒකවත්ථුක) යනු ඒ සතරයි. චෛතසික යන්නෙහි අදහස 'සිතෙහි ඇති ඒවා' යන්නයි. සිතෙහි යෙදෙන, සිතෙහි ඇති වන ධර්මයෝය. ඇතැම් විට සිත්විලි යනුවෙන් හැඳින්වෙන්නේ ද ඒවායි. සිතක් නොමැතිව චෛතසික හට නොගනී. චෛතසිකවලින් තොරව සිතක් ද නැත. සිතත්, එම සිතෙන් අපේක්ෂිත කාර්‍ය්‍යය සඳහා අවශ්‍ය චෛතසික ධර්මත් එක්වරම – එකටම – ක්‍රියාත්මක වීම එහි ප්‍රධාන ලක්ෂණ යයි.

සිත යම් අරමුණක එල්බ සිටී නම් චෛතසික ද ඒ අනුව ක්‍රියා කරයි. ක්‍රියාත්මක වීමේ වේගය අනුව සාමාන්‍ය පුද්ගලයකුට චිත්ත – චෛතසික යන්ගේ ඇතිවීම, නැතිවීම හා අරමුණු ගැනීම තේරුම් ගැනීමට දුෂ්කර වුව ද එකඟ කර ගත් සිත් ඇත්තෙකුට එය දුෂ්කර වූවක් නොවේ. චක්ඛු විඤ්ඤාණ, සෝත විඤ්ඤාණ ආදිය ඇස, කණ, නාසය, දිව, ශරීරය යන ඉඳුරන් ඇසුරු කොට පවත්නා අතර මනස වස්තුවක් නොවන හෙයින් මනෝවිඤ්ඤාණයට ආශ්‍රය වස්තුව හෘදය යනුවෙන් ආචාර්‍ය්‍යවරයෝ පවසති.

### චෛතසික වර්ග කිරීම

සියලු චෛතසික දෙපණස (52) අවබෝධ කර ගැනීමේ පහසුව තකා ඒවායෙහි විශේෂ ලක්ෂණ අනුව කොටස් තුනකට බෙද දක්වේ:

(අ) අඤ්ඤසමාන
(ආ) අකුසල
(ඇ) සෝභන යනුවෙනි

### (අ) අඤ්ඤසමාන චෛතසික

මේ නාමය යෙදී ඇත්තේ චෛතසිකයන් එය යෙදෙන සිත හා සමානව හඳුනාගත යුතු බව දක්වීම සඳහාය. අකුසල සිත් සමග යෙදෙන විට අකුසල චෛතසික ලෙස ද, සෝභන සිත් සමග උපදන විට සෝභන චෛතසික නමින් ද හඳුනා ගත යුතු බව එයින් අදහස් කෙරේ. තෙළෙස් (13) අඤ්ඤ-සමාන සිත් නැවතත් 'සබ්බචිත්තසාධාරණ හා පකිණ්ණක නමින් කොටස් දෙකකට බෙදේ.



4. ර.මු.නී.ස. 100233

## සබ්බචිත්ත සාධාරණ

සියලු සිත්වල පොදුවේ යෙදෙන මේ චෛතසික ධර්ම සතකි. **ඵස්ස, වේදනා, සඤ්ඤා, චේතනා, ඒකග්ගතා, ජීවිතින්ද්‍රිය හා මනසිකාර** යනුවෙනි.

**ඵස්ස :** ඉන්ද්‍රිය හා අරමුණ ද, ඒ දෙක නිසා පහළ වන විඤ්ඤාණය ද යන මේවායෙහි ගැටීම හෙවත් හැපීම, ඵස්ස නම් වේ. සිත හා අරමුණුවල ස්පර්ශය යනුවෙන් දක්වෙනුයේ නාම ධර්මයන්ගේ ගැටීමකි.

**වේදනා :** යහපත් හෝ අයහපත් හෝ මැදහත් වූ හෝ වින්දනයක් සෑම අරමුණකම ඇත. අරමුණෙහි රසය විඳ ගැනීමේ එකී ශක්තිය වේදනා නම්. කායික, මානසික වශයෙන් ද්විවිධ වන වේදනාව සුඛ, දුක්ඛ, සෝමනස්ස, දෝමනස්ස, උපෙක්ඛා වශයෙන් බෙද දක්වේ. වේදනාව වනාහි ස්පර්ශය නිසා ඇති වන චෛතසිකයකි. (ඵස්ස පච්චයා වේදනා)

**සඤ්ඤා :** අරමුණ හැඳින ගැනීමේ ස්වභාවයයි. නිල පීත ආදී වර්ණ වශයෙන් හෝ වෙනත් රූපාකාරයක් අනුව හෝ අරමුණක් හඳුනා ගනු ලැබේ. වින්දනය කෙරෙන දෙය හඳුනා ගැනීමේ ශක්තිය මේ චෛතසිකයට අයත් කෙරෙන හෙයින් වේදනාවට පසුව සඤ්ඤා චෛතසිකය පහළ වේ. (යං වේදේති තං සඤ්ජානාති)

**චේතනා :** සිත හා චෛතසිකයන් ඒකාබද්ධ කොට ක්‍රියා කරවන්නේ චේතනා චෛතසිකය විසිනි. තමාගේ වැඩෙහි යෙදෙමින් සෙසු ශිෂ්‍යයන් ද ඒ ඒ කාර්‍ය්‍යයන් හි යොදවන ශිෂ්‍ය නායකයකු හා සමාන කොට මේ චෛතසිකය හඳුන්වා දෙනු ලැබේ. චිත්ත – චෛතසික දෙක්හි එකට බැඳුනු ක්‍රියාකාරිත්වය ද, ඒ නිසා ජනිත වන කර්මයද චේතනා චෛතසිකයට අයත් කෙරේ.

**ඒකග්ගතා :** සිතෙහි එකඟබව හෙවත් එක අරමුණක නොසැලී සිටීමේ ශක්තිය මෙනමින් හැඳින් වේ. බාහිර අරමුණුවලට ඇතුළුවීමට ඉඩ නොදී ආරක්ෂා කරගන්නේ මේ චෛතසිකය ක්‍රියාත්මක වීමෙනි.

**ජීවිතින්ද්‍රිය :** සිතෙහි පවත්නා ප්‍රාණ ශක්තියයි. සිත හා චෛතසික ධර්මයන් පාලනයෙහි රක්ෂණයෙහි අධිපති බව දරන්නේ මේ චෛතසිකයයි. සතරමහා භූතයන් පිළිබඳව ප්‍රාණ ශක්තිය පිහිටා ඇත්තේ රූප ජීවිතින්ද්‍රිය කෙරෙහිය. මෙහි සඳහන් වනුයේ නාමධර්මයන්ගේ ප්‍රාණ ශක්තියයි, හෙවත් චිත්ත පරම්පරාව නිවණ තෙක් නො සිඳී පවත්නා ශක්තියයි.

**මනසිකාර :** සිත නැවත නැවත අරමුණෙහි යොදන ශක්තිය මෙනම් වේ. අරමුණක් නැවත සිතට නංවා ගැනීමයි.

ඉහත සඳහන් චෛතසික කුසල් වූ හෝ අකුසල් වූ හෝ කවර සිතක වුවද යෙදිය හැකිය. එක් සිතක ඇතැම් විටක චෛතසික රාශියක් ම යෙදී ඇති බව දක්නට ලැබේ. එක් සිතක යෙදී තිබිය හැකි චෛතසිකයන්ගේ උපරිම සංඛ්‍යාව සතිසක් (36) බව ආභිධර්මිකයෝ ප්‍රකාශ කරති.

**පකිණ්ණක :** පකිණ්ණක (ප්‍රකීර්ණක) යන්නෙහි අදහස විසිරි - පැතිරි පවත්නා දෙයයි. බොහෝ සිත්වල සුදුසු පරිදි විසිරී සිටින විතක්ක, විචාර, අධිමොක්ඛ, විරිය, පීති, ඡන්ද යන සය මෙනමින් හැඳින් වේ. අකුසල සිතකදී එයට අනුගතව ද, සෝභන (කුසල) සිතක දී නම් ඒ සිතට අනුරූපව ද මේ චෛතසික පහළ වේ. කුසල විතක්ක, අකුසල විතක්ක ආදිය ඒ ඒ අවස්ථාවන්ට අනුරූපව හඳුනා ගත යුතුය.

**විතක්ක :** සිතට නැගෙන අරමුණ කල්පනාවට නැගිම, අරමුණ පිළිබඳ තර්කනය විතක්ක නමි. සෑම අරමුණක් ම කල්පනාවට භාජනය කිරිම සිදු නොවේ. ඉන්ද්‍රිය මගින් ලබා ගත් අරමුණ හඳුනා ගැනීමත් සමඟ එහි ස්වභාවය කෙරෙහි. අවධානය යොමු කිරිම සිදු වේ. (යං සංජානාති තං විතක්කේති)

**විචාර :** විතක්කය විසින් සිතට ඇතුළු කරගත්, අවධානය යොමු කරන ලද අරමුණ සිත තුළ හැසිරීම විචාර නමි. ගෙයකට මිනිසකු පැමිණීම - ඇතුළු වීම, විතක්කයටත් ඒ ගෙය තුළ එහි මෙහි හැසිරීම විචාරයටත් සමාන කොට සිතා ගත හැකිය. විතක්කයට වඩා විචාරය සියුම්ය. එහෙත් මේවා පෙර පසු නොවී එකවිට ඇති වන චෛතසිකයෝ වෙති.

**අධිමොක්ඛ :** අරමුණ නිගමනය කරන ස්වභාවයයි. සිතකට ගත හැකි අරමුණු බොහෝය. එහෙත් ඒවා අතුරෙන් අවධානය යොමු කළ හැක්කේ එකකට පමණි. එසේ යොමු වූ අරමුණෙහි ලක්ෂණ විනිශ්චය කිරිම මේ චෛතසික මගින් සිදු කෙරේ.

**විරිය :** උත්සාහය, අනලස බව ඇති කරන ස්වභාවය ඇති චෛතසිකයයි. ඉදිරිපත් වන වෙනත් චෛතසික ඒ ඒ කාර්යයන්හි උත්සාහවත් කෙරෙනුයේ මෙයිනි.

**පීති :** සතුට, සොමනස ආදී නමවලින් දක්වෙන ස්වභාවය ප්‍රකාශ කෙරෙන චෛතසිකයයි. කැමති - අභිමත - අරමුණු නිසා සිත පිනා යාම ප්‍රීතිය වශයෙන් දක්වේ.

**ඡන්ද :** සිත කරා එන අරමුණු පිළිගැනීමේ දී ඇති වන කැමැත්ත ඡන්ද නමි. තෘෂ්ණාව, ලෝභය ආදිය මෙයට අයත් නොවන බව සැලකිය යුතුය.

## (ආ) අකුසල චෛතසික

සිත පිළිබඳ ඉහත දී සඳහන් කරන ලද විග්‍රහයේ දක්වා ඇති දොළොස් අකුසල් සිත් සමග යෙදෙන චෛතසිකයෝ තුදුසෙකි (14). එනම්: මෝහය, අහිරිකය, අනොත්තප්පය, උද්ධච්චය, ලෝභය, දිට්ඨිය, මානය, දෝසය, ඉස්සාව, මච්ඡරිය, කුක්කුච්චය, ථීනය, මිද්ධය, විචිකිච්ඡා යනුවෙනි. මෙහි දී ඒවා ඉතා සැකෙවින් හඳුන්වා දෙනු ලැබේ.

**මෝහය :** අරමුණෙහි යථා ස්වභාවය අවබෝධ කරගත නොහැකි වන සේ මුවහ කරනුයේ මෝහයයි. මුළාව, මෝඩකම, අවිද්‍යාව, ආදී විවිධ නම වලින් හැඳින්වෙන බලවත් අකුසල චෛතසිකයකි. අකුසල මූලයක් ලෙස ද දක්වේ.

**අහිරිකය :** පාපයට ලජ්ජා නැති කමයි.

**අනොත්තප්පය :** පාපයට බය නැති කමයි.

**උද්ධච්චය :** සිතෙහි නොසන්සුන් බව හෙවත් තැන්පත් කමක් නැති බවය.

මේ සතර මෝහචතුක්කය නමින් එක් කොටසකට වෙන් කොට ඇති අතර, සියලු අකුසල සිත්වලම යෙදෙන හෙයින් සබ්බාකුසලසාධාරණ නමින් ද හැඳින් වේ.

**ලෝභය :** අකුසල මූලයක් වන බලවත් චෛතසිකයකි. අරමුණෙහි ඇලෙන ස්වභාවය ඇති හෙයින් ලෝභ නම්.

**දිට්ඨිය :** වැරදි දැක්මයි, මිච්ඡාදිට්ඨිය නමින් දක්වෙන්නේ මෙයයි. 'තම අදහස සත්‍යය. සෙසු සියල්ල අසත්‍යය'යි යන වැරදි දැකීම දිට්ඨි නමින් ගැනේ.

**මානය :** 'තමා උසස්ය, අනුන් පහත්ය' යන හැඟීම මත ඇති කර ගන්නා උඩඟුබවයි, අහංකාරයයි. උද්ධම්භාගිය සංයෝජනයක් ලෙස ද ගැණෙන මානය රහත් මග දක්වාම ඇතිවන චෛතසිකයකි.

ලෝභ, දිට්ඨි, මාන යන චෛතසික ලෝභ ත්‍රිකය නමින් වර්ග කෙරෙන අතර ලෝභමූලික සිත් සමඟම උපදී.

**දෝසය :** සිත කැඩිබවට පත් කරන කෝපය, ක්‍රෝධය, තරහ ආදි නම්වලින් හැඳින්වෙන ස්වභාවය ඇති චෛතසිකයකි. අකුසල මූලයක් වන දෝසය (ද්වේෂය) තම සිතැඟි ඉටු කර ගැනීමට බාධා ඇති වන විට උපදින්නකි.

**ඉස්සා :** අනුන්ගේ සැප යස-ඉසුරු නො ඉවසන සුලු ස්වභාවය (ඉස්සා) (ඊර්ෂ්‍යා) නමි.

**මච්ඡරිය :** තම සම්පත් සඟවන ස්වභාවයයි. අනුන්ට තම සම්පත් නො දීම පමණක් නොව අනුන් විසින් දැකීම පවා නො ඉවසන ගතිය මේ චෛතසික යෙන් කියැවේ.

**කුක්කුච්ඡ :** කළ නො කළ දුසිරිත් පිළිබඳව සිතෙහි පවත්නා විපිළිසර ගතියයි.

දෝස, ඉස්සා, මච්ඡරිය, කුක්කුච්ඡ යන සතර දෝස චතුක්ක නමින් දැක්වේ. දෝමනස්ස සහගත පටිඝ සම්පයුත්ත සිත් දෙකෙහි පමණක් මේ චෛතසික පහළ වේ.

**ථින :** සිතෙහි හැකුළුණු බවක්, මැලිකමක්, ගිලන් බවක් ඇති කරන චෛත සිකයකි.

**මිද්ධ :** තම තමන්ට නියමිත කාර්‍යයන්හි යෙදීමේ දී පසුබස්නා සුලු බව ඇති කරන චෛතසිකයයි.

ථින හා මිද්ධ යන චෛතසික දෙක අකුසල සසංඛාරික සිත් සමග පමණක් යෙදේ.

**විචිකිච්ඡා :** සත්‍යය පිළිබඳව පවත්නා සැම සැකයක් ම මේ ගණයෙහි ලා සැලකේ. චතුරාර්ය වශයෙන් ගැනීමේ දී චිකිත්සා (පිළියම්) රහිත බව ඉන් අදහස් කෙරේ.

විචිකිච්ඡා චෛතසිකය විචිකිච්ඡා සම්පයුත්ත සිතෙහි පමණක් යෙදෙන හෙයින් මුල් අකුසල චෛතසික කොටස් සතරින් වෙන් කොට මෙය හඳුනා ගත යුතුය.

## (ඇ) ශෝභන චෛතසික

කුසල් සිත් සමඟ පමණක් යෙදෙන හෙයින් ශෝභන නම් වූ චෛතසිකයෝ 25 ක් වෙති. ඒවා ශෝභනසාධාරණය, විරති, අප්පමඤ්ඤා හා පඤ්ඤා යනුවෙන් කොටස් සතරකට බෙදේ.

**ශෝභන සාධාරණ :** සද්ධා, සති, හිරි, ඔත්තප්ප, අලෝභ, අදෝස, තත්‍ර මජ්ඣත්තතා, කායපස්සද්ධි, චිත්තපස්සද්ධි, කායලහුතා, චිත්තලහුතා, කායමුදුතා, චිත්තමුදුතා, කායකම්මඤ්ඤතා, චිත්තකම්මඤ්ඤතා, කායපාගුඤ්ඤතා, චිත්තපාගුඤ්ඤතා, කායුජ්ජුකතා, චිත්තුජ්ජුකතා යනුවෙන් ශෝභනසාධාරණ සිත් 19 කි.

**සද්ධා :** සැකයෙන් තොරව සිත තුළ ඇති වන විශ්වාසයයි. සෙසු කුශල චෛතසිකයන්ට ද සද්ධාව මුල් වන හෙයින් ආරම්භයට ම මෙය දක්වා ඇත. පඤ්ඤා හා සමඟ යෙදෙන විට මෙහි පූර්ණ ප්‍රතිඵල ලබා ගත හැකිය.

**සති :** සිහිය, කල්පනාව සති නම්. තමා කරන කියන දේ ගැන, ඉරියව් පැවැත්වීම පිළිබඳව සිහියෙන් යුක්ත වීම මේ චෛතසිකයේ විශේෂ ලක්ෂණයයි. සිත අකුසල්වලින් ඈත් කොට ගැනීම මෙයින් සිදු කෙරේ.

**හිරි :** පව් කිරීමට ඇති ලජ්ජාව.

**ඔත්තප්ප :** පව් කිරීමට ඇති බිය.

**අලෝභ :** අරමුණෙහි නො ඇලීම, පරිත්‍යාග සිතිවිලි.

**අදෝස :** ක්‍රෝධ, කෝප, ඊර්ෂ්‍යා ආදියෙන් තොර බව හා මෛත්‍රී සහගත සිතිවිලි ඇතිවීම.

**තත්‍රමජ්ඣත්තතා :** සිත හා අනෙක් චෛතසිකයන් ඒ ඒ අරමුණෙහි සමව මැදහත් ලෙස පැවතීමේ ස්වභාවය. මෙය උපෙක්ඛා වශයෙන් ද දැක්වේ.

**කාය පස්සද්ධියේ පටන් චිත්තුජ්ජුකතා දක්වා ඇති ඉතිරි ශෝභන සාධාරණ** චෛතසික ධර්ම දෙළස කාය – චිත්ත වශයෙන් දෙපරිදිය. කාය යනු සමූහයයි. එනම් වේදනා සඤ්ඤා සංඛාර යන නාමස්කන්ධ තුනට ඇතුළත් ධර්ම වශයෙන් ගැනේ. චිත්ත යනු විඥාන ස්කන්ධයට ඇතුළත් ධර්මයි. පස්සද්ධි ආදිය ඒ අනුව කාය චිත්ත වශයෙන් දෙවගකට බෙදෙන ආකාරය හඳුනා ගත යුතුය.

**පස්සද්ධි** යනු චිත්ත – චෛතසික දෙකොටසෙහි ම සන්සුන් බව ඇති කරන ස්වභාවයයි. **ලහුතා** යනු සැහැල්ලු බවය. **මුදුතා** යනු මොළොක්බවය. අරමුණ ගැනීමට යෝග්‍ය ස්වභාවය **කම්මඤ්ඤතා** නම්. නො ගිලන් බව හෙවත් සිත කැමති පරිදි කුසලයට යොමු කිරීමේ හැකියාව **පාගුඤ්ඤතා** නම් වේ. මායා, සාඨෙය්‍යතා ආදියෙන් තොර වූ ඇද නැතිබව **උජ්ජුකතා** නම් වේ. මේවා කාය – චිත්ත වශයෙන් දෙවැදෑරුම් ව හඳුනා ගත යුතු ය.

## විරති චෛතසික

වරදින් වෙන්වීම විරති නම්. මෙය සිදු කිරීමෙහි දී මුල් වන චෛතසික තුනකි:

**සම්මා වාචා :** මිච්ඡාවාචා නම් වූ වාග් දුශ්චරිතයෙන් හෙවත් බොරුකීම, කේළාම් කීම, රළුවචන කීම හා හිස් වචන කීම යන අකුසල් සතරින් සිත වෙන් කර ගන්නා චෛතසිකයයි.

**සම්මා කම්මන්ත :** මිච්ඡා කම්මන්ත නම් වූ කාය දුශ්චරිතයෙන් හෙවත් සතුන් මැරීම, සොරකම් කිරීම, වැරදි කාමසේවනය යන තුනෙන් සිත් වෙන් කරන්නාවූ චෛතසිකයයි.

**සම්මා ආජීව :** මිච්ඡා ආජීව හෙවත් වැරදි ජීවන වෘත්තීන්ගෙන් වෙන්වීමයි.

**අප්පමඤ්ඤා**

අප්‍රමාණ සත්ත්ව ගණයා කෙරෙහි පතුරුවනු ලබන සිත හෙයින් කරුණා මුදිතා දෙක අප්පමඤ්ඤා නම් වේ. අනුන්ගේ දුකෙහි දී සිතෙහි උපදනා අනුකම්පා ස්වභාවය **කරුණා** චෛතසිකයට අයත්ය. දුක්ඛිත සත්ත්වයන් අරමුණු කොට ගෙන එම චෛතසිකය ඇති වේ. **මුදිතා** නම් අනුන්ගේ සම්පත් දෙස බලා ඒ අනුව සතුටුවන ස්වභාවයකි. එය සුඛිත සත්ත්වයන් අරමුණු කොට ගෙන පහළ වේ.

**පඤ්ඤා**

යථාර්ථය, සත්‍යය අවබෝධ කර ගන්නා නුවණ **පඤ්ඤා** නම් වේ. ප්‍රතිසන්ධි සිත සමඟ අඩු වැඩි වශයෙන් පඤ්ඤා චෛතසිකය පහළ වේ. අහේතුක ප්‍රතිසන්ධි සිතක් සමඟ දුර්වලව ද, ත්‍රිහේතුක ප්‍රතිසන්ධි සිතක් සමඟ ප්‍රබලව ද පඤ්ඤා යන චෛතසිකය ඇති වේ.

## 3. පරිච්ඡේදය

## රූප

මිනිසා, සත්ත්වයා, පුද්ගලයා ආදී වශයෙන් කරනු ලබන ව්‍යවහාරය යථාර්ථ වශයෙන් අවබෝධ කර ගැනීමෙහි දී එය නාමරූප ධර්මයන්ගේ එකතුවක් පමණක් බව අභිධර්මයේ දී ඉගැන්වේ. චිත්ත - චෛතසික කොටස් නාමධර්ම වශයෙන් හඳුනා ගන්නා අතර ඉන්ද්‍රියයන් මගින් ග්‍රහණය කළ හැකි බාහිර කොටස් රූපධර්ම නාමයෙන් හැඳින්වේ. මිනිස් සිරුර පමණක් නොව සත්ත්ව ශරීරය, ගස්, ගල්, ජලය, වාතය ආදී විද්‍යමාන සියලු වස්තූන් රූප කොටසට අන්තර්ගත වේ. රූප යන පදය ධර්මයෙහි විවරණය වන්නේ ශීතය, උෂ්ණය, ආදී විරුද්ධ ප්‍රත්‍යයන් නිසා මොහොතින් මොහොත කිපෙන, පහර ලබන, පෙළෙන හෝ වෙනස් වන දේ වශයෙනි. මේ වෙනස වනාහි සිත තරම් වෙගවත් හෝ සියුම් වූවක් නොවේ.

අභිධර්මයේ දී රූපය අටවිසි ආකාරයකට බෙද දක්වෙයි. එයම මූලධාතු වශයෙන් භූතරූප නමින් සතරකට හා එකී රූපයන් නිසා හෙවත් ඇසුරු කොට පවත්නා රූප වශයෙන් උපාදරූප නමින් සූවිස්සකට ද බෙදේ. උපාදරූප නැවතත් පසාදරූප ආදී වශයෙන් කොටස් දසයකට ද බෙදී ඇත. ඒ මෙසේය :

| | | | | |
|---|---|---|---|---|
| **භූතරූප :** | **පඨවි, ආපෝ, තේජෝ, වායෝ** | | | 4 |
| **උපාදරූප :** | **පසාද** | — | චක්ඛු, සෝත, ඝාණ, ජිව්හා, කාය | 5 |
| | **විසය** | — | රූප, සද්ද, ගන්ධ, රස | 4 |
| | **භාව** | — | ඉත්ථීභාව, පුරිසභාව | 2 |
| | **හදය** | — | සදයවත්ථු | 1 |
| | **ඉන්ද්‍රිය** | — | ජීවිතින්ද්‍රිය | 1 |
| | **ආහාර** | — | ආහාර | 1 |
| | **පරිච්ඡේද** | — | ආකාශ | 1 |
| | **විඤ්ඤත්ති** | — | කාය විඤ්ඤත්ති, වචී විඤ්ඤත්ති | 2 |
| | **විකාර** | — | ලහුතා, මුදුතා, කම්මඤ්ඤතා | 3 |
| | **ලක්ඛණ** | — | උපචය, සන්තති, ජරතා, අනිච්චතා | 4 |
| | | | | 28 |

**පඨවි, ආපෝ, තේජෝ, වායෝ** යනු රූප ධර්මයන්ගේ මූලය වශයෙන් සැලකෙන ධාතු හෙවත් ශක්ති විශේෂයන් සතරකි. පඨවි ධාතු යනු යම් කිසිවක ඇති තද ගතියයි. එහි අඩු – වැඩි ස්වභාවය අනුව තද, මොළොක්, රළු, සිනිඳු ආදී විවිධ නම් ලෝක ව්‍යවහාරය තුළ දක්නට ඇත. ඒ සියලු ලක්ෂණ ම මේ ශක්තියෙහි විශේෂතා වශයෙන් ගිණිය හැකිය. ආපෝධාතු යනු ඇලෙන, වැගිරෙන, පැතිරෙන හෝ පිඩු කෙරෙන ස්වභාවයයි. උණුසුම සිසිල, ආදි වශයෙන් පවත්නා ගතිය තේජො නම්. වායෝ ධාතු යනු සෙලවෙන, පිම්බෙන ගතියයි. මේ ධාතු ශක්ති සතර අවබෝධ කර ගැනීම තරමක් දුෂ්කර වනුයේ ඒවා තුළම ඇතැම් වෙනස්කම් ද සිදුවන බැවිනි. තේජෝ ධාතුව සෙසු ධාතු තුනට වඩා බලවත්ය. තේජෝ ධාතු මගින් සෙසු ධාතු පාලනය කරනු ලැබේ. තේජෝ ශක්තිය විකෘත වීමේදී වායෝ ධාතු බවටත්, දියර ගතියට පත්වීමෙන් ආපෝධාතු බවටත්, ඝන වීමෙන් පඨවි ධාතු බවටත් පත්වන ආකාරය සලකා බැලිය හැකිය.

**පසාද රූප :**

**චක්ඛුප්පසාද :** ඉන්ද්‍රියයන් තුළ පිහිටි අරමුණ ලබා ගැනීමෙ ශක්තිය පසාද නම්. පසාද යන්නෙහි වචනාර්ථය පැහැදිලි ගතිය හෙවත් ඔපයයි. චක්ඛුප්පසාද යනු රූපයන්ගේ ඡායාව වැටීමෙන් ඒවා හැඳින ගන්නා චක්ඛුවිඤ්ඤාණය පහළවීමට උපකාර වන්නාවූ, ඇසේ මධ්‍ය භාගයෙහි පිහිටා ඇති උකුණු හිසක් හෝ මුංපියල්ලක් පමණ වූවක් බව ආචාර්යවරු පවසති. ආලෝකය, මනසිකාර ආදිය ඇති කල්හි පියවි ඇසෙහි පිහිටා ඇති මේ සියුම් කොටස මගින් අරමුණ ඇතුළට ගනු ලබයි.

සෝතප්පසාද : ශබ්දයේ රාවය පිවිස සෝතවිඤ්ඤාණය ජනිත කරවන්නා වූ කන් බිලය තුළ ඇති සතර මහා භූතයන්ගේ ඔපයයි. කන් සිදුරු තුළ තඹවන් සියුම් ලොම් ඇති මුදුවකට බඳු සටහන් ඇති තැන මේ රූපය පිහිටා ඇතැයි විස්තර කෙරේ.

ඝාණප්පසාද : ගඳ - සුවඳ දැනගැනීම (ඝාණ විඤ්ඤාණය) සඳහා පියවි නැහැයෙහි පිහිටි ඔපය මෙනම් වේ.

ජිව්හාප්පසාද : රස දැනීම (ජිව්හා විඤ්ඤාණය) සඳහා උපකාර වන දිව ඇසුරෙන් පිහිටා ඇති සියුම් කොටසකි.

කායප්පසාද : පහස දැනීම (කාය විඤ්ඤාණය) සඳහා උපකාරී වන මුළු සිරුරෙහිම පැතිර පවත්නා ඔපයයි. කෙස්, ලොම්, නිය ආදියෙහි හැර අන් සියලු තන්හි යම් කිසිවක් ගැටුණු කල්හි ස්පර්ශය දැනේ. ඒ අනුව කායප්පසාද මුළු සිරුරෙහිම පිහිටා ඇත.

## විසය රූප :

එක් එක් ඉන්ද්‍රියයට ගෝචරවන - විෂය වන - දේ විෂය රූප හෙවත් ගෝචරරූප නමින් හැඳින්වේ. රූප, සද්ද, ගන්ධ, රස යනුවෙන් එය චතුර්විධය.

රූප : ඇසට ගොදුරුවන දේ රූප නම්.

සද්ද : කණට ගොදුරු වන්නේ සද්ද (ශබ්ද) නම්.

ගන්ධ : නැහැයට අරමුණු වන්නේ ගන්ධයයි.

රස : දිවට අරමුණු වන්නේ රසයයි.

කාය විඤ්ඤාණය පහළවීම සඳහා කයට ගොදුරු වන්නේ ස්පර්ශයයි. එහෙත් පොට්ඨබ්බ නමින් විශේෂ රූපයක් හඳුන්වා දී නොමැත. යම් කිසිවක් හා ගැටීම ඇති වන්නේ මහාභූත සතරින් පඨවි, තේජෝ, වායෝ යන තුනටය. ඒවා ඉහත ගෝචර රූපයන්ගෙන් ප්‍රකාශ වන හෙයින් පොට්ඨබ්බ (ස්ප්‍රෂ්ටව්‍ය) නමින් විශේෂ රූපයක් නො දක්වේ.

## භාව රූප :

ස්ත්‍රී - පුරුෂ භේදය අනුව භාව රූප දෙකකි. මවු කුසක පිළිසිඳ ගැනීමත් සමඟ ස්ත්‍රී භාව, පුරුෂභාව ලක්ෂණවල මූලබීජ පහළ වේ.

## හදය රූප :

මනෝ ධාතු, මනෝවිඤ්ඤාණධාතු දෙකෙහි ආශ්‍රය ස්ථානය හදයරූප නමින් දක්වේ. හෘදය වස්තුවේ අඩපතක් පමණ ලෙය ඇසුරු කොට ගෙන උපදින සිත්වල මූලස්ථානය හදය රූප නමින් හැඳින්වේ. පෙලෙහි මේ නාමය යොද නැතත් සිත ඉපදීමට ආශ්‍රය ස්ථානයක් දක්වීමේ අවශ්‍යතාව සලකා ආභිධර්මිකයන් විසින් මෙසේ යොද ඇත. දැනීමේ ශක්තිය මුළු සිරුර පුරාම විසිර ඇතත් වෙනත් බොහෝ ලක්ෂණ අනුව මනෝවිඤ්ඤාණය හෘදයත් මොළයත් යන දෙකම ආශ්‍රය කර ඇති බව වෙනත් විචාරකයෝ සඳහන් කරති.

## ජීවිත රූප :

තමා සමඟ උපන් වෙනත් රූපයක් ජීවත් කරවීමේ ශක්තිය ඇත්තේ යමකට ද ඒ ජීවිත රූප නමින් හැඳින්වේ. ජීවිතින්ද්‍රියය නාම හා රූප වශයෙන් කොටස් දෙකකට බෙද දක්වෙන අතර සිතෙහි ඇති ජීවී ස්වරූපය නාම වශයෙන් ද රූප කොටස හෙවත් රූපජීවිතින්ද්‍රිය ජීවිතරූප නමින් ද හැඳින් වේ. එය සතරමහාභූත ශක්තියෙන් පහළ වූ සත්ත්ව, වෘක්ෂලතා ආදී සියලු තැනකම ඇති ජීවිත රූපයයි.

## ආහාර රූප :

අනුභව කරන දෙය ආහාරයයි. ආහාරය නිසා සත්ත්ව ශරීරයේ යම්කිසි ජීව පදර්ථයක් හටගනී. ආහාර රූප නමින් දක්වෙන්නේ එයයි. සිරුරෙහි පැවැත්මට හා ආරක්ෂාවට ආධාර වන්නේ ආහාර රූපයයි.

මෙතෙක් දක්වා ඇති රූප අටළොස **නිෂ්පන්න රූප** නම්. රූපයන් අතර ඒවා ප්‍රධාන තැනක් ගනී. යම් යම් හේතු ප්‍රත්‍යයන් නිසා හටගත් යන අරුතින් **නිෂ්පන්න රූප** යන නම යෙදේ. කම්ම, චිත්ත, උතු, ආහාර යන කරුණු නිසා හටගත් රූප එයට ඇතුළත් ය.

**අනිෂ්පන්න රූප** නමින් හැඳින්වෙන පහත සඳහන් කෙරෙන රූප දසය කම්ම ආදි වූ කිසිදු හේතුවකින් හටගත් රූප නොවේ. එසේම, ඒවායෙහි ඇත්තේ රූපය සතු හැඩහුරුකම් විනා රූපයේ භේද නොවන හෙයින් උපචාර වශයෙන් රූප සංඛ්‍යාවට ඇතුළත් කොට ඇතැයි සලකනු ලැබේ.

## ආකාස (පරිච්ඡේද) රූප :

රූප දෙකක් හෝ වැඩි ගණනක් අතර ඇති පරතරය ආකාස නම්. සිරුර පුරාම ආකාශ රූපය පැතිරී ඇත. රූපයන්හි වෙන් වෙන් බව දක්විය හැක්කේ ආකාස රූපය පැතිරී ඇති හෙයිනි.

## විඤ්ඤත්ති රූප :

මේවා කාය විඤ්ඤත්ති, වචී විඤ්ඤත්ති වශයෙන් ද්විවිධය. විඤ්ඤත්ති, නම් අනෙකෙකුට යම් කිසිවක් ඇඟවීමය. අත්, පා, හිස ආදී යම්කිසිවක් චලනය කිරීමෙන් කයින් යමක් අඟවයි. වචන උච්චාරණය කිරීමෙන් ද යමක් ඇඟවිය හැකිය. මේ අවස්ථාවන්හි දී චිත්තජ වායෝධාතුව මුල් කොට ගෙන ඇති වන බලවේගය කාය හා වචී විඤ්ඤත්ති රූප වශයෙන් හැඳින්වේ.

## විකාර රූප :

ලහුතා, මුදුතා, කම්මඤ්ඤතා යන තුන විකාර රූප නම්. සැහැල්ලු බව, මොළොක් බව හා ක්‍රියාකාරීවීමට යොග්‍ය බව යනු ඒ නම් තුනෙහි අදහසයි. විකාර රූප යනුවෙන් හඳුන්වනු ලබන්නේ ඉහත සඳහන් නිෂ්පන්න රූප යන්ගේ වෙනස්වන අවස්ථා තුනක් ඒවායින් දක්වෙන හෙයිනි.

## ලක්ඛණ රූප :

උපචය, සන්තති, ජරතා, අනිච්චතා යනුවෙන් රූපයෙහි ලක්ෂණ සතරක් දක්වේ. උපචය නම් හටගැනීමයි. සන්තති යනු එකී රූප පරපුරක්සේ පැවැත්මය. ජරතා යනු දිරාපත් ව යාමයි. අනිච්චතා නම් බිඳ විනාශ වන ස්වභාවයයි. සිත පිළිබඳව දක්වෙන උප්පාද, ඨිති, භංග යන අවස්ථා හෙවත් ක්ෂණයන් මෙහි දී කොටස් සතරකට බෙද ඇත. ඉන් උපචය ඉපදීම සඳහා ද සන්තතිය පැවැත්ම සඳහා ද ජරතා අනිච්චතා දෙක කෙමෙන් දිරායාම හා විනාශවීම සඳහා ද යොද ගෙන තිබේ.

මෙසේ අටවිසි ආකාරයකින් දක්වන ලද රූප කිසිවිටෙක තනිව පැවැත්මක් නැත. රාශියක් එක්ව කලාප (මිටි) වශයෙන් ඒවායේ පැවැත්ම සිදු වේ. රූපයන්හි ප්‍රධාන වූ පඨවි, ආපෝ, තේජෝ, වායෝ යන සතර හා වණ්ණ, ගන්ධ, රස, ඕජා යන අට වෙන් කළ නො හැකි ලෙස අඩු – වැඩි වශයෙන් සියලු රූපයෙක්හිම ඇති හෙයින් අවිනිබ්භෝග නමින් ද සුද්ධට්ඨක නමින් ද ව්‍යවහාර කෙරේ. මේවා සත්ත්ව ශරීරයෙහි මෙන් ම සෙසු සියලු දෙයකම ද ඇත. කෙස් ගසක, දිය බිඳක මෙන්ම ඇසට නො පෙනෙන පරමාණුවෙහි ද මේ රූප අට වෙන් කළ නො හැකි ලෙස පිහිටා ඇත.

රූප උපදනා හේතු සතරකි. එනම්, කම්ම, චිත්ත, උතු, ආහාර යනුවෙනි. මේ හේතූන් නිශ්‍රය කොට ගෙන උපදනා රූපයන් කම්මජ, චිත්තජ, උතුජ හා ආහාරජ යනුවෙන් කොටස් සතරකට බෙදේ. ඒවා වනාහි කලාප සංයෝගය අනුව අවබෝධ කර ගත යුතු ධර්මයෝයි.

## කම්මජ රූප :

කුසලා කුසල කර්ම හා සම්බන්ධ වූ චේතනා චෛතසිකය මුල් කොට ගෙන කර්මජ රූපකලාප පහළ වේ. වෙන් කළ නො හැකි සුද්ධට්ඨක රූප සමඟ ජීවිත රූපය එකතු වීමෙන් ජීවිත නවක නම් කර්මජ රූප කලාපයක් පහළ වේ. අනතුරුව ජීවිත නවකයට ප්‍රසාද, භාව හා වත්ථු රූප එක්ව දසක (දහයේ කොටස්) අටක් සැදේ. ඒවා මෙසේයි :— සුද්ධට්ඨකයට ජීවිතින්ද්‍රියයක් හා රූපදැකීමේ ශක්තිය (චක්ඛුප්පසාද) එකතු වූ විට චක්ඛුදසක නමින් ව්‍යවහාර කෙරේ. සෝතදසක, ඝාණ දසක, ජිව්හා දසක, කායදසක, ඉත්ථිදසක, පුරිසදසත, වත්ථුදසක, යන දසකයන් ද එබඳුය. මේවා කර්මානුරූපව මවුකුසයෙහි පහළ වන කම්මජ තේජෝ ධාතුවෙහි ශක්තිය අනුව ප්‍රතිසන්ධියෙහි දී පහළවන රූප කලාපයෝ වෙති.

## චිත්තජ රූපකලාප :

'වෙන් කළ නො හැකි' රූප අට සමඟ යෙදෙන සිතින් උපදනා රූප සමූහ සයකි. එනම් කායවිඤ්ඤත්ති, වචී විඤ්ඤත්ති, සද්ද, ලහුතා, මුදුතා, කම්මඤ්ඤතා යනුවෙනි. ප්‍රතිසන්ධියෙන් පසු දෙවැනි චිත්ත ක්ෂණයේ සිට චිත්තජ රූපකලාප පහළ වී නැති වී යයි.

## ඍතුජ රූපකලාප :

මෙය තේජෝ ධාතුවට අයත්ය. සිසිල් බව, උණුසුම යන ලක්ෂණ ඇති තේජෝ ධාතුවෙන් උපදනා රූප ඍතුජ නම්. අවිනිබ්භෝග රූප, ආකාශ, ලහුතා, මුදුතා, කම්මඤ්ඤතා, සද්ද යන මේවා හා එක්ව නිපදවෙන රූප ඍතුජ රූපකලාප නම්.

## ආහාරජ රූපකලාප :

ආහාරය නම් වූ ඕජාව නිසා මේ රූපකලාප පහළ වේ.

මවුකුසක ප්‍රතිසන්ධියෙහි පටන් මරණ මොහොත හෙවත් චුති සිත පහළ වන තුරු මේ රූප කලාපයෝ නො කඩව පවතිත්. මරණ මොහොතේදී කර්මජ රූපත්, අනතුරුව චිත්තජ, ආහාරජ, රූපත් නවතී. මරණයෙන් පසු මළ සිරුර සමඟ ඇතැම් ඍතුජ රූප පමණක් ඉතිරිවේ.

## 4. පරිච්ඡේදය

# නිර්වාණය

චිත්ත, චෛතසික හා රූප පිළිබඳ දැනීමක් ලබා ගැන්මෙන් අනතුරුව සිව් වැනි පරමාර්ථ ධර්මය වන නිවණ පිළිබඳ අනුබෝධ ඥානයක් ඇති කර ගැනීම පහසුවේ. නාම හා රූප ධර්මයන් විශ්ලේෂණාත්මකව හඳුනාගැනීම ආර්‍ය්‍ය සත්‍යාවබෝධයට මාර්ගය වන හෙයිනි.

සත්ත්ව, පුද්ගල වශයෙන් නම් කරනු ලබන නාම රූප ධර්ම ඉපදෙමින් නැසෙමින් භවයෙන් භවයට ගමන් කරයි. භූතරූප හා උපාදරූප නමින් වර්ග කරන ලද නිෂ්පන්න, අනිෂ්පන්න රූප ඇති වෙමින්, නැතිවෙමින් වේගයෙන් ගමන් කරයි. චිත්ත, චෛතසික, ඊටත් වඩා වේගවත්ය, ක්ෂණිකය. මේ වේගයෙන් වෙනස්වීම හා අස්ථිරභාවය තුළින් නාමරූප යන්ගේ අනිත්‍යතා ලක්ෂණ පිළිබිඹු කොට දක්වේ.

සත්ත්ව පුද්ගල වශයෙන් නම් කළ හැකි කිසිවක් නොවේ නම්, දක්නට ඇති දේ පවා නිත්‍ය නොවේ නම්, ඒ මුල්කොට ගෙන ඇති වන්නේ අතෘප්තියකි, අසහනයකි, නො සතුටකි. එය දුක නමින් හඳුනාගත හැකිය. නාම රූපයන්ගේ අනිත්‍යතාවත් එයින් දුකත් ඇති වන්නේ අධ්‍යාත්මික හෝ බාහිර කිසිවක් තමාට කැමති පරිදි ක්‍රියාත්මක කළ නො හැකි හෙයිනි. මේ ලක්ෂණය අනාත්ම යනුවෙන් හැඳින්වේ. යථාභූත ඥානය සඳහා මෙකී ත්‍රි ලක්ෂණය අවබෝධ කර ගත යුතුය.

නිර්වාණය වනාහි කිසිදු හේතු - ප්‍රත්‍යයක් නිසා හටගන්නා දෙයක් හෝ ස්වභාවයක් නොවේ. එය අසංඛතය, ඉපදීමේ අවස්ථාවක් එහි නැත, අජාතය. එහි මරණයක් ද නැත. අමතය. දේව බ්‍රහ්ම, ඊශ්වරාදී කිසිවකු විසින් ඇති කරන ලද්දක් නොවේ. එය අකතය. මෙසේ නිෂේධාර්ථ වාචක පද ඇසුරෙන් හඳුන්වා දෙන නිවණ සුඛ දුක්ඛාදී වින්දනයන් ගෙන් තොරය, අවේදයිතයකි. රාග දෝස මෝහාදී කෙලෙස් ආශ්‍රව ධර්ම සංසිඳීම නිසා එහි ඇත්තේ වූපසමය මුල් කොට ගත් සුවයකි.

නිවන් මග පියවර සතරකින් යුක්තය. පළමු පියවර සෝතාපත්ති නම්. ආර්‍ය්‍යමාර්ග නමැති දිය පහරට බැස ගැනීම යන අර්ථයෙනි. දෙවැන්න සකදාගාමිය, තෙවැන්න අනාගාමිය රහත්බව සිවුවැන්නය. සිව්වැනි පියවර තැබූ තැනැත්තා සියලු කෙලෙස් බැමි සිඳ, ඉවත් කළ අයෙකි. ඒ පිළිබඳ පූර්ණ අවබෝධය ලබාගත් අයෙකි. ලෝභ, දෝස, මෝහ ආදී ඌවර නාමයන්ගෙන් හෝ හඳුන්වා දෙනු ලබන සිත කිලිටි කරන දේ සියල්ල ඔහු විසින් අවබෝධ කොට ගෙන අවසානය. එකී ආසවක්ඛය ඤාණය ලබා ගත් තැනැත්තා රහතන් වහන්සේයි.

ජීවිතයේ අවස්ථා දෙකක දී නිවණ සිදු වන අයුරු ධර්ම ග්‍රන්ථයන්හි එයි. එනම්:

**සෝපාදිසේස නිබ්බාණ ධාතු**

**අනුපාදිසේස නිබ්බාණ ධාතු** යනුවෙනි.

මෙහි උපාදි (උප + ආ + දා) නමින් දක්වෙනුයේ ස්කන්ධපඤ්චකයි, හෙවත් නාමරූප ධර්මයි. නාමරූප ඇති කල්හි, එකී නාමරූප ඇති කරන හේතුව වන තණ්හාව මුල්කොට ඇති සියලු කෙලෙස් මුළුමනින්ම දුන ක්ෂය කිරීම සෝපාදිසේස නිබ්බාණ වේ. බුද්ධ, පච්චේක බුද්ධ, අරහන්ත ආදී නම්වලින් හැඳින්වෙන්නේ ඒ අයුරින් නිවණ අවබෝධ කළ උත්තම යෝය.

ප්‍රතිසන්ධිය සමඟ ඇති වන ආයුෂ ප්‍රමාණය කෙළෙවර වීමත් සමඟ මරණය සිදුවීමේදී තෘෂ්ණාදී ආශ්‍රව රහිත ක්ෂීණාශ්‍රවයන් වහන්සේගේ විඤ්ඤාණය විසින් නැවත මව් කුසක් අල්වා ගනු නො ලැබේ. ගින්නක් තවත් තැනක එනා ඇවිලි මුළුමනින් නිවී යන්නාසේ ඒ ජීවිතය ඇසුරෙන් පැවති රූපාදී සියලු ව්‍යවහාරයන් එතෙකින් අවසන් වන හෙයින් ඒ අවස්ථාව අනුපාදිසෙස නිබ්බාණ නමින් හැඳින්වේ.

නිවණෙහි ආකාරය හෙවත් ලක්ෂණ හඳුනා ගැනීමේදී සුඤ්ඤත අනිමිත්ත අප්පණිහිත යනුවෙන් ප්‍රභේද තුනක් දක්නට ලැබේ. ත්‍රිලක්ෂණයන් පිළිබඳ විශිෂ්ට දැනීම මෙයින් අවධාරණය කෙරේ. 'මම ය, මාගේය'යි ගත යුතු කිසිවක් නො මැති හෙයින් අනාත්ම වශයෙන් සැලකීමේ දී නිවණ ශූන්‍යතා ලක්ෂණයෙන් යුක්තය. අනිත්‍ය වශයෙන් බලන කල්හි සත්ත්ව, පුද්ගල ආදී නම්වලින් හෝ හොඳ නරක ආදී ගුණ නාමයන්ගෙන් හෝ වෙනත් කිසිදු ආකාරයකින්, නිමිත්තකින් හඳුනාගත නොහැකි හෙයින් අනිමිත්ත නම් වේ. පණිහිත (ප්‍රති+ධා) යනු පැතුමයි. කෙලෙස් බරින් පිරුණු කල්හි දහසක් ප්‍රාර්ථනා ඇතිවේ. කෙලෙස් නිවුණු කල්හි ඒ සියලු පැතුම් නිමවේ. තෘෂ්ණා රහිත බව නිවණෙහි ප්‍රමුඛතම ලක්ෂණය හෙයින් අප්පණිහිත යන්න ඒ ලක්ෂණය නිරූපනය කරයි.

සතර පරමාර්ථ ධර්ම අතරින් පරම උත්තම, අතිශ්‍රේෂ්ඨ ධර්මය වශයෙන් නිර්වාණය තම තමා විසින් ම අවබෝධ කොට ගත යුතු වන අතර, එයම බෞද්ධ ජීවිතයේ පරමාර්ථයද වේ.

## හැඳින්වීම

බුද්ධධර්මය හා පාලි භාෂා පරිචය යටතේ ඇති III වැනි කොටසින් අපේක්ෂා කරනුයේ පාලි මූල ග්‍රන්ථ ඇසුරෙන් භාෂාව පිළිබඳ සාමාන්‍ය දැනීමක් ලබා දීමයි. මූල ග්‍රන්ථයන්ගෙන් තෝරාගත් පාලි ගද්‍ය හා පද්‍ය පාඨ මෙහි පළමුවෙන් දක්වා ඊට අනතුරුව සිංහල අදහස පදනුගතව ඉදිරිපත් කෙරේ. ස්වෝත්සාහයෙන්ම භාෂා ඥානය ලබා ගැනීමට වඩා පහසුවන පරිද්දෙන් ගාථාවන්හි පද සම්බන්ධය (අන්වය) ගාථාවට පසුව සඳහන් කොට ඇත. ආධුනික ශිෂ්‍යයාට කියවා ගැනීමේ පහසුව තකා සියලු බැඳි අකුරු (සංයුක්ත) හල් අකුරු බවට පත් කරන ලදී.

මූලික ශ්‍රේණිවලදී ලබා ගෙන ඇති භාෂා ඥානය උපයෝගී කොට ගැනීමෙන් හා මෙහි ඇති සිංහල අනුවාදය ද ඇසුරු කර ගැනීමෙන් ආධුනිකයාට වඩා සරලව ප්‍රායෝගික වශයෙන් සාර්ථක අවබෝධයක් ලබා ගැනීම පහසු වනු ඇත. නාමපද හා ක්‍රියාපද හඳුනා ගැනීමේ ශක්තියත්, උක්තාඛ්‍යාත සම්බන්ධය, විශේෂණ – විශේෂ්‍ය ප්‍රයෝගය, කාරක ලක්ෂණ ආදිය ප්‍රධාන කොට පාලි වාක්‍යරචනයෙහි විශේෂ වැදගත්කමක් දක්වන භාෂාරීති පිළිබඳ සාමාන්‍ය දැනීමකුත් මේ පාඨ ඇසුරෙන් පරීක්ෂා කර බලනු ලැබේ.

## 1. පරිච්ඡේදය

### ධම්ම පදය (උපුටාගත් කොටසකි)

### (1) යමක වග්ග—19 ගාථාව

බහුම්පි චෙ සහිතං භාසමානො
න තක්කරෝ හොති නරො පමත්තෝ
ගෝපෝ'ව ගාවෝ ගණයං පරෙසං
න භාගවා සාමඤ්ඤස්ස හෝති.

**පද සම්බන්ධය :**

පමත්තෝ නරෝ සහිතං බහුං අපි භාසමානෝ චේ තක්කරෝ න හෝති ; පරෙසං ගාවෝ ගණයං ගෝපෝ ඉව සාමඤ්ඤස්ස භාගවා න හෝති

**අදහස :**

පමා වූ මිනිසා බුද්ධ වචනය බොහෝ ප්‍රමාණයක් හෝ කියන්නේ නමුදු (එපමණකින්) ඒ කී දෙය කරන්නෙක් නොවේ ; අනුන්ගේ ගවයන් ගණිමින් බලා ගන්නා ගොපල්ලෙකු බඳු හෙතෙම මහණකමේ ප්‍රතිඵල ලැබීමට හිමිකරුවෙක් නොවේ.



5. ර.මු.නී.ස. 100233

**පමත්තෝ :** ප්‍රමාද වූ මිනිසා. ඇතැමෙක් සිල්වත් වුව ද බහුශ්‍රැත වුව ද සංස්කාර ධර්මයන් අනිත්‍යාදි ලක්ෂණත්‍රයට නඟා නුවණින් බැලීමට පසුබට වෙති. යෝනිසෝ මනසිකාරයෙන් යුතුව කල්පනා නො කරන එබඳු පුද්ගලයා පමා වූ අයෙකු සේ සැලකේ.

**සහිතං :** බුද්ධ වචනය. ත්‍රිපිටකය හැඳින්වීම සඳහා මෙය යෙදී ඇත. කාල – දේශාදී වශයෙන් එකිනෙකට විරුද්ධ නොවූ, පද ව්‍යඤ්ජන වශයෙන් මනා කොට ගැලපෙන, අර්ථවත් ඉගැන්වීම යන අරුත මින් වාච්‍ය වේ.

**සාමඤ්ඤස්ස:** මහණකමේ ප්‍රතිඵලය සඳහා. ශ්‍රමණ ජීවිතයේ හෙවත් පැවිදි බවෙහි නියම ඵලය මාර්ගඵලාවබෝධයයි. කෙලෙසුන් නසා නිවන් සැපත ලබා කර ගැනීමයි.

**ගාථාව 20 :** අප්පම්පි චෙ සහිතං භාසමානෝ
ධම්මස්ස හෝති අනුධම්මචාරී
රාගඤ්ච දෝසඤ්ච පහාය මෝහං
සම්මප්පධානෝ සුවිමුත්තචිත්තෝ
අනුපාදියානෝ ඉධ වා හුරං වා
ස භාගවා සාමඤ්ඤස්ස හෝති

**පද සම්බන්ධය :** (යො) සහිතං අප්පං අපි භාසමානෝ චෙ ධම්මස්ස අනුධම්මචාරී හෝති, සෝ රාගං ච දෝසං ච මෝහං ච පහාය සම්මප්පජානෝ සුවිමුත්තචිත්තෝ, ඉධ වා හුරං වා අනුපාදියානෝ සාමඤ්ඤස්ස භාගවා හෝති.

**අදහස :** (යමෙක්) බුද්ධවචනය ඉතා ස්වල්පයක් හෝ කියන්නේ නමුත් ඒ ධර්මයට අනුව දැහැමි ව හැසිරෙන්නේ වේ ද, හෙතෙම රාගය ද ද්වේෂය ද දුරු කොට, යහපත් දැනීමෙන් යුක්තව සියලු කෙලෙසුන්ගෙන් මනාව මිදුණේ, මෙලොව හෝ පරලොව හෝ (කිසිවක් මමත්වයෙන්) අල්වා නොගන්නේ මහණකමේ ප්‍රතිඵල ලැබුමට හිමිකරුවෙක් වන්නේ ය.

**ධම්මස්ස අනුධම්මචාරී :** (උගත්) දහමට සරිලන අයුරින් ජීවත්වන පුද්ගලයා.

**සම්මප්පජානෝ :** (සම්මා+පජානො) මනාව අවබෝධ කර ගත්තේ. නාම-රූප ධර්ම හෝ පඤ්ච ස්කන්ධයන් අනිත්‍යාදි වශයෙන් යථාර්ථයෙන් දැන අවබෝධ කර ගත් තැනැත්තේ.

**අනුපාදියානෝ :** (අන් + උපාදියානෝ) ඇලීම, බැඳීම, අල්වා ගැනීම ආදියෙන් තොරව. මෙලොව හෝ පරලොව අල්වා ගැනීම නම් උපාදානය යි. පුනර්භවයට හේතුවයි. මෙහි සඳහන් වනුයේ එකී උපාදානය දුරුකොට භව නිරෝධය කළ තැනැත්තා ය.

## II. පුප්ඵ වග්ග

3 ගාථාව : ඵේණූපමං කායමිමං විදිත්වා
මරීචධම්මං අභිසම්බුධානෝ
ඡේත්වාන මාරස්ස පපුප්ඵකානි
අදස්සනං මච්චුරාජස්ස ගච්ඡේ

පද සම්බන්ධය : ඉමං කායං ඵේණූපමං විදිත්වා මරීචිධම්මං අභිසම්බුධානෝ මාරස්ස පපුප්ඵකානි ඡේත්වාන මච්චුරාජස්ස අදස්සනං ගච්ඡේ.

අදහස : මේ කය පෙණ පිඩක් බඳු යයි දැන, මිරිඟුවක් බඳුය යි අවබෝධ කොට ගෙන මාරයාගේ මල්හි පාසයන් – පඤ්චකාම බන්ධනයන් සිඳ, මාරයාට නොපෙනෙන තැනට (අමරණීය නිවන් සුවයට) පත් වන්නේ ය.

ඵේණූපමං : කය හෙවත් බාහිර රූපය පෙණ පිඩුවකට උපමා කිරීම මුල් බුදුසමයේ ප්‍රකටය. රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ යන ස්කන්ධ පස පිළිවෙළින් පෙණ පිඬක්, දිය බුබුලක්, මිරිඟුවක්, කෙසෙල් කඳක් හා මායාවක් ලෙසින් අසාරත්වය මුල් කොට ගෙන හඳුන්වා දෙනු ලැබේ.

"ඵේණපිණ්ඩූපමං රූපං වේදනා බුබ්බුලූපමා
මරීචිකූපමා සඤ්ඤා සංඛාරා කදලූපමා
මායූපමං ච විඤ්ඤාණං දේසිතා දිච්චබන්ධුගා"
අංගුත්තර නිකාය.

මාරස්ස පපුප්ඵකානි : මාරයාගේ මල් හීසැර යන අදහස මෙහි දැක්වේ. කාම රූප අරූප භූමි තලයන්හි නැවත ඇති වීම් සංඛ්‍යාත පුනර්භවය එයින් සංකේතවත්ව ඉදිරිපත් කෙරේ.

මච්චුරාජස්ස අදස්සනං : මෘත්‍යුරාජයාගේ නො දැක්ම යනු ජාති ජරා මරණ යන්ගෙන් තොර වූ නිවන් අවබෝධයයි.

## III. බාලවග්ග

5 ගාථාව : යාවජීවම්පි චේ බාලෝ පණ්ඩිතං පයිරුපාසති
න සෝ ධම්මං විජානාති දබ්බී සූපරසං යථා

පද සම්බන්ධය : බාලෝ චෙ යාවජීවං අපි පණ්ඩිතං පයිරුපාසති, සෝ යථා දබ්බී සූපරසං (න විජානාති, තථා) ධම්මං න විජානාති

අදහස : බාල (අනුවණ) පුද්ගලයා ඉදිින් දිවි ඇති තෙක්ම පණ්ඩිතයෙකු (නුවණැත්තෙකු) ලඟින් ඇසුරු කරන්නේ නමුත්, ඔහු හැන්ද මාලු පිණි රසය නොහඳුනන්නා සේ, ධර්මය දැන නොගනී.

බාලෝ : බාල ශබ්දය විවිධාර්ථය. ධර්ම සාහිත්‍යයෙහි දී තෘෂ්ණාවෙන් පිරුණු, අල්පශ්‍රැත පෘථග්ජන මිනිසා වාච්‍ය වේ.

6 ගාථාව : මුහුත්තමපි චෙ විඤ්ඤූ පණ්ඩිතං පයිරුපාසති
ඛිප්පං ධම්මං විජානාති ජිව්හා සූපරසං යථා

පද සම්බන්ධය: විඤ්ඤූ චෙ මුහුත්තං අපි පණ්ඩිතං පයිරුපාසති, (සෝ) යථා ජිව්හා සූපරසං (විජානාති, තථා) ඛිප්පං ධම්මං විජානාති.

අදහස : නුවණැත්තා ඉදින් මොහොතක් හෝ නුවණැත්තකු ලඟින් ඇසුරු කරන්නේ ද හෙතෙම යම් සේ දිව මාලු පිණි රසය හඳුනන්නා සේ වහා ධර්මය දැන ගනී.

විඤ්ඤූ : (වි—ඤා — දැනීමෙහි) විශිෂ්ට දැනීමක් ඇත්තා. නුවණැති පුද්ගලයා.

පණ්ඩිතං : බුද්ධිමත්, නුවණැති, දක්ෂ යන අරුත් ගෙනදෙන විඤ්ඤූ ශබ්දයේම පර්යාය පදයකි. බාල, දුප්පඤ්ඤ යනාදිය මෙහි විරුද්ධාර්ථවත් පදය.

10 ගාථාව : මධුවා මඤ්ඤති බාලෝ යාව පාපං න පච්චති
යදා ච පච්චති පාපං අථ බාලෝ දුක්ඛං නිගච්ඡති.

පද සම්බන්ධය: පාපං යාව න පච්චති (තාව) බාලො (තං) මධු ඉව මඤ්ඤති. යදාච පාපං පච්චති අථ බාලො දුක්ඛං නිගච්ඡති.

අදහස : පාපය යම්තාක් විපාක නොදේද, ඒතාක් අනුවණයා එය මී මෙන් (රසවත්ව) සිතයි. යම් විටක පාපය විපාක දෙයි ද එවිට අනුවණයා දුකට පැමිණෙයි.

මධුවා : මධු ඉව (මධු ඉව = මධුව = මධුවා) විරිත සපුරා ගනු වස් ඉව ශබ්දයෙහි හ්‍රස්ව වකාරය දීර්ඝ කරගෙන ඇත. ''මී මෙන්''

පච්චති : පැසවීම, මුහුකුරා යාම, විපාක දීම යන අරුත්හි යෙදේ.

14 ගාථාව : අසතං භාවනමිච්ඡෙය්‍ය පුරෙක්ඛාරං ච භික්ඛුසු
ආවාසේසු ච ඉස්සරියං පූජා පරකුලේසු ච

15 ගාථාව : ''මමේව කතමඤ්ඤන්තු ගිහි පබ්බජිතා උභෝ
මමෙ ච අතිවසා අස්සු කිච්චාකිච්චේසු කිස්මිචි''
ඉති බාලස්ස සංකප්පෝ ඉච්ඡා මානෝ ච වඩ්ඪති.

**පද සම්බන්ධය:** (බාලො) අසතං භාවනං ඉච්ඡෙය්‍ය, භික්ඛුසු පුරෙක්ඛාරං ච, ආවාසෙසු ඉස්සරියං ච, පරකුලෙසු පූජා ච (ඉච්ඡෙය්‍ය) ''ගිහි පබ්බජිතා උභො මං එව කතං මඤ්ඤන්තු, කිච්චාකිච්චේසු කිස්මිචි මං එව අතිවසා අස්සු'' ඉති බාලස්ස සංකප්පො (එවං) ඉච්ඡා මානො ච වඩ්ඪති.

**අදහස :** (අනුවණයා) තමා කෙරෙහි නැති (නොනිසි) ගරු බුහුමන් කැමැති වෙයි, එසේම භික්ෂූන් අතුරෙහි පෙරමුණ ගැනීම ද, ආවාසයන්හි අධිපතිබව ද, (සිය ගොදුරුගම්න්) බැහැර පවුල්වලින් කෙරෙන පූජා ද (කැමති වෙයි.)

''ගිහි – පැවිදි දෙපිරිසම (මේ සියල්ල) මා විසින් කරන ලදැයි දැන ගනිත්වා, කුඩු – මහත් කටයුතුවලදී කවර අවස්ථාවක දී හෝ මා අනුව පවතිත්වා'' යනුවෙන් අනුවණයාගේ අදහස වේ. එසේ කැමැත්ත ද මානය ද වැඩේ.

**අසතං භාවනං :** අටුවාව අසන්තං සම්භාවනං ඉච්ඡති යනුවෙන් දක්වයි. ''තමා කෙරෙහි නැති, තමාට ලැබීමට නොනිසි ගරු බුහුමන් කැමති වීම'' යනුවෙන් අරුත් දැක්විය හැකි ය. එසේම අසතං යන පදය යෙදී ඇති තැන් අනුව ගතහොත් ''අසජ්ජනයාගේ ගරුබුහුමන් කැමති වෙයි'' යන අදහස ද වාච්‍ය වේ.

**කතමඤ්ඤන්තු:** (කතං (ඉති) මඤ්ඤන්තු) කරන ලද්දේ යයි දැන ගනිත්වා.

**අතිවසා අස්සු :** වශයෙනි – අණසක යටතේ පවතිත්වා.

ඉහත සඳහන් 14 වැනි ගාථාවෙන් අනුවණ පුද්ගලයාගේ ඉච්ඡාවන් ද, 15 වැනි ගාථාවෙන් මානය ද යන සංකල්පයන් සඳහන් වන හෙයින් ගාථා දෙක එකම සම්බන්ධයකින් යුක්ත ය.

## IV. පණ්ඩිත වග්ග

**12 ගාථාව :** කණ්හං ධම්මං විප්පහාය සුක්කං භාවෙථ පණ්ඩිතො
ඕකා අනෝකං ආගම්ම විවේකේ යත්ථ දූරමං

**13 ගාථාව :** තත්‍රාභිරතිමිච්ඡෙය්‍ය හිත්වා කාමෙ අකිඤ්චනෝ
පරියෝදපෙය්‍ය අත්තානං චිත්තක්ලේසේහි පණ්ඩිතෝ

14 ගාථාව : යේසං සම්බෝධිඅංගේසු සම්මා චිත්තං සුභාවිතං
ආදානපටිනිස්සග්ගේ අනුපාදය යේ රතා
ඛීණාසවා ජුතිමන්තෝ තේ ලෝකේ පරිනිබ්බුතා.

පද සම්බන්ධය: පණ්ඩිතො ඔකා අනෝකං ආගම්ම කණ්හං ධම්මං
විප්පහාය සුක්කං භාවේථ
යත්ථ විවෙකේ දූරමං තත්‍ර අභිරතිං ඉච්ඡෙය්‍ය,
කාමෙ හිත්වා අකිඤ්චනො පණ්ඩිතො චිත්තක්ලේසේහි
අත්තානං පරියෝදපෙය්‍ය,
යේසං චිත්තං සම්බෝධි අංගේසු සම්මා සුභාවිතං
යේ අනුපාදය ආදානපටිනිස්සග්ගේ රතා, තේ
ජුතිමන්තෝ ඛීණාසවා ලොකෙ පරිනිබ්බුතා.

අදහස : 12 නුවණැත්තා ගිහිගෙයින් (අනගාරිය සංඛ්‍යාත) පැවිදි බිමට පත්ව, අකුසල් දහම් වෙසෙසින් බැහැර කොට කුසල් දහම් වඩන්නේය.

13 යම් විවේකයෙක්හි ඇලීම දුෂ්කර ද, ඒ (විවේකයෙහි) ඇලීම කැමතිවන්නේය. කාමයන් බැහැර කොට කිසිදු පලිබෝධයක් නොමැති වූ නුවණැත්තා සිත කිලිටි කරන (අකුසලයන්ගෙන්) තමා පිරිසිදු කරගන්නේ ය.

14 යම්බඳු නුවණැතියන්ගේ සිත සම්බෝධියට යොමු කරන අංගයන්හි මනා කොට පුරුදු කරන ලද්දේ ද, යම් කෙනෙක් දැඩි අල්වා ගැනීම් රහිතව, නිවණෙහි ඇලුණාහු ද, ඒ දීප්තිමත් වූ කෙලෙස් දුරුකළා වූ රහත්හු ලෝකයෙහි පිරිනිවියාහු වෙති.

කණ්හං ධම්මං : "කළු දහම්" යනුවෙන් මෙහි යෙදී ඇත්තේ අකුසල ධර්මයෝ ය. එහි විරුද්ධාර්ථය වන කුසලධර්ම සඳහා සුක්ක - සුදු - යන පදය යෙදී තිබේ.

ඔක : ගෘහය, ගිහිගෙයි විසීම :

අනෝක : (අන් + ඔක) ගිහිගෙයින් ඉවත්වීම — පැවිද්ද.

විවේක : සිත කෙලෙස්වලින් — විවිධ පලිබෝධයන්ගෙන් — ඉවත් කර ගැනීම විවේක නම් (විවිච්චති)

අකිඤ්චනෝ : මිල මුදල්, කෙත් - වතු ආදී කිසිදු පලිබෝධයක් නැති, ඒවා අපේක්ෂා නොකරන පුද්ගලයා

ධම්මදෙසකෙ සක්කරිත්වා සබ්බවිහාරෙසු ධම්මකථං කථාපෙසි.. එකෙකස්ස ධම්මකථිකස්ස නාළිනාළිප්පමාණානි සප්පිඵාණිතසක්කරානි චතුරංගුල මුට්ඨිප්පමාණං ලට්ඨිමධුකං සාටකයුගංච මාසස්ස අට්ඨසු උපොසථ දිවසෙසු දාපෙසි.

සො එවමාදීනි අනෙකානි පුඤ්ඤකම්මානි කත්වාආයුපරියොසානෙ මරණමඤ්චකෙ නිපජ්ජි. අථ ගිලානං පස්සිස්සාමා'ති තතො තතො මහාභික්ඛුසංඝො සන්නිපතිත්වා ගණසජ්ඣාය' මකංසු. තදා දෙවතා පනස්ස ඡදෙවලොකතො ඡරථෙ ගහෙත්වා ආකාසෙ ඨත්වා මහාරාජ, අම්හාකං දෙවලොකො රමණියො අම්හාකං දෙවලොකො රමණියො'ති වත්වා අත්තනො අත්තනො දෙවලොකං ආගමනාය යාචිංසු. රාජා තෙසං වචනං සුත්වා යාවාහං ධම්මං සුණාමි තාව අධිවාසෙථා'ති තෙ හත්ථසඤ්ඤාය නිවාරෙසි. සංඝො ගණසජ්ඣායං නිවාරෙතීති මඤ්ඤිත්වා සජ්ඣායං ඨපෙසි. රාජා භන්තෙ කස්මා සජ්ඣායං ඨපෙථා'ති. මහාරාජ තයා හත්ථසඤ්ඤාය නිවාරිතත්තා'ති. භන්තෙ තුම්හාකං සඤ්ඤං නාදාසිං. දෙවතා ඡදෙවලොකතො ඡ රථෙ ආනෙත්වා අත්තනො අත්තනො දෙවලොකං ගන්තුං යාචන්ති, තස්මා තෙසං යාවාහං ධම්මං සුණාමි, තාව ආගමෙථා'ති සඤ්ඤං අදාසින්ති. තං සුත්වා කෙචි අයං රාජා මරණභයභීතො විප්පලපති. මරණතො අභායනකසත්තො නාම නත්ථී'ති මඤ්ඤිංසු. තතො අභයත්ථෙරො ආහ. ''කථං මහාරාජ සද්දහිතුං සක්කා ඡදෙවලොකතො ඡරථා ආනීතාති''ති. තං සුත්වා රාජා ආකාසෙ ඡ පුප්ඵදාමානි ඛිපාපෙසි. තානි ගන්ත්වා විසුං විසුං රථධුරෙ ඔලම්බිංසු. මහාජනො ආකාසෙ ඔලම්බකානි පුප්ඵදාමානි දිස්වා නික්කඞ්ඛො අහොසි. තතො රාජා ථෙරං පුච්ඡි. කතමො පන දෙවලොකො රමණියො' ති. ථෙරෙ, තුසිතභවනං පන මහාරාජ රමණියං බුද්ධභාවාය සමයං. ඔලොකෙන්තො මෙත්තෙය්‍යො බොධිසත්තො තස්මිංයෙ'ව වසතී'ති ආහ. තං සුත්වා රාජා තස්මිං ආලයං කත්වා මහාථූපං ඔලොකන්තො නිපන්නො'ව චවිත්වා සුත්තප්පබුද්ධො විය තුසිතභවනතො ආභටරථෙ නිබ්බත්තෙත්වා අත්තනා කතපුඤ්ඤස්ස ඵලං මහාජනස්ස පාකටං කාතුං රථෙ ඨත්වා, දිබ්බාභරණවිභූසිතො මහාජනස්ස පස්සන්තස්සෙ'ව තික්ඛත්තුං මහාථූපං පදක්ඛිණං කත්වා භික්ඛුසංඝං වන්දිත්වා තුසිතභවන'මගමාසි. සො පනා'යං රාජා මෙත්තෙය්‍යස්ස භගවතො අග්ගසාවකො භවිස්සති. කණිට්ඨයො දුතියසාවකො භවිස්සති. යො පනෙත්ථ වත්තබ්බො කථාපපඤ්චො, සො සබ්බො මහාවංසෙ ආවිභවිස්සති. අම්හෙහි පනෙත්ථ තං ගන්ථලාසව ත්ථාය උපෙක්ඛිත්තං,

දෙවත්තං උපනිට්ඨිතං ගතිවසා හිත්වාභවෙ සාධවො,
දුක්ඛං'නෙකවිධං 'නුභුය සතතං කත්වා විරියං ථිරං.
ඉච්ඡන්තා ජිනසාසනස්ස සුචිරං ඨානං සදා සාදරා,
කුබ්බන්තෙ'ව මනුත්තමග්ගකුසලං පප්පොන්ති සග්ගං සුඛං'ති.

දුට්ඨගාමණී අභයමහාරඤ්ඤො වත්ථු.

## දුටුගැමුණු අභය මහරජුගේ කථාවෙහි මේ පිළිවෙල කථාවයි

කාවන්තිස්ස මහරජතෙම විහාර මහා දේවිය සමඟ රුහුණෙහි රජය කරවමින් උපමා කළ නොහැකි පමණ මහදන් දෙමින් වසයි. ඉක්බිති එක් දිනෙක හෙතෙම භික්ෂු සංඝයාට පෙරවරු මහදන්දී පස්වරු දේවිය සමඟ සෙනඟ පිරිවරා මහත් ආනුභාවයෙන් තිස්ස මහාවිහාරයට ගොස් එතැන භික්ෂූන් වඳිමින්, ගිලනුන්හට බෙහෙත් පිළියෙල කරමින් අෂ්ටපාන හා සුවඳ දැවලින් යුතු බුලත් ආදියෙන් භික්ෂූන්ට උවටැන් කරමින් අනු පිළිවෙළින් ගල්තලාව පසෙක 'සිලාපස්සය' නම් පිරිවෙනට ගොස් එහි උගත් තෙර කෙනෙකුන් වෙත බණ ඇසීම සඳහා හිඳ ගත්තේය. එකල ඔවුනට තෙරුන් වහන්සේ දහම් දෙසන්නේ, ''මේ තොපගේ මහත් යසඉසුරු පෙර කළ පිනින් ලබන ලදී. දුනුදු තොපි ඒවා ස්ථිර කර ගනිවු'' යයි කියන්නේ මෙසේ ද කීහ :

''මේ මහාසැපත් තොප විසින් පින්කම කිරිමෙන් ලබන ලදි. දුනුදු නොපමාව පින් කළ යුතුය.''

ඒ අසා රජු සමීපයෙහි හුන් විහාර දේවිය මෙසේ ඇසීය : ''ස්වාමීනි, දුවක් හෝ පුතෙක් නැති අපට ඒ සම්පත් වලින් කවර වැඩක්ද ? ඒ සම්පත් නම් හිස් ඒවායි.'' ඒ අසා තෙරුන් වහන්සේ, ''දේවියනි, එසේ නම් ඇතුළ පිරිවෙන්හි මරණයට ලං වූ හෙරණ කෙනෙක් ඇත. ඔහු හා කථා කළ මැනවැ''යි කීහ. ඇය හෙරණුන් වෙත එළඹ වැඳ, ''කිම්ද ස්වාමීනි, දැඩි සේ ගිලන් වූයේ වෙහිදැ''යි විමසා එහි හිඳිමින් ''ස්වාමීනි, මෙයින් ඉවත්ව ගොස් කොතැනක උපදිනු කැමැත්තහුදැ''යි ඇසිය. හෙරණුන් විසින් ''දෙව්ලොව සිත්කලු ය, දෙව්ලොව යන්නෙමි''යි කී කල දේවිය (මෙසේ ද කීය :) ''ස්වාමීනි, දෙව්ලොව සම්පත් නම් කොටුවක (ගබඩාවක) තැන්පත් කළ ධාන්‍යයක් මෙනි; පින් සීමා සහිතය. වාසයෙහි වැඩීමක් හෝ පිනෙහි වැඩීමක් හෝ දක්නට නැත. උදර පින් රැස්කරන්නවුන්ට රජකම හා සමාන වූවක් නැත. ඒ කරුණ සිදු කිරිම පිණිස මගේ පුතා වන්න, ස්වාමීනි'' යි කීවාය. හෙරණ තෙමේ ඒ තො කැමැත්තේ නිහඬ විය.

ඉක්බිති ඇය ''දනාදී පින් කිරීමෙහි ලා රජකමෙහි බලය බලනු මැනවැ''යි කියා ඔහු හුන් තැන විසිතුරු වියන් බැඳ සුවඳ විලවුන් ගල්වා, සමන් මල් ඇතුරූ මොලොක් ඇතිරියක ඔහු නිදි කරවා, සකුරු පැන් පොවා, සුවඳ දැ සහිත බුලත් කෑමට දී, සඳුන් අගිල් ආදී සුවඳ ද ඇසමන් ඈ මල් ද පිරුණු කරඬු ද, පියුම් උපුල් හෙලපියුම් පොකුරු ද, විවිධ වර්ණවත් වස්ත්‍ර ද, භික්ෂූන් ගේ සිවුරු සඳහා සියුම් සළු ද, ගිතෙල් වෙඩරු මීපැණි සැලි ද, එසේම අෂ්ටපාන පිරවූ බඳුන් ද යි නොයෙක් උපකරණ රැස් කොට, ''දරුව, මේවා ඔබට දෙමි. කැමති පරිදි දන් දෙව''යි කියා, ''රජබවට පැමිණි කල සසුනට

සියලු උපකාර කළ හැකිය, මගේ දරුබව පතන්න, ස්වාමීනි''යි කීවාය. හෙරණ තෙමෙ ඒ දන සතුටු සිත් ඇත්තේ' රජබවට පැමිණි මා විසින් යසුනට අනුග්‍රහ කළ යුතු වන්නේ'ය යි සිතා එළඹ සිටි දෙව් ලොව හැරපියා ඈගේ වදන් පිළිගත්තේය. දේවිය ඒ පිළිගත් බව දන සතුටු සිතින් නික්ම ගියාය.

ඉක්බිති ඈය රජු හා සමඟ රියට නැග යන කල්හි ම හෙරණ තෙමෙ මිය ගොස් ඈගේ කුස තුළ පිළිසිඳ ගත්තේය. කුසට පැමිණියහුගේ තෙදින් දේවිය හුන් පැත්තේ රියසක නැබ තෙක් පොළොවෙහි ගිලුනේය. එයින් කරුණ දනගත් ඕතොමෝ ''හෙරණ තෙම කලුරිය කළේ වනැ''යි දූතයෙකු යවා කලුරිය කළ බව දන වෙහෙරට අවුත් මහත් ගෞරවයෙන් ආදහන කටයුතු කරවා මහදන් දී නුවරට ම ගියාය.

ඔහු පිළිසිඳ ගැන්මෙහිදී ඈට මෙබඳු දෙළක් උපන්නේය. ඒ බව දක්-වනුවස් මහාවංස ඇදුරෝ මෙසේ කිහ :

''මහපින් ඇති දේවියට මෙබඳු දෙළක් විය : ඉස්බක් පමණ දිග මී වදයක් හිස පැත්තෙහි තබා තමා දකුණු පැත්තට හැරී සයනයෙහි වැතිර ගෙන දෙළොස් දහසක් භික්ෂූන්ට මී දන් දී ඉතිරි මී වද කනු කැමැත්තේ විය. ඉක්බිති එළාර රජුගේ යෝධයන්ට ප්‍රධාන වූ යෝධයාගේ හිස සිඳ අසිපත සේදූ දිය ඒ හිස මතම සිටගෙන බොනු කැමැත්තේ ද විය. තවද අනුරාධපුරයෙහි ම තෙළුම් කෙතින් ගෙනා නොමැලවුණු මල් මාලාවක් පලඳින්නට ද, තිසා වැවෙන් ගෙනා දිය නා බොන්නට ද කැමැත්තක් විය.''

මේ දෙළ ලබා ගැනීම අපහසු හෙයින් ඈය රජුට නො පවසන්නී වැහැරී ගොස් පඬුවන් පැහැ ඇත්තී විය. ඉක්බිති නැවත නැවතක් විමසූ රජුට ඒ සියල්ල කීවාය. ඒ ඇසූ රජ තෙමෙ ''යමෙක් ඉස්බක් පමණ මීවදයක් දක්කේ නම් ඔහුට මහත් සම්පත් දෙන්නෙමි''යි නුවර බෙර හැසිරවිය.

ඉක්බිති දේවියගේ කුසෙහි වූවහුගේ තෙදින් ගොළු මුහුදු වෙරළෙහි අත් හැර දමූ යටිකුරු කරන ලද නැවක් තුළ විසිරියන් පමණ තැන මීමැස්සෝ මහත් මීවදයක් බැන්දහුය. එකල දනවු වැස්සෙක් ඒ දක රජුට දන්විය. රජු ඔහුට සත්කාර කොට දේවිය එහි ගෙන ගොස් විශාල මඩුවක් කරවා ඉහත කී ලෙසින් දෙළොස් දහසක් භික්ෂූන්ට මී පිළිගන්වා දේවිය ද වැළඳවිය. නැවත අනෙක් දෙළ සපයා දීම සඳහා ඇමතියන් රැස්කරවා ''එළාර රජු අපේ සතුරාය, කෙසේ නම් දෙළ ලබාදෙමුදැ''යි ඇසිය. ඒ අසා ඇමතියෝ ''වෙළුසුමන එහි ගිය කල්හි ඒ සියලු දෙළ සපුරා ලන්නේය''යි කීවාහුය. ඒ ඇසූ රජ තෙමේ වෙළුසුමන කැඳවා ඔහුට ඒ බව දන්විය. හෙතෙම, ''ස්වාමීනි, මට හැකි වෙතොත් ගෙනෙන්නෙමි''යි පිළිගත්තේය. ඉක්බිති රජ තෙමෙ ඔහුට මහත් සත්කාර කොට අවවාද (උපදෙස්) දී යැවිය. ඔහු ද

රජු වැද සිය ගෙට ගොස් කරණවැමියා කැඳවා සිළුවක් තබා හිස මුඩු කරවා, තම පිටෙහි ඉරි දක්වෙන සේ රතු රෙදි දෙකක් හැඳ උදෑසනින්ම පිටත් ව දීඝවාපියෙහි දී උදයෙහි අහර ගෙන හිරුරැස් නැගෙන කල වඩමන් තොටට පැමිණ එය රක්නා දහසක් දෙමළුන් විසින් කැඳවනු ලබන කල්හිත් ගඟින් එතරව ගොස් පරතෙර දෙමළුන් වෙත පැමිණියේය.

ඉක්බිති ඔවුන් විමසූ කල්හි, ''මම එළාර රජු වෙත යමි, මා එහි ගෙන යවු'' යයි කියා ගෙන යනු ලැබුයේ රජු දැක වැඳ සිටියේය. රජු ඔහු දැක, ''මිත්‍රය, ඔබ කොයින් ආවෙහිද''යි ඇසීය. හෙතෙම ''ස්වාමීනි, මම මාගම සිට ආවේ වෙමි''යි කීය. ''කුමක්හෙයින් ආවේ ද''යි රජු විමසූ කල්හි, ''ස්වාමීනි, එසේ නම් අසනු මැනව. කාවන්තිස්ස රජ නිතර ඇමතියන්ට ඔබේ දෙස් කියා බැණ වදී. එවිට මම එහිදී ''මෙසේ නො කිය යුතුය, එළාර මහරජ මහත් බලැති, මහත් තෙදැති අයෙකි, දැහැමිය, දැහැමින් රජ කරයි. යෝදයෙකු වූ හෙතෙම දහස් ගණන් යෝදයන් පිරිවරා සිටින්නේ අසුර බල පිරිවැරූ වේපචිත්ති අසුරයා මෙන් කිසිදු සතුරෙකු විසින් මැඩලිය නො හැක්කේයි'' මේ ආදි වශයෙන් ඔබ වහන්සේගේ සූර වීර ගුණ වණමින් සිටියෙමි. මගේ මෙපමණ වූ ම වරද සිත තබාගෙන ''තෝ මගේ ලක්දිව සතුරාගේ ගුණ වණන්නෙහිය''යි කියා මා අල්ලා දුබල කොට, කසාවත් හඳවා ''යව, තගේ එළාර වෙත සැපසේ වසව''යි මා රටින් නෙරපීය. ''එනිසා මම ඔබ වෙත ආවේ වෙමි''යි කීය. රජ තෙමේ ''මැනවැ''යි පිළිගෙන ''එහි ඔබ කවර වැඩක නියුක්තව සිටියේද''යි ඇසීය. ''ස්වාමීනි, මම අස්ගොව්වෙක් වෙමි. අසු පිට නැගෙන සැටි ද යුද්ධය ද දනිමි. කීප දිනකින් කාවන්තිස්ස බැඳ ගෙනවුත් ඔබ වහන්සේගේ දසයෙකු කරන්නෙමි, අද පටන් ගඟෙන් එතෙර ඔබ වහන්සේගේමය''යි කෑ ගසා කීය. රජ ඒ අසා මහත් සත්කාර කරවා දෙවු අස්ගොව් තනතුර දුන්නේය. හේ අසුන් රක්නේ සියලු අසුන් ම පරීක්ෂා කොට හඳුනා ගෙන ජවයෙන් යුක්ත වූ 'රණ මද්දව' නම් අසු (තමාට) තෝරා ගත්තේය.

ඉක්බිති ඔහු කීප දිනක් ඉක්මගිය කල්හි කුම්භකාර වීදියෙන් කළයක් ගෙන තිසාවැවෙන් පැන් ගෙනවුත් කොළොම් හොය තෙර නොපෙනෙන ස්ථානයක තැබීය. මානෙල් කෙතට ගොස් මානෙල් මල් කළඹක් ගෙනවුත් එහිම තැබුවේය. දෙවන දවස් උදෑසනම ඒවා ද ගෙන රණමද්දව නම් අසු පිටට නැඟ වීදියේ නැගෙනහිර දෙරටුවෙන් පිටතට ගොස් ''බොලවු, මම වේළුසුමනයැ''යි නම ප්‍රකාශ කොට ''මම රණමද්දවයා ආදි කොට ඇති මේ දේවල් ගෙන අපගේ රජු සමීපයට යන්නෙමි. එළාර රජතුමාට ඒ පුවත කියව්. හැකිවූවෝ මා අල්ලා ගනිත්වා''යි හඬ නගා කියා අශ්වයාට විලුඹින් සංඥවක් දී වේගයෙන් සැඟිරිය අතරට ගොස් අසුගේ වේගය අඩු කරමින් සෙමින් සෙමින් ගියේය. ඉක්බිති ඔහුගේ කථාව එළාර රජුට කීවා හුය. රජතුමා එය අසා ඇමතියන් හා කථාකොට තමාගේ චෛත්‍ය දමිළ නම් ප්‍රධාන යෝධයා කැඳවා ''පින්වත, නුඹ යෝදයින් සියයක් ගෙන වහා

ඔහු ලුහුබැඳ මරා අශ්වයා ගෙන එව''යි සෙන්පතියා සමඟ යැවීය. ඉක්බිති ඔවුන් කෑම අනුභවකොට, සියලු ආභරණවලින් සැරසී, මිණිකොඩොල් පැළඳ, දෙදෙනාම ආජානීය අසුන් පිට නැඟ යන්නේ සැගිරි පව්ව අසළට පැමිණියහ. ඉක්බිති වෙළුසුමන දුවන්නාවූ ඔවුන් දැක අස් වලල්ලක් කොට වහ වහා දිවීම නිසා කුර ගැටීමෙන් මහත් දූවිලි කඳක් නංවා දූවිලිවලින් අඳුරු කොට පඳුරු අතරේ අසුපිට හිඳගෙනම කොපුවෙන් කඩුව ඉවත් කොට ගෙල පමණ ඉහළින් අල්වාගෙන සිටියේය. වේගයෙන් යන්නවුන් ගේ හිස් සින්දේය. වෙළුසුමන එම හිස් බිම වැටෙන්නට නොදී ම ගෙන කෙස්වලින් ගැට ගසා අසුපිටම තබා අශ්වයන් ද ගෙන මධ්‍යාහ්නයේ මහවැලි ගඟේ වඩ්ඪමානක තොටට පැමිණියේය. එහි දහසක් පමණ ආරක්ෂක දෙමළ යෝදයෝ ''ඔහු අල්ලාගනිව්'' යයි වට කළාහුය. ඔහු ඔවුන් සමඟ යුද කරන්නේ යෝදයින් දහසක් මරා අසු සමඟ පැන එගොඩට ගියේය.

ඉක්බිති එගොඩ වඩ්ඪමානක දෙමළ යෝදයා එසේම මිනිසුන් දහසක් සමඟ වට කළේය. ඔහු ඔවුන් සමඟ යුද කරන්නේ නොයෙක් සිය ගණන් මිනිසුන් මරා ගියේය. එතැන් පටන් වඩ්ඪමානක තොට දහස් තොට යයි ද අස්ස මණ්ඩල තොට යයි ද ව්‍යවහාර කරත්.

ඔහු එදිනම අශ්වයන් ගෙන දීඝවාපි විලෙන් නා පැන් බී යන්නේ සවස් වේලෙහි මාගමට පැමිණියේය. එහි ප්‍රධාන දොරටුව විවෘත කර අවුත් රජදොරටුව අසළ අසුපිටින් බැස අසුන් වෙහෙස නිවා ශාලාවෙහි බැඳ උපුල් මල් මිටිය ද පැන් කළය ද කුණ්ඩලාභරණ සහිත හිස් දෙක ද ගෙන රජුට දැක්වීය. රජතුමා ඔහුට මහත් සත්කාර කොට රන්තැටියක් ගෙන්වා, එය කඩුව සේදූ පැණින් පුරවා රන් කුණ්ඩලාභරණ ඇති දෙමළ හිස් දෙක මත දේවිය සිටුවා නහවා පැන් පොවා මල් මාලාව පැළඳවීය. එකෙණෙහිම දේවියගේ දෙළ දුක් සන්හිඳුනේය. ඉක්බිති රජතුමා නැකැත්කරුවන් කැඳවා මේ දෙළදුකේ විපාකය කවරේදැයි විචාළේ ය. ඔවුහු මෙසේ පැවසූහ:

''දේවයිනි ; ශූරත්වයෙන්, වීරත්වයෙන්, බලවත්කමින් යුක්ත වූ මහා මේරුව මෙන් ස්ථිරසාරවූ, ගුණයට ආකරයක් බඳු, ධෛර්ය සම්පන්න වූ බුද්ධිමත් වික්‍රමයෙන් යුත් පුතකු ඔබතුමාට උපදියි.

දෙතිසක් දෙමළුන් නසා අසමාන යුද්ධයක් කොට මේ ලංකාව යටතට ගෙන එකම රාජ්‍යයක් කරන්නේ ය. රමණීය වූ අනුරාධපුරයෙහි වාසය කරමින් ධර්මාශෝක රජු මෙන් ශාසනය ද බබළවන්නේ ය.''

ඒ අසා රජතුමා සතුටු වූයේ ඔවුන්ට සත්කාර කරවීය. ඉක්බිති රජතුමා ඔහුගේ පිළිසිඳගැනීමෙන් දස එකඩමසක් ඉක්මගිය කල්හි එක් දවසක් විහාරයට ගොස් භික්ෂූන් වඳිමින්, පුදමින් ගිලන් භික්ෂූන්ට සිවුපසයෙන් උපස්ථාන කරමින් හැසිරෙයි. එකල්හි ඔහු එක් භික්ෂුවකගේ ශරීරයෙහි මකුණකු විසින් දෂ්ට කරන ලද ගැටයක් දැක, ''ස්වාමීනි, මෙය කුමක්දැයි''

විවාළේ ය. ''මහරජ, මකුණකු දණ්ට කළ තැනක්'' යැ'යි භික්ෂුන් වහන්සේ කී සේක. රජතුමා ඇඳෙහි උඩට දමන ඇතිරිල්ලක් නැති නිසා යයි සිතා උතුරු සළුව දෙනු කැමතිවුවත්, එකම සළුව නිසා එය නුදුන්නේය. ඉක්බිති අඹ පැන විසඳු මළුවට ගොස් ත්‍රිපිටකධාරි මහාතිස්ස තෙරුන් වැඩ හුන්නේ ය. එකල්හි තෙරුන් වහන්සේ ඔහුට මහාබුද්ධ සිහනාද සූත්‍රයෙන් ධර්මය දෙසූහ. උන්වහන්සේට ද රජතුමා පැහැදුනේ උතුරු සළුවක් දෙනු කැමැත්තේ එකම සළුව නිසා එම අදහස හැර දමා රජගෙට ගොස් ''භික්ෂූන්ටද තෙරුන් වහන්සේට ද බොහෝ වස්ත්‍ර යවන්නෙමි''යි සිතමින් සිටියේ වෙයි. එවෙලෙහි එක් කපුවෙක් අවුත් අඹ අතු අතරෙහි සිටියේ රජුට මෙසේ කීය:

''රජතුමනි, දෙන දෙය කෙරෙහි සිත පසු නොබස්සව,
පණ්ඩිතයෝ උපන් කුසල් සිත ආපසු ඇද නොගන්නාහුමය.
ඔබේ සිතට අනුකූලව කැමති පරිදි දානය දෙන්න. ඔබට මම සතුටුදායක වූ පණිවිඩ පහක් ගෙන ආවෙමි.''

මෙසේ කියා ''මහරජ, විහාර මහා දේවිය වාසනාවත් පින් ලකුණු වලින් සම්පූර්ණ වූ පුතකු වැදුවා ය. උපෝසථ නම් ඇත් කුලයෙන් එක් ඇතින්නක් අහසින් අවුත් විල්තොට සමීපයේ ඉතා සුදුවූ, බලයෙන් හා අංග ලක්ෂණ වලින් සම්පූර්ණ වූ ඇත් පැටවකු ප්‍රසූත කොට ගියාය. වලාහක නම් අය් කුලයෙන් එක් වෙළඹක් අහසින් අවුත් ශෝණ ගමේ අස් පැටවකු ප්‍රසූත කොට ගියාය. ගොළු මුහුදේ පටසළු ආදී බඩු වලින් පිරුණුවූ නැව් සැටක් පමණ පැමිණ තිබුණාහුය. අනන්තරවඩ්ඩ නම් තැන අසළ රජයේ මීමමෙන් දෙළොස් කිරියක් පමණ තැන තල් කඳක් පමණ රන් කඳන් මතුවීය. මේ මංගල පණිවිඩ පහ ගෙනාවෙමි. තවද ගිරිපාද දනව්වෙහි කොන්තරකච්ය පර්වත මහා විහාරයේ මහානාග තෙරුන් වහන්සේ තල් කඳන් සතක් පමණ උඩ අහස්හි හිඳ පිරිනිවන් පෑහ. මේ අනිත්‍යය ප්‍රකාශ කරන පණිවිඩයද නිසා සතුට උපන් තැනට සළුව දෙන්නැ''යි කීය. රජතුමා එය අසා සිනාසීය. මහරජ, කුමක් නිසා සිනහවීද'යි තෙරුන් වහන්සේ ඇසූසේක.

රජතුමා 'කපුවාගේ කථාව අසා සිනහසුනෙමි'යි කීකල්හි තෙරුන් වහන්සේ ද ඔහුගේ පෙර කර්ම සිහිකොට සිනහ පහළ කළහ. රජතුමා ද, 'ස්වාමීනි ඔබවහන්සේ කුමක් නිසා සිනාසුනාහුද'යි විචාරන ලද්දේ 'මහරජ, ඔබ අමරුප්පල නමින් සිටි කාලයේ වැලි වලින් සෑදූ සෑයක ඔසවන ලද නූල්වලින් වියූ කොඩියෙහි විපාකය ඔබ අද ලැබුයේ වේද'යි සිනහසුනෙමි'යි කීය. රජතුමා ද ඒ අතීත කර්මය විචාළේය. තෙරුන් වහන්සේ ද සියල්ල කී සේක. රජතුමා ද පැහැදුනේ තෙරුන්වහන්සේට උතුරු සළුවක් දී කොන්තරකච්ය මහා විහාරයට ගොස් තෙරුන් වහන්සේ ගේ ශරීර කෘත්‍යය (ආදහනය) නිම කරවා ධාතු ගෙන සෑයක් කරවිය. ඉක්බිති රන් ද සළු ආදිය ද ගෙන්වා, සියළු භික්ෂූන්ට ඇතිරිලි පිණිසද සිවුරු පිණිස ද රෙදි දුන්නේ ය. ඉක්බිති නුවර දනව් හා රටවැස්සන් සමඟ සත් දිනක් පුතාගේ

ජන්ම මංගල්‍යය කරවිය. එයින් පසු කලක ඔහුගේ නම් තැබීමේ මඟුල් දින රජතුමා මහ දන් පවත්වා ''මගේ පුතාගේ නම් තැබීමේ මඟුල් දින දෙළොස් දහසක් භික්ෂූන් වහන්සේ වළඳත්වා'' යි භික්ෂූ සංඝයාට ආරාධනා කොට මෙසේ සිතීය. එහෙයින් මහාවංශයෙහි කියන ලදි :

''ඉදින් මේ මගේ පුත්‍රයා නිර්මල වූ ලංකාවෙහි රාජ්‍යය ගෙන බුද්ධ ශාසනය බබුළුවන්නේ නම් එක්දහස්අටක් භික්ෂූන්වහන්සේ පිවිසෙත්වා, උන් වහන්සේ සියලුදෙනම උඩුකුරු පාත්‍රා ඇතිවම සිවුරු පොරවත්වා, පළමුව දකුණු පය එළිපත්තෙහි තබත්වා, එක් ඡත්‍රයකින් යුත් වූ පෙරනය සහිත දිය බඳුන ද (ධම්ම කරකය) පසෙකින් තබත්වා,

ගෝතම නම් තෙරුන්වහන්සේ පුතු පිළිගනිත්වා, උන්වහන්සේම තිසරණය සහිත සීලය දෙත්වා'යි සිතීය. සියල්ල එසේම සිදුවිය.''

රජතුමා ඒ සියලු නිමිති දැක සතුටු සිත් ඇත්තේ භික්ෂූ සංඝයා වඩා හිඳුවා ප්‍රණීත කිරිබතින් වළඳවා ''ස්වාමීනි, මගේ පුතුට කිනම් නමක් සුදුසුද''යි විචාළේ ය. ඉක්බිති ඔහුට භික්ෂූහු මෙසේ නමක් කීවාහුය. එය මෙසේ කියන ලදි :

''මාගමට නායක බවද තම පියාගේ නමද යන දෙක එකතු කොට ගාමණී අභයයැ''යි (නම් කළාහුය.)

අනතුරුව ඒ අවුරුද්දේම විහාර මහා දේවිය, අනෙක් පුතකු වැදුවාය. ඔහුට තිස්ස යයි නම් කළාහුය. ඒ කුමාරවරු දෙදෙන දිව්‍ය කුමාරවරුන් මෙන් මහත් පිරිවරින් වැඩෙත්.

ඉක්බිති බත් කැවීමේ මඟුල පැමිණි කල්හි රජතුමා පන්සියයක් පමණ භික්ෂූ සංඝයාට ආරාධනා කොට මහදන් පවත්වා භික්ෂූන් වළඳන කල්හි රන් බඳුනක් (කෝප්පයක්) ගෙන දේවිය සමඟ සියල්ලන්ගෙන් ඉඳුල් බත් ටික ටික ගෙන මෙසේ දිවිරීම කරමින් කුමරුන් ඉදිරියෙහි තැබූහ. ''පුතුනි, තොප මේ ලෝක ශාසනභාරය උදුරා ඉවත්කර දමන්නාහු නම් නුඹලාගේ කුසට ගිය මේ ආහාරය නොදිරාවා''යි දෙවීය.

ඒ කුමාරවරු දෙදෙනා කියන ලද්දෙහි අර්ථය දැන සතුටු සිතින් ඒ ඒ කිරිබත් අමෘතයක් මෙන් අනුභව කළාහු ය.

ඉක්බිති රජතුමා ඔවුන්ට දස දෙළොස් හැවිරිදි කාලයෙහි සිත විමසනු පිණිස පන්සියයක් පමණ භික්ෂූ සංඝයා රැස්කරවා මහා දන් සූදනම් කර භික්ෂූන් වළඳවා රන් භාජනයකින් පෙර මෙන් ඉඳුල් බත් ගෙන කොටස් තුනක් කොට ඔවුන් ඉදිරියේ තබා මෙසේ කීය. එහෙයින් කියන ලදි :

''දරුවනි, අපගේ කුල දෙවියන් වූ භික්ෂූන්ට අපි විරුද්ධ නො වෙමු''යි සිතා මේ භාගය අනුභව කරන්නැ'යි ද, සහෝදර දෙදෙනා වූ අපි නිත්‍ය යෙන්ම ඔවුනොවුනට ද්‍රෝහි නො වී සිටින්නෙමු'යි සිතා මේ කොටය අනුභව කරන්නැයි ද, දෙමළුන් සමඟ යුද නොකරන් නෙමු'යි මේ කොටස අනුභව කරන්නැයි ද මෙසේ රජතෙමේ. රාජ කුමාරවරුන් මෙහෙය වීය.''

එය අසා ඔවුහු (තුන් කොටසින්) දෙකොටසක් අමෘතය මෙන් අනුභව කළාහුය. අන්තිම කොටස ගත් තිස්ස කුමරු බත් පිඩ බිම හෙළීය. ගැමුණු කුමරා ද එසේම ඉවත දමා නැගිට යහනට ගියේ අත් පා හකුළා වැද හොත්තේ ය. ඒ දැක විහාර දේවිය ඇඳ ළඟට අවුත් ''පුත, කුමක් නිසා අත් පා දිග හැර සුවසේ නොනිදන්නෙහි ද ? සුවසේ නිදන්නැ'යි කීවාය. කුමරා ඈට ඒ කරුණ (හේතුව) කියන්නේ මෙසේ කීය.

''ගඟින් එගොඩ දෙමළ ගිනි සිළ මෙන් වසති, මේ පැත්තෙන් ගොළු මුහුද ය. මම කෙසේ නම් සුවසේ නිදම් ද ?''

රජතෙමේ එය අසා ඔවුන්ගේ සිත් දැන ඇත් අස් කඩු ශිල්ප ආදියෙහි ද සියලු කලාවන්හි ද හික්මවා නිමාවට පත් කරවීය. ඉක්බිති ගැමුණු කුමරා :

''(ඔහු) පින් ඇතිව, යසසින් යුතුව, බුද්ධිමත්ව තෙද බල පැරකුම් සහිතව දිනෙන් දින වැඩෙන්නේ සොළොස් හැවිරිදි වියට පත්විය.

එකල ඒ ගැමුණු රජකුමර තෙමේ ඇත් අස් කඩු ශිල්පයන්හි දක්ෂව මනා පුහුණුවක් ලබා මාගම වාසය කෙළේ යි.''

අනතුරුව කාවන්තිස්ස රජතුමා දසමහ යෝධයන් සූදනම් කොට පුතුන්ට උපස්ථාන කරවිය. දස මහා යෝධයෝ නම් :

''නන්දිමිත්‍ර, සුරනිමල, මහාසේන, ගොඨයිම්බර, ථෙරපුත්තාභය, භරණ, වේළුසුමන, (එසේම) ඛඤ්ජදේව, ඵුස්සදේව, ලභිය වසභ යන මහා බලවත් දසමහා යෝදයෝ ඔහුට වූවාහුය.''

ඔවුන් අතරින් එක් අයෙක් දසයක්ද, නැවතත් එක් අයෙක් දසයක්ද'යි මෙසේ තුන් වරකට ඔවුහු යෝධයන් එක් කොටගෙන සකස් කළාහු ය. ඒ යෝධයෝ වනාහි :

''මහත් බලපරාක්‍රම ඇත්තාවූ ඒ එකතු කරන ලද යෝධයෝ එකොළාස් දහස් එකසිය දස දෙනෙක් වූහ.''

රජු ද ඔවුන්ට ගම් නියම ගම් කෙත්වතු ආදිය දී තිස්ස කුමාරයා ජනපද ආරක්ෂා කිරීම පිණිස බලසෙනග හා වාහන දී දීඝවාපියට යැවී ය. ගැමුණු කුමාරයා පියා සමීපයේ නැවතුණේය. අනතුරුව ඔහු ඇත් අස් රිය පාබල ආදී සිවුරඟ සේනාවද, දසමහා යෝදයන්ද දෙස බලන්නේ, ''දූත් දෙමළුන්

සමඟ යුද්ධ කරන්නෙමි''යි සිතා ඒ පුවත පියරජුට කියවිය. ''මට ලෝක ශාසනයට අනුග්‍රහ කිරීමට මේ කාලයයි. එහෙයින් එය අනුදනිවා'' යි යනුවෙනි. රජතුමා එය අසා යුද්ධයෙහි ජය පරාජය නම් දැන ගැනීමට නොහැකි ය. මේ දෙමළ සේනාව විශාල යැයි සිතමින් පුතුන් රැකීම සඳහා ද අපට මෙගොඩ ප්‍රමාණවත්ය'' කියා දෙමළුන් සමග යුද්ධයට අවසර නුදුන්නේ ය. ඉක්බිති කුමාරයා දෙවනුව ද, තෙවනුවද පියා සමීපයට යැවීය. සිව්වන වර අත් ගෙල ආදියට පළඳින ස්ත්‍රී ආභරණ කරවා පියා සමීපයට යැවීය. එහෙයින් මහාවංශයෙහි කියන ලදි :

හෙතෙම ''මගේ පියා පුරුෂයෙක් නම මෙසේ නොකියත්මය, එහෙයින් ඔහුට ස්ත්‍රී ආභරණ පළඳවන්නැ''යි කියා යැවීය. රජ ඔහුට කිපී ''රනින් සැකිල්ලක් කරවූ. ඉන් ඔහු බැඳ තබන්නෙමි, වෙනත් ක්‍රමයකින් ඔහු රැකිය නොහැකි යැයි'' කීය.

ඉක්බිති කුමාරයා පියාට කිපී මලය (කඳු) රටට ගියේය. ඔවුහු ''පියාට දුෂ්ට වූ බැවින් ඒ කුමරු දුෂ්ට ගාමණී යැයි ව්‍යවහාර කළාහුය.

අනතුරුව රජතුමා තුශ්ගල සෑය කරවා චෛත්‍යය පූජා දිනයෙහි භික්ෂූන් රැස් කරවීය. සූවිසි දහසක් භික්ෂූහු රැස්වූවාහුය. එකල යෝධයන් රැස්කරවා භික්ෂු සංඝයා මැද ''මාගේ ඇවෑමෙන් පුතුන් කලහ කරන තැනට නොයා යුතුය'' කියා දිවිරීම් කරවීය.

පසු කලෙක තිස්ස කුමරා පියා මළ කල්හි දීඝවාපියෙන් අවුත් ඔහුගේ ශරීර (ආදාහන) කෘත්‍යය නිම කරවා මවද කණ්ඩුල ඇතා ද ගෙන සොහොයුරාට බියෙන් දීඝාවැවටම ගියේය. ඉක්බිති ඇමතිවරු මාගමෙහි රැස්ව මේ බව කියා ''වහා එන්නැ''යි දන්වා දුටුගැමුණු කුමරු වෙත ලිපියක් යැවූහ. හෙතෙම එය අසා වහා බුත්තලට අවුත් රැකවරණ සලස්වා එතැනින් මාගමට ගොස් එහිදී ඇමතියන් විසින් අභිෂේක කරන ලද්දේ ''මවද කණ්ඩුල ඇතා ද ගෙන එන්නැ''යි බාල සොයුරා වෙත දූතයකු යැවීය. අනතුරුව තිස්ස කුමරා ''අප පියා මරණයට පත්විය. මවට උපස්ථාන කරමින් මෙහිම වාසය කරන්නෙමි''යි කියා (මව සහ ඇතු) නො යැවීය. ගැමුණු රජ ඒ අසා ''මම වැඩිමහල්ලා වෙමි. එහෙයින් මවට උපස්ථාන කිරීම මටම බාරය. මමම උපස්ථාන කරන්නෙමි. ඉදින් ගෙන නොඑන්නේ නම් ගෙනෙන උපායක් කරන්නෙමි''යි කෝපයෙන් හසුනක් යැවීය. කුමරා මව නොඑවන්නේම ය.

ඉක්බිති ඒ දෙදෙන සේනාව රැස්කොට චුල්ලංගණිය පිටියේ මහා යුද්ධයකට එළඹ සිටියාහු ය. එහෙයින් මහාවංසයෙහි කියන ලදි :

''චුල්ලංගණිය පිටියේදී සහෝදර දෙදෙනාගේ මහා යුද්ධයක් විය. දුටුගැමුණු රජුගේ නොයෙක් දහස් ගණන් සේනාව එහි වැටුණාහු ය. (මළාහුය) රජතුමා ද තිස්ස ඇමතියාද දීඝතුනිකා නම් වෙළඹ දයන තිදෙනම පලාගියහ. තිස්ස කුමරා ඔවුන් ලුහු බැන්දේය. ඒ දැක භික්ෂු සංඝයා ඔවුන් වළකාලීමට දෙදෙන අතර ගල් කන්දක් මැවීය. ඒ දැක භික්ෂු සංඝයාගේ ක්‍රියාවක් යැයි සිතා ඔහු නැවතුණේය.''



8. ර.මු.නී.ස. 100233

ඉක්බිති රජතුමා පලා යන්නේ කප්කදුරු 'හොය' නදියෙහි ජලමාලී නම් තොටට පැමිණ සන්නාහය මුදා තිස්ස ඇමතියාට මෙසේ කීහ. ''සාගිනි ඇත්තේ වෙමි, කෑමට කිසිවක් ඇද්ද''යි කීය. ඔහු රන් බඳුණෙන් බත් ගෙන දුන්නේ ය. රජතුමා සංඝයාට නොදී අනුභව නොකළ විරුහෙයින් බඳුනේ බත් තමාට ද ඇමතියාට ද වෙළඹට ද සංඝයාට දැයි කොටස් හතරක් කොට, ''තිස්සයෙනි, භික්ෂු සංඝයාට අඬගාවයි'' කිය. ඔහුද ''ස්වාමීනි ආහාර අනුභවයට මේ කාලයයි. එළඹෙන්නැයි'යි ඝෝෂා කළේය. ඒ අසා පුවඟු දිවයින වැඩසිටි, ශික්ෂාපද කියාදෙන, ගෝතම තෙරුන්වහන්සේ තමාගේ අන්තේවාසික කුටුම්බිය පුත් තිස්ස තෙරුන්වහන්සේ කැඳවා ඒ අදහස කියා යැවූහ. උන්වහන්සේද අහසින් අවුත් ඔවුන් ඉදිරියේ පෙනී සිටියහ. ඉක්බිති රජතුමා උන්වහන්සේ අතින් පාත්‍රය ගෙන සංඝයාගේ කොටස ද තමාගේ කොටසදැයි කොටස් දෙකක් දුන්නේය. ඉක්බිති වෙළඹද තමාගේ කොටසද දෙනු කැමැත්තේ කුර ගැටීමෙන් තමාගේ අදහස හැඟවීය. එය දුන ඇගේ කොටසද පාත්‍රයේ බහා පිරුණු පාත්‍රය රජතුමා තෙරුන් වහන්සේගේ අතෙහි තැබීය. තෙරුන්වහන්සේ එය ගෙන ගෝතම තෙරුන්ට දුන්හ. තෙරුන්වහන්සේද පන්සියයක් භික්ෂූන්ට දී ආලෝප කොටසින් ඔවුන් සමීපයෙන් ලද දෙය පාත්‍රයේ පුරවා යැවීය. පාත්‍රය ගොස් ඔවුන් ඉදිරියෙහි සිටියේ ය. මහාවංශයේ කියන ලදි .

''තිස්ස තෙමේ පැමිණියාවූ ඒ (පාත්‍රය) ගෙන රජු වැළඳවීය. තමාත් අනුභව කොට, වෙළඹටත් කැවීය. රජතෙමේ සන්නාහය සුඹුලුවන් (දරණුවන්) කොට පාත්‍රය (එහි තබා) යැවීය.''

ඉක්බිති රජතුමා මාගමට ගොස් නොබෝ කලකින්ම සැටදහසක් බල සේනාව රැස්කොට, වෙළඹ පිට නැග පංචායුධ ඇතිව යුද්ධයට සැරසි බාල සොහොයුරා සමඟ යුද්ධය පිණිස නික්මුණේය. තිස්ස කුමරාද කණ්ඩුල ඇතා පිට නැග සේනාව පිරිවරා නික්මුණේය. එකල්හි ඒ යුද්ධවලදී බාලයා පැරදී පලා ගියේය. එම අදහස මහාවංශයේ කියන ලදි:

''රජු වෙළඹ පිට ද තිස්ස කණ්ඩුල ඇතු පිටද නැගී යුද පිටියෙහි යුද කරමින් මේ සොහොයුරන් දෙදෙන එක ළඟට පැමිණියාහුය.

රජතෙමේ ඇතා මැදිවනසේ වෙළඹ මඬුල්ලක් (ඇතු වටා වේගයෙන් දිවීමට සැලැස්වීම) කළේය. එසේ වුවත් හිස් තැනක් නොදැක ඇතු පිටින් පන්නවා යාමට අදහස් කළේය.

වෙළෙඹ ඇතු මතින් පන්නවා, පිටෙහි සම සිදෙන සේ සොහොසුරා මත තෝමරය දැමීය.

ඒ යුදයෙහි සටන් කරන කුමාරයාගේ මිනිස්සු දහස් ගණනක් මිය ගියහ. මහා බලය බිඳී ගියේය.

''ආරෝහකයාගේ'' නොසැලකිල්ල නිසා ස්ත්‍රියක් මා උඩින් පැන්නේ'යි කිපුණු ඇතු ඔහු සොලවමින් ගසක් ලඟට ගියේය.

කුමාරයා ගසට නැග්ගේය. ඇතා අයිතිකරු (දුටුගැමුණු) වෙත ගියේය. රජතෙමේ ඔහු පිට නැග, පලා යන්නාවූ කුමාරයා ලුහු බැන්දේය.''

ඉක්බිති කුමරා පලාගොස් විහාරයට පිවිස මහා තෙරුන්ගේ ඇඳ යට වැතිරුණේය. එකෙණෙහි තෙරුන් වහන්සේ ඇඳයට නොපෙනෙන සේ සිවුරක් ඇඳ උඩ එලූවේය. ඉක්බිති කුමරුගේ පා සටහන් අනුව රජතුමා අවුත් පිරිවෙනට පිවිස 'තිස්සයා කොහිද'යි විචාලේය. තෙරුන් වහන්සේද 'මහරජ ඇඳ නැතැ'යි කී සේක. ඉක්බිති රජතුමා ඇඳ යටට පිවිසියේ වනැයි සිතා එයින් නික්ම විහාරය වටා ආරක්ෂා සංවිධානය කොට තෙමේ දෙරටු වෙහි සිටියේය. අනතුරුව භික්ෂූන් වහන්සේ ඔහු ඇඳෙක නිදි කරවා සිවුරකින් ඔතා මළ භික්ෂුවක් බැහැර කරන ආකාරයෙන් පිටතට ගෙන ගියාහුය. රජතුමා ඒ දැක මෙසේ කීය. (එය මහා වංසයෙහි) මෙසේ කියන ලදි:

ගෙන යන්නා වූ ඔහු දැක රජතුමා මෙසේ කිය :

''තිස්සය, ඔබ කුල දේවතාවන්ගේ හිසින් බැහැර තොයව''

''බලහත්කාරයෙන් කුල දෙවියන් අතින් ගැනීමට මට අයිති නැත. ඔබ කුල දෙවියන්ගේ ගුණ කවදත් සිහි කරව.''

මෙසේ ද කියා එයින් මාගමට ගොස් මව කැඳවා ගෙන එන සේ නියෝග කළේය. එකල භික්ෂූන්ගෙන් අනුග්‍රහ ලැබූ තිස්ස කුමරා අප්‍රසිද්ධ වේශය කින් දීඝවාපියට ගොස් ගෝඨගත්ත තිස්ස තෙරුන් වෙත එළඹ මෙසේ කීය.

''ස්වාමීනි මම මගේ සහෝදරයාට අපරාධ කළ අයෙක් වෙමි. එහෙයින් දුන් ඔහු කමාකර වුව මැනව''යි ඉල්ලුවේ ය. තෙරුන්වහන්සේ ඔහුට ඡත්‍රය පාත්‍රය ආදිය දී වතාවත් කරන්නකු ලෙසින් ගෙන, භික්ෂූන් පන්සියයක් සමඟ රජගෙට ගොස් එහි හිණි පෙල මත ඔහු නවතා ඇතුළුගෙයට පිවිසියහ. රජතුමා භික්ෂු සංඝයා සහිත තෙරුන්වහන්සේ දැක වඩා හිඳුවා කැඳ බත් ආදිය පිළිගැන්විය. තෙරුන්වහන්සේ පාත්‍රය වැසූසේක. ඒ වේලෙහි රජතුමා කුමක් නිසා වැඩමකලසේක් යි විමසීය. ''කුමරා රැගෙන ආවෙමු'' යයි තෙරුන් වහන්සේ කීහ. ''දැන් ඒ සොරා කොහිදැ''යි කී කල්හි නැවැත් වූ තැන දැන්වූහ. ඉක්බිති විහාර මහා දේවිය ගොස් පුතා පිළිගත්තා ය. ඉක්බිති රජතුමා භික්ෂු සංඝයා සමඟ කථා බස් කොට තිස්ස කුමාරයා සමඟ අනුභව කොට සංඝයා පිටත් කළේය. ඒ අදහස දැක්වීමට මහාවංස කථා කරුවෝ මෙසේ කීවාහුය:

''රජතෙමේ තෙරුන්වහන්සේට මෙසේ කීය. ''අප, ඔබවහන්සේලාගේ දසයන් බව දුන් දන්නාහුය. මා වෙත සත් හැවිරිදි සාමණේර නමක් එවූයේ නම්, මිනිසුන් විනාශ වීමක් නැතුව කලහයක් නොවන සේ සමථය කළ හැකිව තිබිණ.

රජ තෙමේ ''මේ සංඝයාගේ වරදකි. සංඝයා දඬුවම් කරන්නේ ය. දඬුවම විඳින්නේ ය.''

''ඔබ වහන්සේලා පැමිණි කාර්‍ය්‍යය එසේ වන්නේය. දුන් කැඳ ආදිය පිළිගනු මැනවැ'යි හෙතෙම සංඝයාට දන් පිළිගන්වා, සොහොයුරා කැඳවා සහ මැද හිඳ සොහොයුරු සමඟ එකට ආහාර අනුභව කොට සංඝයා පිටත් කර හැරියේය.''

ඉක්බිති රජතුමා කීප දිනකින්, සොයුරු ඔබ දීඝවාපියට ගොස් හිඳිමින් ගොවිතැන් කරව'යි යවා තෙමේ ද බොහෝ ගොවිතැන් කරවිය. ඉක්බිති පසු කලෙක රජතුමා රන් රුවන් ගව-මහිස-දාසි-දස් කෙත්-වතු ගම් නියම්ගම් තනතුරු ආදිය දීමෙන් මහා සේනාවට සංග්‍රහ කොට දුන් මේ දෙමළ කසල ගොඩ දවා බුදු සසුන බබළවන්නට කාලය යැ'යි සිතා ඇත් අස් ආදීන් ද, නොයෙක් ආයුධ සම් ආදී සියල්ලද සංවිධානය කොට, ජය කුන්තයෙහි ධාතු නිධන් කොට මහත් රාජානුභාවයෙන් මහත් බලසෙන් සමඟ රාජ ශ්‍රීයෙන් බබළමින් තිස්සමහාරාමයට ගොස් භික්ෂු සංඝයා වැඳ තමන් සමඟ යන්නාවූ භික්ෂූන් ඉල්ලාගෙන දෙමළුන් මැඩීම සඳහා පිටත්ව ගියේය. එම අදහස දැක්වීමට කියන ලදී.

''ඉක්බිති දුටුගැමුණු රජ ජනයාට සංග්‍රහ කොට කුන්තායුධයෙහි ධාතුන් වහන්සේ තැන්පත් කොට බලසේනා වාහන යොදා ගෙන තිස්සමහාරාමයට ගොස් සංඝයා වැඳ මෙසේ කීය : ''සසුන බැබළවීම සඳහා මම ගඟින් එතෙර යමි. අපට සත්කාර ගරුකාර කිරීම සඳහා අප හා වැඩමවන්නට භික්ෂූන් ලබාදෙන්න. භික්ෂූන් වහන්සේගේ දැකීම මංගල්‍යයකි. ආරක්ෂාවකි''.

දඬුවම් පිණිස සංඝයා පන්සිය නමක් ලබා දුන්නේය. රජතෙමේ ඒ භික්ෂූන් වැඩමවාගෙන එතැනින් නික්ම,

මලය රටෙහි මෙහි එන මග පිරිසිදු කරවා කඩොල් ඇතු පිට නැඟී යෝධයන් පිරිවරා මහත් බලසෙන් සමඟ යුද පිණිස නික්මීණි.'

එකල්හි මාගම සිට බුත්තල දක්වා මේ අතරතුර මහ බලසෙන් ගමන් කරමින් සිටියේය. ඉක්බිති මහ රජතුමා දස මහ යෝධයන් පිරිවරා මහා යුද්ධ කොට දෙමළුන් නසන්නේ ඡත්‍ර නම් දෙමළා අල්ලාගෙන එහි සිටිමින් මහියංගන සෑය අසුරියනක් කොට කරවිය.

## ඒ මහියංගන ථූපය කවරේද යත් මේ එහි පිළිවෙළ කථාවයි

භාග්‍යවතුන් වහන්සේ වනාහි බුද්ධත්වයෙන් නවවැනි මස මේ දිවයිනට අවුත් ගං ඉවුරෙහි තුන් යොදුනක් දිග යොදුනක් පළල මහා නාග වන උයනේ යක්ෂ සමාගමට වැඩ ඒ යකුන් මත (දැන්) මහියංගන සෑය පිහිටි තැන අහසේ වැඩ සිටිමින් වැසි සුළං අඳුර ආදියෙන් යක්ෂයන් බිය ගන්වා ඔවුන් අභය ඉල්ලූ කල ''තොපට අභය දෙන්නෙමි. තුඹලා එකතුව මට හිඳිමට ස්ථානයක් දෙව''යි කීහ.

''යක්ෂයෝ බුදුන් වහන්සේට මෙසේ කීහ: පින්වත් උත්තමයාණනි, මේ මුළු දිවයිනම ඔබට දෙන්නෙමු. අපට ඔබවහන්සේ අභය දෙන්න.'' මරුන් දිනූ බුදුරජාණන් වහන්සේ ඔවුන්ගේ බිය ද සීතල හා අඳුර ද නසා පිරිනමන ලද ඒ බිම සම්කඩ අතුරා ඒ මත වැඩ සිටි සේක.''

අනතුරුව එහි වැඩ සිටිමින් භාග්‍යවතුන් වහන්සේ තේජෝ කසිණයට සම වැද සම්කඩ හාත්පසින් (ගිනි) දල්වා දියුණු කළ සේක. ඔවුහු සම්කඩින් මඩින ලද්දාහු හාත්පසින් සාගර කෙළවර (මුහුද අයිනට) රැස් වූවාහුය. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ ගිරි නම් දිවයින මෙහි ගෙනවුත් යකුන් එයට පිවිස්වා නියම තත්හි තබා සම්කඩ ඇකුලූහ. එකල දේවතා සමාගමක් විය. ඒ සමාගමයෙහි භාග්‍යවතුන් වහන්සේ ධර්මය දේශනා කළ සේක.

''නොයෙක් කෙළ ගණන් ප්‍රාණීන්ට ධර්මය අවබෝධ විය.
සරණයන්හි හා ශීලයන්හි පිහිටියවුන්ගේ ගණන අසංඛ්‍යය.
සමණොල කන්දෙහි මහ සමන් දෙවිරජ සෝවාන් ඵලයට
පැමිණ පූජාවට සුදුසු වූ බුදුරජාණන් වහන්සේගෙන් පිදීමට
කිසිවක් ඉල්විය.

සියළු ප්‍රාණීන්ට හිත වූ බුදුරජාණන්වහන්සේ හිස අත ගා අත්ලක් පමණ නිල්වන් පිරිසිදු හිසකෙස් ඔහුට දුන් සේක. හෙතෙම එය උතුම් රන් කරඬුවකින් පිළිගෙන ශාස්තෘන් වහන්සේ වැඩහුන් තැන සත්රියන් වටවූ නොයෙක් රුවන් ගොඩක එය තබා ඉඳුනිල්මිණි ථූපයකින් එය වැස්විය. නමස්කාර ද කළේය.''

ලෝකයට පිහිට වූ භාග්‍යවත් බුදුරජාණන්වහන්සේ පිරිනිවි සල්හි දම්සෙනෙවි සැරියුත් හිමියන්ගේ අතවැසි වසභ නම් තෙර කෙනෙක් චිතක යෙන් ගීවා ඇටය ගෙන මහසඟුන් පිරිවරා අවුත් ඒ සෑයෙහිම පිහිටුවා වලාකුළු පාට ගලින් වසා දෙළොස් රියන් උස සෑයක් කොට වැඩියේය. නැවත දෙවන පැතිස් රජුගේ සොහොයුරු චූලාභය නමැත්තේ ඒ පුදුම සහිත සෑය දැක තිස් රියන් උස සෑයක් කරවිය. දුන් දුටුගැමුණු මහරජ මහියංගන යට පැමිණ එහි දෙමළුන් මඩින්නේ අසූරියන් උස කඤ්චුක සෑයක් කරවා පිදීය. මෙසේ (එය) මහා පුදුම සහිත සෑයක් විය.

ඉක්බිති රජතෙමේ මහියංගනයෙන් අඹතොටට ගොස් අඹ නම් දෙමළා සිවු මසකින් අල්වා ගත්තේය. එතැනින් බැස මහ බලැති දෙමළුන් සත් දෙනෙක් එක් දිනෙකින්ම අල්වා ගත්තේය. ඉක්බිති අන්තරා සොබ්භ (අතුරොබ) යෙන් මහා කොණ්ඩ දෙමළාද, දෝණගම්හි ගවර දෙමළාද, හාලකෝලයෙහි ඉස්සරිය දෙමළාද, නැලිහෙබ නාළික දෙමළාද, බාණුකගම බාණුක දෙමළාද, තම්බුන්න නමින් වූ මාමා සහ බෑනා වන දෙමළුන් දෙදෙනාද අල්වා ගත්තේය. එකල රජතෙමේ දෙමළුන් යුද කරන්නේ මෙසේ සත්‍යක්‍රියා කළේය : කියන ලදී.

''සිය සේනාව හඳුනා නොගැනීම නිසා සිය ජනයා මරත්''යයි අසා එහිදී රජතෙමේ සත්‍යක්‍රියා කළේය:

''මාගේ මේ උත්සාහය කිසිකලෙකත් රජසැප පිණිස නො වේ. මගේ මේ වෑයම සම්බුද්ධ සසුනේ චිරස්ථිතිය සඳහාමය. ඒ සත්‍යය නිසා මගේ සේනාවේ ශරීරගත සියළු භාණ්ඩ ගිනි දැල් වර්ණ වේවා'' යනුවෙනි. එකල්හි එය එසේම විය.

මෙසේ රජතෙමේ ගං තෙර කඳවුරු සූවිස්සෙක දෙමළුන් හා මහත් යුද කරනුයේ විශාල දෙමළ සෙනගක් මැරිය. එසේ මැරීමෙන් ඉතිරි වූ පිරිස අවුත් විජිත නගරය පිහිට කොට පිවිසියාහුය. ඉක්බිති රජතෙමේ විජිත නගරය ඇල්ලීම සඳහා යෝදයන් පරීක්ෂා කරන්නේ මගධ නැලියෙන් සොළොස් නැලියක් පමණ සුරා පිරවිය හැකි බඳුනක් (වඩමක්) නික්බ දහසකින් සාදවා අමුණු තුනක කහවුණු ගොඩක් කරවා ඒ ගොඩ මත රා පිරවූ බඳුන තබා දස මහා යෝදයන් කැඳවා ''මේ රා බඳුන බී බඳුනක් සමඟ කහවණු ගනුව''යි කීය. යෝදයෝ නිහඬ වූහ. ඉක්බිති රජ ගෝඨයිම්බර ද ථෙරපුත්තාභය ද දැකා යෝදයාද අමතා රා බීමෙහි යොමු කෙළේය. ඔවුහු ''දේවයන් වහන්ස, මෙය බීම අපට සුදුසු නැතැ''යි ප්‍රතික්ෂේප කළාහුය.

ඉක්බිති රජතෙමේ සුරනිමල කැඳවා එසේම කීය. හෙතෙම 'දේවයිනි මම රා බොන්නෙමි. මේ කරුණ අසා බොහෝ දෙනා රැස් වන්නාහුය. ඔවුන්ට දීමට කහවණු වදිය'යි කීය. රජ තවත් අමුණු සයක් කහවණු එසේම රැස් කළේය. හෙතෙම රා බී, කහවණු බෙද මිනිසුන්ට දුන්නේය. සුරාපානය කළ නිසා ඔහුට 'සුරනිම්මල' යයි නම් කළහ. රජ ඔහු විමසා බලා නන්දිමිත්‍ර පරීක්ෂා කර බැලීම සඳහා ඔහු රාජෝපස්ථානයට එන මඟ කණ්ඩුල ඇතු රා පොවා මුද හැරියේය. එකල ඒ ඇතා කුඤ්චනාද කෙරෙමින් සොඬින් බිමට ගසමින් ඔහු ඉදිරියට දිව්ය. එකල :

''නන්දිමිත්‍ර තමා අල්ලා ගැනීමට ආ ඒ ඇතා දළ දෙකින් ගෙන පෙළා උක්කුටිකයෙන් හිඳුවිය. ඒ නන්දිමිත්ත යම්කිසි හේතුවක් නිසා ඇතු සමඟ යම් තැනක යුද කළේද ඒ නිසා එතැන කළ ගම හත්ථිපෝර (ඇත් පොරගම) යයි කියනු ලැබේ.''

රජ මෙසේ ඔවුන් පරීක්ෂාකොට විජිතපුරය ගැනීම සඳහා පිටත් විය. ඒ අසා දෙමළ යුද පිණිස දිව ආහ. ඉක්බිති ඔවුන් හා මහා යෝදයන්ගේ ඉතා බිහිසුණු මහා යුදයක් විය. එකල වේළුසුමන අසුපිට නැග නැගෙනහිර දෙරටුවෙහි යුද කරන්නේ සිය ගණන් දෙමළුන් මැරිය. එවිට දෙමළ නුවර තුළට පිවිස දෙර වැසූහ. ඉක්බිති රජතෙමේ, තම තමන්ගේ බලසෙන් ගෙන ඒ ඒ දෙරටුවල යුද කරන්න' යයි නියෝග කළේය. එවිට කඩොල් ඇතා ද නන්දිමිත්ත ද සුරනිමල ද දකුණු දෙරටුවෙහි කටයුතු කළාහුය. මහාසේන, ගෝඨයිම්බර හා ථෙරපුත්තාභය යන මේ තිදෙන අනික් දෙරටු තුනෙහි ක්‍රියා (සටන්) කළහ.

ඒ නුවර වනාහි වියලි අගල, මඩ අගල හා දිය අගල යැයි අගල් තුනකින් වට වූයේ වෙයි. අටළොස් රියන් උස්වූ ශක්තිමත් පවුර ඒ ඒ තැන ගැව සුණු සිය ගණන් යෝදයන්ගෙන්ද යකඩ දෙරවල්වලින්ද, යුක්තය. ඒ ඒ තැන සිටියවුන් විසින් නිකුත් කළ ඊතල, අඩයටි, තෝමර, හෙණ්ඩිවාල ආදී නොයෙක් ආයුධවලින් ද, යන්ත්‍ර දුනු, යන්ත්‍රගල් හා හෙණගෙඩි වලින්ද, නිතර වත්කරනු ලබන කැකෑරුණු තෙල්කාරම් වලින්ද අතරක් නැතිවිය. ඉක්බිති කඩොල් ඇතා දූවගොස් දණහිස්වලින් සිට දළවලින් ගල්කැට ගඩොල් බිඳ යකඩ දෙරටුවට පැමිණියේය. එවිට දෙමළ දෙරකඩ සිට නොයෙක් ආයුද දමා ගැසූහ. රත් කළ යකඩ ගුලිද කකාරන ලද තෙල්ද ඇතු පිටට දැමූහ. එකල කඩොල් ඇතා වේදනාවෙන් පෙළුනේ දිය වළකට ගොස් දියෙහි ගිළුනේය. ඒ දැක ගෝඨයිම්බර ''මේ සුරාපානය යි සිතුවාද ? එම්බල, මේ රා බීම නො වෙයි. මේ යකඩ දෙර කැඩීමයි. යව, හැකිනම් යකඩ දෙර කඩා බිඳ දමව''යි කිය. ඇත් රජ ඒ අසා හටගත් අභිමානයෙන් මිනිස් කණ්අඩි පුපුරවන්නාක් මෙන් කැගසමින් කුඤ්චනාද කර දිය දෙබෑ කොට උඩට පැමිණ ගොඩ විය. ඉක්බිති රජතෙමේ ඇතුපිට නැග කුඹ අතින් පිරිමැද ''මුළු ලක් පොළවෙහි රජය ඔබට දෙමි දරුව'' යයි කියා ඔහු රාජ්‍යයෙන් සතුටු කරවා උතුම් ආහාර කවා තුවාලය සළුවෙන් වෙලා හොඳින් සැට්ටය දමා සම මත මීහරක් සම් සත්පටක් බැඳ ඒ මත තෙල් සම් බැඳ පිටත් කෙළේය. හෙතෙම හෙණ හඩ මෙන් ගුගුරමින් ගොස් දළ වලින් දෙර ලෑලි විද්දේය. පයින් එළිපත කඩා බිඳ දැමීය. දෙර පොලු සමඟ යකඩ දෙර මහ හඩින් බිම වැටිණ. එහෙයින් කියන ලදී .

''ඒ ඇතා උවදුරු ඉවසමින් හෙණ හඩ මෙන් ගුගුරමින් ගොස් දළ වලින් දෙර පියන් සිදුරු කළේය. පයින් ගසා එළිපත විනාශ කළේය. දෙර බා සහිත ඒ යදෙර හඩ නගමින් බිම වැටිණ.''

එකල්හි දෙර කොටුවෙහි වූ (ද්‍රව්‍ය) දූව සියල්ල ඇතු පිට වැටෙනු දැක නන්දිමිත්ත දෑතින් ගසා පෙරළා දැමීය. එවිට කණ්ඩුල සිය දළවලට රිදවීමෙන් ඇති කරගෙන තිබූ වෛරය අත්හළේය. එකල ඇතු සිය පිටට නැගෙන පිණිස නන්දිමිත්ත ගේ මුහුණ බැලීය. ඒ දුටු නන්දිමිත්ත ''මම කවද හෝ අනුන් කළ මඟකින් නොගිය විරුවෙමිදැ''යි එය නොඉවසන්නේ

අටළොස් රියන් උස පවුර අතින් ගසා අට ඉස්බක් පමණ පෙදෙස හෙළා සුරනිමල දෙස බැලිය. ඔහුද මම ඔබ කළ වගින් නොයන්නෙමි'යි අටළොස් රියන් පවුර උඩින් පැන දෙමළුන් මත හෙණයක් මෙන් නුවර මැදට වැටුණේය. නැවත ගෝඨයිම්බරද ඵෙරපුත්තාභයද එක් එක් දොරටු බිඳ ඇතුල් වූහ. එහෙයින් කියන ලදි :

''ඇතා රියසකක්ද, මිත්ත රිය කුඩුවක්ද, ගෝඨ පොල් ගයක්ද, නිම්මල යභපත් කඩුවක්ද, මහාසේන තල්ගසක්ද, ඵෙරපුත්ත මහත් ගදා යුධයක්ද ගෙන වෙන වෙනම පාරට බැස එහි දෙමළුන් සුණු කළහ.''

මෙසේ විජිත නගරය සිවු මසකින් බිඳ දෙමළුන් මරා එතැනින් ගිරිලෝක නම් තැනට ගොස් ගිරිය දෙමළා අල්වාගති. එතැනින් මහේල නුවරට ගොස් මහේල රජු යටත් කර ගති. එතැනින් රජතෙමේ අනුරපුර යන්නේ පිරිස් සමඟ කාස නම් පර්වතයෙහි කඳවුරු බඳවා එහි පොසොන් නම් නුවර වැවක් කරවා පොසොන් මස දිය කෙළි කෙළිය. එළාර රජුද දුටුගැමුණු ආ බව අසා ඇමතියන් හා සාකච්ඡා කෙළේය. ඒ බව දක්වීමට :

''ඒ දුටුගැමුණු රජු යුද පිණිස පැමිණි බව අසා එළාර රජතෙමේ ඇමතියන් කැඳවා මෙසේ කිය:

''ඒ රජ තමාත් යෝදයෙකි. බොහෝ යෝදයෝත් ඔහුට සිටිත්. ඇමතියනි, මේ ගැන කුමක් සිතව් ද, කුමක් කළයුතුද ?

දීඝජන්තු ආදීකොට එළාර රජුගේ ඒ යෝදයෝ'' හෙට යුද කරන්නෙමු'' යි සනිටුහන් කළහ.''

ඉක්බිති ඒ එළාර රජ දෙවන දවස් යුදයට සැරසී මහා පබ්බත ඇතු පිට නැඟ මහත් බල සමූහයා පිරිවරා නික්මිණි. ගාමිණී රජුද මව හා කථා කොට ඇගේ අදහසින් දෙතිසක් බලකොටු කරවා සේසත් දරූ රජු හා සමාන රූප ඒ ඒ බලකොටුවේ තැබීය. ඇතුළු කොටුවෙහි තමා සිටියේය. ඉක්බිති රජුන් දෙදෙනාගේ මහා සටන පවතිද්දී එළාර රජුගේ දීඝජන්තු නම් යෝධයා කඩු පලිහ ගෙන බිමින් අටළොස් රියනක් අහසට පැන නැඟී, යුද කරන්නේ බලකොටුව ලඟට පැමිණ 'රජු මෙහි ය'යි සිතමින් ගොස් රාජප්‍රතිරූපය සිඳ පළමු බලකොටුව සින්දේය. මෙසේ දෙවැනි වූදයි එක්තිස් වැනි බල කොටුවද බිඳ ගැමුණු සිටි බලකොටුවට ආවේය. එකල සුරනිම්මල තෙමේ රජු වෙතට යන දීඝජන්තු දැක ''මම බොල සුරනිම්මලය. කොහි යන්නෙහිද, පිරිමි කමක් ඇත්නම් මෙහි එව''යි බැන්නේය. ඒ අසා දීඝජන්තු 'පළමුව මොහු මරා යන්නෙමි'යි කිපී අහසට පැන නැග කඩුව අමෝරාගෙන සුරනිම්මල ඉදිරියට බැස්සේය. සුරනිම්මල තමා මතට බස්නා ඔහු දැක සිය පලිහ දික් කෙළේය. අනෙක පලිහත් සමග ඌ දෙපලු කරන්නෙමියි සිතා පලිහට ගැසීය. අනෙකා (සුරනිම්මල) පලිහ හෙළීය. දීඝජන්තු පලිහ සිඳිනු

නොහැක්කේ බිඳී වැටිණ. සුරනිම්මල ඔහුට යැතින් ගැසීය. ඵුස්සදේව එකෙණෙහි සක්ගෙඩිය පිඹබේය. (එය) මහණ හඬක් මෙන් විය. මිනිස්සු මත්වූවන් මෙන් වූහ. එවිට මහත් දෙමළ සෙනඟ බිඳී ගියේය. එළාරත් ඇත් පිට හිඳගෙනම පැන ගියේය. එකල දුටුගැමුණු රජුගේ සේනාව දෙමළ සෙන් මරමින් එහි ගොඩ කළාහුය. ඒ එසේමැයි.

''එහි වැව් ජලය මළවුන්ගේ ලෙයින් කැළඹුණේ විය. එහෙයින් කලත්තැව නමින් ප්‍රකට විය. දුටුගැමුණු රජ 'මා හැර අනෙකෙක් එළාර නොමරත්වා'යි එහි බෙර හසුරුවා තෙමේ සන්නද්ධව කඩොල් ඇතු පිට නැග එළාර ලුහු බඳින්නේ දකුණු දෙරටුවට පැමිණියේය. දකුණු දෙරටුව අබියස රජවරු දෙදෙනා යුද කළහ. එළාර තෝමරය හෙළිය. ගාමිණී එය වැළැක්විය. සිය ඇතු ලවා ඒ ඇතු දත් (දළ) වලින් විදවිය. එළාර වෙත තෝමරය දමා ගැසීය. ඇතු සමඟ ඒ (එළාර) වැටුණේය. යුද දිනූ, මහ බලසෙන් සහිත, ගැමුණු රජතෙමේ ඉක්බිති ලක්දිව එක්සත් කොට නගරයට පිවිසියේය.''

ඉක්බිති රජ නුවර බෙර හසුරුවා අවට යොදුනක් පමණ තැන මිනිසුන් රැස් කරවා එළාර රජුගේ සිරුරට මහත් සත්කාර කරවා කුළු ගෙයකින් ගෙන ගොස් දවා එහි සෑයක් කොට ගෞරව කළේය.

අදත් රජවරු ඒ පියසට පැමිණ බෙර නොගසවති. මෙසේ දුටුගැමුණු අභය මහරජ දෙතිස් දමිළ රජවරුන් අල්වාගෙන ලක්දිව එක්සත් කළේය.

(ඉක්බිත්තෙන්) දුටුගැමුණු රජ විජිත නගරය අල්වා ගත් දින දීඝජන්තු යෝදයා එළාර වෙත පැමිණ, සිය බෑණා යෝදයකු බව කියා මෙරටට පැමිණීම සඳහා ඔහු වෙත හසනක් යැවිය. භල්ලූක ද ඒ හසන අසා එළාර දැවූ දින සිට සත්වැනි දිනයෙහි මිනිසුන් සැට දහසක් සමඟ ගොඩ බැස, රජු මළ බව අසාත් ලජ්ජාවෙන් මහතොටින් නික්ම කෝලම්බහාලක ගම කඳවුරු බැඳ ගත්තේය. දුටුගැමුණු රජු ද ඔහුගේ පැමිණීම ගැන අසා සන්නද්ධ ව කඩොල් ඇතු පිට නැග යෝදයන් විසින් පිරිවරන ලදුව මහත් බලසෙන් හා ඉදිරියට ගියේය. උම්මාදඵුස්සදේවත් පංචායුදයෙන් සැරසී රජු පිටුපස අසුනෙහි හිඳ ගත්තේය. භල්ලූකයා ද පංචායුදයෙන් සැරසී ඇතු පිට නැග රජු ඉදිරියට ආවේය. එකල කණ්ඩුල ඔහුගේ (භල්ලූකගේ) වේගය අඩු කිරීම සඳහා හෙමින් පසු බැස්සේය. සේනාවද ඇතා මෙන් පසු බැස්සේය. ඒ දුන රජ ඵුස්සදේවයන් 'මේ ඇතා පෙර අටවිසි යුදවලදී පසු නොබැස දුන් කුමක් නිසා බසුබසීදැ'යි විමසීය. හෙතෙම කියන්නේ: ''දේවයිනි, ජය අපටය. මේ ඇතා ජයබිමක් බලමින් පසු බසී. ජයබිමට පැමිණ නවතී''යයි කීය. ඇතා ද පසුබැස මහා විහාර සීමාව කෙළවර නගර දේවතාවාගේ දෙවොල පසෙක සිටියේය.

ඉක්බිති හල්ලුක තෙමේ රජු ඉදිරියට අවුත් රජුට සරදම් කෙළේය. රජු ද කඩු තලයෙන් මුව වසා ඔහුට බැණ වැදුණේය. ඉක්බිති හේ ''රජුගේ කටට විදින්නෙමැ''යි ඊයක් යැවිය. එය කඩුතලයෙහි වැදී බිම වැටුණේය. හල්ලුකයා ''කටට විද්දේවෙමි''යි යන හැඟීමෙන් මහත්සේ අත්පොලසන් දුන්නේය. එකෙණෙහි ඵුස්සදේව ඔහුගේ කටට විද බිම හෙළීය. එහෙයින් කියන ලදී :

''රජු පසුපස හුන් මහ බලැති ඒ ඵුස්සදේව තෙමේ රජුගේ කුණ්ඩල ආභරණයෙහි වැදෙන ලෙයින් ඔහුගේ කටට ඊයක් විද්දේය. ඒ ලිහිල් අත් ඇති තැනැත්තේ රජු දෙසට පය හරවා වැටෙන ඔහු වෙතට වෙනත් ඊයක් යවා ඔහුගේ දණහිසට විද, රජු වෙතට හිස හරවා බිම හෙලවිය. එහි හල්ලුක වැටුණු කල්හි ජයගොස පැතිර ගියේය.''

ජය ලැබූ රජු නුවරට ආ කල්හි, ඵුස්සදේව තෙමේ රජුගේ කුණ්ඩලාභරණ ගටා (ගැවෙන සේ) ඊය යැවූ වරදට දඬුවම් පිණිස කණ්වැල සිඳ ලේ පතක් ගෙන රජුට දැක්විය. ''මේ කිමෙක්දැ''යි රජු ඇසූ කල්හි, ''දේවයන් වහන්ස, දඬුවමකි''යි කීය. ''ඔබගේ වරද කවරේදැ''යි ඇසීය. හෙතෙම ''දේවයිනි, මම ඔබගේ කොඬොල ගටා විද්දෙමි, ඒ මගේ වරදය''යි කීය.

රජතෙමේ, සොහොයුර, නිවරද වූවක් වරදකැයි කියන්නේ කුමක් නිසාදැයි කියා තමන් කළගුණ දන්නකු බැවින් ඊ දෙක ගෙන්වා උල පැත්තෙන් කෙළින් සිටුවා ඒ පමණින් කහවණු ගොඩ කොට ඵුස්සදේවයන්ට දිනි.

මෙසේ ලක් රජය එක් රජයක් කොට යෝදයන්ට සුදුසු පරිදි තනතුරු දුන්නේය. ඉක්බිති දිනක් රජතෙමේ සිය පහයෙහි යහනට ගියේ මහත් සම්පත් දැක බලා, අක්ෂෞහිණියක් සෙනඟ මැරීම සිහිපත් කෙළේය එය සිහිපත් වන රජුට ''මගේ සැපට අනතුරක් වේද?'' යන සැකයෙන් මහත් දොම්නසක් උපන්නේය. එකල පුවඟුදිව් වැසි රහත් තෙර කෙනෙක් රජුගේ සිත්විල්ල දැන ''ඔහු සනසව'' යයි රහත්හු අටදෙනෙක් යැවූහ. උන් වහන්සේලා වැඩම කොට ඒ බව රජුට දන්වා යවා පහයට නැංගාහුය. රජතෙමේ තෙරුන් වැඳ, අසුන්හි වඩා හිඳුවා වැඩම කළ කරුණ විමසීය. උන්වහන්සේලා වැඩි කරුණ කීහ. ඉක්බිති රජතෙමේ :

''ස්වාමීනි, මා විසින් අක්ෂෞහිණියක් මහා සේනාව විනාශ කරන ලදි. කෙසේ නම් මට අස්වැසිල්ලක් ඇති වේද ?''

''නරපතිය, මෙහිලා ඔබ විසින් මිනිසුන් එක හමාරක් නසන ලදි. ඒ ක්‍රියාවෙන් සග මගට අනතුරක් නැත. එකෙක් සරණයන්හි පිහිටියෙකි, අනෙකා පන්සිල්හි පිහිටියෙකි. නසන ලද (ඉතිරි) සේනාව මිසදිටු, දුසිල්වත්, තිරිසනුන් හා සම වූවෝය. ඔබ නොයෙක් ආකාරයෙන් බුදුසසුන බබුළුවන්නෙහිය. එහෙයින් නරපතිය, ඔබ සිතෙහි කැළඹිලි ගති දුරුකරගන්න.''

මෙසේ ඒ තෙරහු රජුට කරුණු වටහා දී ගියාහුය. රජතෙමේ උන්වහන්සේලා ගේ වදන් අසා සැනසීමක් ලබා උන්වහන්සේලා පිටත්කර හැරියේය.

මෙසේ රජතෙමේ සේසත් නංවා එකම රජු වශයෙන් රාජ්‍යය කරන්නේ සංඝයාට නොදී අනුභව කළ මිරිස් කරලක් (ගැන සිතා) එයට දඬුවම් පිණිස කුන්තය සහිත ධාතූන් වහන්සේ තැන්පත් කොට, අනගි වස්තූන් හැර දහනව කෙළක් ධනය වියදම් කොට මිරිසවැටි සෑය කරවා විහාරය ද කරවා රැස්වූ අනූදහසක් භික්ෂූන්ට සෑය සහිත වෙහෙර පිළිගැන්වීය. අනතුරුව නවමහල් ලෝහ ප්‍රාසාදය අනගි වස්තු සතරක් හැර තිස් කෙළක් ධනය වැය කොට කරවා එපමණම භික්ෂූන්ට පවරා පූජා කෙළේය. නැවත, බුදුන් වහන්සේගේ ධාතූන් ද්‍රෝණයක් පමණ තැන්පත් කොට, ලංකාවට ආභරණයක් බඳු වූ එක්සිය විසිරියන් උස රුවන්මැලි නම් මහල් මහ සෑය පොළෝ කම්පාවීම ආදී සිය ගණන් අසිරි සහිතව තුන්සිය සැටක් පමණ විහාරයන් ගෙන් යුක්තව කරවන ලදි. එහි අනගි වස්තු සූවිස්ස හැර කෝටි ලක්ෂයක් වැය විය. සූවිසි වසරක් රජය කරවන්නේ ලක්දිව එකුන් සියයක් විහාර කරවීය. මහා වෙසක් පූජාවන් සූවිස්සක්ම කරවීය. මුළු ලක්දිව තලයෙහි භික්ෂු සංඝයාට තෙවරක් තුන් සිවුරු දෙවීය. ලක් රජය සත්දින සත්දින බැගින් පස්වරක් සසුනට දුන්නේය. (පුද කෙළේය) ගිතෙලින් තෙමා, පිරිසිදු වැටිවලින් යුත් පහන් සිය ගණනක් දහස් ගණනක් ලක්ෂ ගණනක් දෙළොස් තැනෙක දැල්වීය. අටළොස් තැනෙක ගිලනුන්ට වෙදුන් විසින් නියම කරන ලද අයුරින් බෙහෙත් ද ආහාර ද නිරන්තරයෙන් දෙවීය. සූසාළිස් තැනෙක මනාව සකස් කළ මී කිරිබත් ද, එපමණම තැනෙක්හි තෙල් උපුල්වා පිසූ බත් ද දුන්නේය. එපමණම තැනෙක ගිතෙලින් පිසූ දූල් කැවුන් බත් හා සමග නිතර දෙවීය. මසක් පාසා පොහෝ දින අටෙහි ම ලක්දිව සියලු විහාරස්ථානවලට පහන් සඳහා තෙල් දෙවීය.

'ආමිස දනයට වඩා ධර්මදනය මහත්ය'යි අසා ලොහො පායය යට (මාලයෙහි) බණ අස්නෙහි හිඳ මංගල සූත්‍රය කියවන්ට පටන් ගත් නමුත් සංඝ ගෞරවයෙන් උසුරුවන්ට නො හැක්කේ එතැන් සිට ධර්මදේශකයන්ට සත්කාර කොට සැම වෙහෙරකම බණ කථා කියැවීය. එක් එක් ධර්ම කථිකයාට නැළි පමණින් ගිතෙල් පැණි සකුරු ආදිය ද සතරඟුල් මිටක් පමණ වැල්මී ද සළු දෙකක්ද මාසයේ පොහෝ දින අටෙහි දෙවීය. හෙතෙම මේ ආදිවූ නො යෙක් පින්කම් කොට ආයුෂ කෙළවර මරණ මඤ්චකයෙහි වැද හොත්තේය.

ඉක්බිති 'ලෙඩ බලන්නෙමු'යි ඒ ඒ තැනින් මහා භික්සඟන රැස්ව සමූහයම එක්ව (ධර්මය) සජ්ඣායනා කළහ. එකල්හි දේවතාවෝ සදෙව්ලොවින් රිය සයක් ගෙනවුත් අහස්හි සිට ''මහරජ, අපේ දෙව්ලොව සිත්කලුය, අපේ දෙව්ලොව සිත්කලුය''යි කියමින් තම තමන්ගේ දෙව්ලොවට පැමිණීම පිණිස ඉල්වූහ. රජ ඔවුන්ගේ අදහස් අසා ''මා බණ අසන තෙක් ඉවසුව''යි

අතින් සලකුණු කිරීමෙන් වැළැක්වීය. සංඝයා සමූහ සජ්ඣායනය නවත්වන්නේ යයි සිතා යජ්ඣායනය නැවැත්විය. ''ස්වාමීනි කුමක් නිසා, සජ්ඣායනය නැවැත්වීද''යි රජු විමසූ කල්හි 'මහරජ, ඔබ අත් සලකුණින් වැලැක්වූ හෙයිනැ''යි කීය. ''ස්වාමීනි, ඔබවහන්සේලාට සලකුණු නො දුනිමි. දෙවියෝ සදෙව්ලොවින් රිය සයක් ගෙනවුත් තම තම දෙව්ලොවට යාමට කැඳවති. එහෙයින් ඔවුන්ට ''මා බණ අසන තෙක් ඉවසව'යි සන් කෙළෙමි'යි කීය. එය අසා ඇතැමෙක්'' මෙ රජතෙමේ මරණ බියෙන් බියපත්ව විලාප දෙඩයි. මරණයට බිය නොවන සතෙක් නම් නැතැ''යි සිතුවාහුය. එවිට අභය තෙරුන් වහන්සේ ''මහරජ සදෙව්ලොවින් රිය සයක් ආ බව කෙසේ නම් විශ්වාස කළ හැක්කේද''යි විචාළේය. ඒ අසා රජතෙමේ අහස්හි මල්දම් සයක් දමමවිය. ඒවා ගොස් වෙන් වෙන්වම රිය හිස්වල එල්බුණාහුය. මහජනයා එල්බෙන මල්දම් දුක සැක නැත්තේ විය.

එකල්හි රජතෙමේ ''කිනම් දෙව්ලොව සිත්කලුදැ''යි තෙරුන් විචාළේය. ''මහරජ, තුසිත භවනය සිත්කලුය. බුදු බව සඳහා කල් බලමින් මෙතේ බෝසත්හු එහිම වසන්නාහුය''යි තෙරුන් වහන්සේ කීවාහුය. ඒ අසා රජතෙමේ එහි ඇල්ම දක්වා මහසෑය බලන්නේ වැතිර හුන්නේම චුතව නිද පිබිදියක්හු මෙන් තුසිත භවනයෙන් ගෙනා රියෙහි ඉපිද තමා කරන ලද පිනෙහි විපාකය මහජනයා ට ප්‍රකට කරනු පිණිස රියෙහි සිට දිව්‍යාභරණයන් ගෙන් සැරසුනේ මහජනයා බලා සිටිද්දීම තෙවරක් මහාසෑය පැදකුණු කොට සංඝයා වැඳ තුසිත භවනයට ගියේය. ඒ මේ දුටුගැමුණු රජතෙමේ වනාහි මෙතේ බුදුන් වහන්සේගේ අගසවු වන්නේය. බාල කුමාරයා දෙවැනි සවු වන්නේය. කථාව දික්වන හෙයින්, මෙහි යමක් කිවයුතු වන්නේ නම් ඒ සියල්ල මහාවංසයෙහි දක්වෙන්නේය. මෙහිලා අප විසින් පොත සැහැල්ලු කිරීම සඳහා ඒ සියල්ල ඉවත් කරන ලදී.

''සත්පුරුෂයෝ සසර ගමන් වශයෙන් එළඹ සිටි දේවත්වයද හැරදමා, නන්වැදැරුම් දුක් නිතර වළඳා, දුඩි වෙර දරා, සැම කල්හි සාදර සිතින් බුද්ධ ශාසනයේ චිරස්ථායි බව කැමැත්තාහු මෙසේ පමණ කළ නොහැකි උසස් කුසල් කරන්නාහු සග සුව ලබා කර ගත්තාහුය.''

# 6. පරිච්ඡේදය

## තෙරුවන් ගුණ පාඨ

ව්‍යවහාර ලෝකයේ ඇති, භෞතික වශයෙන් අගනා දේවල් ''රුවන්'' (රත්න) නමින් හඳුන්වමු. ආගමික වශයෙන්ද එකී ව්‍යවහාරය පූජාර්හ වස්තූන් පිළිබඳව යොදා ගනු ලැබේ. බෞද්ධයාගේ අති උත්තම වස්තු තුනෙකි. එහි ප්‍රධාන තැන ගන්නේ බුදුරජාණන් වහන්සේය. උන් වහන්සේ අවබෝධ කරගත් ධර්මයත්, අනුගාමික ආර්‍ය්‍ය මහා සංඝයාත් දෙවැනි හා තෙවැනි වස්තු ලෙසින් සැලකේ. බුද්ධ, ධම්ම, සංඝ යන උත්තම වස්තූන් 'තෙරුවන්' (රත්නත්‍රය) නමින් හැඳින්වීම පෙර පටන් පවතින සම්ප්‍රදායකි. බෞද්ධයා සියලු කටයුතු ආරම්භයේ දී තෙරුවන් තමාට ඇති එකම සරණ වශයෙන්ද පිහිට වශයෙන් ද සිතයි, කියයි, ඒ අනුව ක්‍රියා කරයි. එහෙයින්ම ඔහු බෞද්ධයෙකි. උපාසකයෙකි. තෙරුවන් සරණ යන උපාසකයා විවේකය ලද සෑම විටෙකම තෙරුවන්හි අනේක විධ ගුණ සිහි කරයි. ඒ සඳහා සාම්ප්‍රදායික වශයෙන් උපයෝගී කර ගන්නා පාලි පාඨ තුනක් ඇත.

### (අ) බුදුගුණ මෙණෙහි කිරීම

පාඨය: ඉතිපි සො භගවා අරහං සම්මා සම්බුද්ධෝ විජ්ජාචරණ සම්පන්නෝ සුගතෝ ලොකවිදූ අනුත්තරෝ පුරිසදම්මසාරථී සත්ථා දේව මනුස්සානං, බුද්ධෝ භගවාති.

මේ පාඨයෙන් රහත් ගුණය ඇතුළු කොට බුදුගුණ නවයක් කියැවෙන්නේ එකම අර්ථයක් සඳහා නිසා එක ගුණයක් වශයෙන් ද ගැනේ.

(1) අරහං : .........ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ කෙලෙස් මලින් දුරුව, පිරිසිදු වූ හෙයින්ද, පූජාවන්ට සුදුසු වූ හෙයින්ද, 'රහත්' නම් වෙති.

(2) සම්මා සම්බුද්ධෝ : .........ධර්මය හොඳින් දැනගත් හෙයින්, තමන්ම මනාව අවබෝධ කරගත් හෙයින් සම්මා සම්බුද්ධ නම් වෙති.

(3) විජ්ජාචරණ සම්පන්නෝ:.........විද්‍යාවෙන් (ඥාණයෙන්) ද, ශීල හා සමාධි ගුණයන්ගෙන්ද යුක්ත හෙයින් විජ්ජාචරණ සම්පන්න වෙති.

(4) සුගතො : .........උතුම් නිවන් මගෙහි ගමන් කළ, යහපත් ගමන් ඇති, යහපත් වචන කථා කරන ගුණය ඇති හෙයින් සුගත නම් වෙති.

(5) ලෝකවිදූ : .........ලෝ තතු මැනවින් දත්, ඇති සැටියෙන් අවබෝධ කරගත් හෙයින් ලෝකවිදූ නම් වෙති.

(6) අනුත්තරෝ :.........ශීල සමාධි ප්‍රඥ ආදි කිසිදු ගුණයකින් තමන් වහන්සේ ඉක්මවා ගිය අයෙකු නැති හෙයින් අනුත්තර නම් වෙති.

(7) පුරිසදම්ම සාරථි : .........නොදැමුණු පුද්ගලයන් දමනයෙහි, හික්මවීමෙහි දක්ෂතම ආචාර්‍යවරයන් හෙයින් පුරිසදම්මසාරථී නම් වෙති.

(8) සත්ථා දේවමනුස්සානං: .........දෙව් මිනිසුන්ට අනුශාසනා කිරීමෙහි සුදුසුකම් ඇති, එසේ අනුශාසනා කරන ආචාර්‍යවරයන් හෙයින්, 'සත්ථා දේවමනුස්සානං' නම් වෙති.

(9) භගවා : .........භාග්‍යවත් - පින් ඇති - හෙයින් භගවත් නම් වෙති.

## (ආ) දහම් ගුණ මෙනෙහි කිරීම

පාඨය : ස්වාක්ඛාතෝ භගවතා ධම්මෝ, සන්දිට්ඨිකෝ, අකාලිකෝ, ඒහි - පස්සිකෝ, ඔපනයිකෝ, පච්චත්තං වේදිතබ්බෝ විඤ්ඤූ හි'ති.

(1) .........ඒ ධර්මය වනාහි භාග්‍යවතුන් වහන්සේ විසින් මනාකොට දෙසන ලද්දකි.

(2) .........තමන් විසින්ම දැක අවබෝධ කටයුතුය.

(3) .........කල් නොයවාම විපාක දෙන්නකි.

(4) .........''එන්න, ඔබ ම අත්හද ප්‍රතිඵල බලන්න''යි කිව හැකි දෙයකි.

(5) .........සිත්හි තබා දරා ගතයුතුය. (ඒ දහම් මග යන්නා නිවණට පැමිණ වීමෙහි සමත්ය.)

(6) .........නුවණැත්තන් විසින් තම තම නැණ පමණින් දත යුත්තකි.

නවවිධ ලෝකෝත්තර ධර්මයෙහි ද, පර්‍යාය වශයෙන් සියලු පර්යාප්ති ධර්මයෙහි ද ගුණ මේ සය වැදැරුම් ලක්ෂණ තුළින් අවබෝධ කර ගැනීම මෙයින් අපේක්ෂිතයි.

## (ඇ) සඟ ගුණ මෙනෙහි කිරීම

පාඨය : සුපටිපන්නෝ භගවතො සාවකසංඝෝ, උජුපටිපන්නෝ භගවතෝ සාවකසංඝෝ, ඤායපටිපන්නෝ භගවතෝ සාවකසංඝෝ, සාමීචිපටිපන්නෝ භගවතෝ සාවකසංඝෝ යදිදං චත්තා රි පුරිසයුගානි අට්ඨපුරිසපුග්ගලා එස භගවතෝ සාවකසංඝෝ, ආහුණෙය්‍යෝ පාහුනෙය්‍යෝ, දක්ඛිණෙය්‍යෝ, අඤ්ජලිකරණීයෝ, අනුත්තරං පුඤ්ඤක්ඛෙත්තං ලෝකස්සා'ති.

(1) භාග්‍යවතුන් වහන්සේගේ ආර්‍ය්‍ය මහා සංඝයා මනා කොට පිළිවෙත් මගට බටුයේය.

(2) .........අවංක වූ ඍජු පිළිවෙත් මගට, අරි අටග මගට පිළිපන්නේය.

(3) .........නිවන් මගට පිළිපන්නේය.

(4) .........නිවැරදි, සුදුසුතම දිවි මගට පිළිපන්නේය.

(5) .........යුගල වශයෙන් සතරක් වූ, පුද්ගලයන් වශයෙන් අටක් වූ ඒ භාග්‍යවතුන් වහන්සේගේ ආර්‍ය්‍ය සංඝයා දුර සිට හෝ සිවුපසය ගෙනැවිත් පිදීමට සුදුසුය.

(6) .........ආගන්තුකයන්ට පිරිනැමීමට සුදුසු යෝග්‍ය අහර පවා (පාහුන) පිළිගැන්වීමට යෝග්‍යය.

(7) .........පින් සඳහා දෙනදේ (දක්ෂිණ) පිළිගැනීමට සුදුසුය.

(8) .........දොහොත් මුදුන්හි තබා කරන ගෞරව සත්කාර ලැබීමට සුදුසුය.

(9) .........ලොවට උතුම පින් කෙතය.

— නිමි —

